# පිදුම

සැදැහැයෙන්

සසුන්වන්

කුලපුතුනට



කොස්වත්තේ අරියවිමල හිමි



පෙරවදන:

"අත්තනා චෝදයත්තානං -
පටිමාසෙ අත්තමත්තනා,
සො අත්තගුත්තො සතිමා -
සුඛං භික්ඛු විහාහිසි."
- ධම්මපද භික්ඛුවග්ග -

"තමා මැ තමාට චෝදනා කරන්න. තමා මැ තමා විමසන්න. තමා මැ රැකගන්නා වූ මනා සිහි ඇති භික්ෂුව සුව සේ වසන්නේ ය."

අප ගතකරමින් සිටින්නේ ලොව දහම වඩාත් අවශ්‍ය කාල පරිච්ඡේදයකි. අද සමාජයට දහම් නිසි ලෙස ලබා දෙන්නට නම් දහම ප්‍රායෝගික වශයෙන් අත් දැකීමට සාධනය කළ යුතු ම ය. ඒ සඳහා අදාළ බුදුවදන් රැගත් සූත්‍ර දේශනා පාඨ කරගෙන භික්ෂුවගේ 'විසඳුමය' දියුණුවේ ප්‍රායෝගිකත්වය දෙසා අවශ්‍ය අවකාශය හඳුනා ගැනීමක් පිණිසට ය.

සසුනේ ජීවමාන සලකුණ වන භික්ෂුත්වය ආධ්‍යාත්මික වශයෙන් පිරිහුනු

තවද ප්‍රත්සාරලීම සඳහා අප තිලොව්ගුරු බුදුපියාණන් වහන්සේ විසින් වදාරන ලද ධර්මෝපදේශ නොවේ ය. විශේෂය. එම ප්‍රකාශය සලකා බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළහ. "මහණෙනි, මම පටන්ගැන්මේ දී ම අර්හත්වයෙහි පිහිටීම වියයුතුයයි නො කියමි. එහෙත් අනුපූර්ව ශික්ෂාවෙන් අනුපූර්ව ක්‍රියාවෙන් අනුපූර්ව ප්‍රතිපදාවෙන් අර්හත්වයෙහි පිහිටීම වෙයි" (ම: නි: 2, කීටාගිරි සූත්‍රය) සද්ධානුසාරී, ධම්මානුසාරී, සද්ධා විමුත්ත, දිට්ඨිප්පත්ත, කායසක්ඛි, පඤ්ඤා විමුත්ත, උභතෝභාග විමුත්ත යනුවෙන් වූ අනුපූර්ව ක්‍රම පෙළගැස්මක් ඇත. අර්හත්වයෙන් මෙපිට සියලු පුද්ගලයන්ට බුදුරජාණන් වහන්සේ වදාළේ පිළිවෙතෙහි අප්‍රමාදීව කටයුතු කරන ලෙස ය. (අප්පමාදෙන කරණීයන්ති වදාමි) ——.

සසුනේ ආරම්භක පියවර ශ්‍රද්ධාවයි. ශ්‍රද්ධාව නොමැති නම් එළඹීමක් නැත. පර්යුපාසනය ද නැත. සවන් යොමු කිරීමක් ද නැත. ධර්මශ්‍රවණය ද නැත. දහම් දැරීම ද නැත. අර්ථ විමසීම ද



නැත. වැටහීම ද නැත. කුසලච්ඡන්දය ද නැත. උත්සාහය ද නැත. තුලනය ද නැත. වියත් වීර්යය ද නැත. එහි ප්‍රතිපත්තියෙන් වැරදි පිළිපන්නෝ වෙති. (විප්පටිපන්නා) මිථ්‍යා පිළිපන්නෝ වෙති. (මිච්ඡා පටිපන්නා) සත්‍යයෙන් අත්තෝ සසුනෙන් ඈත් වෙති. (අපක්කන්තා ඉමස්මා ධම්මවිනයා) ——.

තව ද එසේ වුවහොත් පුද්ගලයා දහම් රක්ෂාවරණය නැති වී යයි. මාරයාගේ විෂයයට නතු වී යයි. දහමින් පිරිසුදුවන රක්ෂණාවරණය සතර සතිපට්ඨානයයි. එහෙයින් බුදුරජාණන් වහන්සේ සතර සතිපට්ඨානය හඳුන්වූයේ "පිය උරුමය" යනුවෙනි. (පෙත්තිකං දායජ්ජං) පිය උරුමයෙහි රක්ෂාවරණය එනම් සිතු විසීතාය සුවදායක ය. ඵල දායක ය. පිය උරුමයෙහි රැඳෙන තැන මාරයා වෙසගැනීමට අවකාශ නො ලැබෙයි. ——.

නවක භික්ෂුවට ස්ථවිර භික්ෂුව විසින් මේ රක්ෂාවරණය හඳුන්වා දියයුතු වේ. ශාසනික ආචාර්ය - අන්තේවාසික, උපාධ්‍යාය - සද්ධිවිහාරික සබඳතාව ඒ සඳහා ය. ආරාමික වශයෙන්, පිරිවෙනික

## සබ්බදානං ධම්මදානං ජිනාති

අප ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ විසින් ලෝකානුකම්පාවෙන් වදාළ ශ්‍රී සද්ධර්මස්කන්ධය ඇසුරින් පැවිදි පිළිවෙතට අදාළව සම්පාදිත ''භික්ෂුවගේ පියඋරුමය'' සසුන්මග වඩන පිංවත් ස්වාමීන් වහන්සේලාට පරිහරණය පිණිස බෙහෙවින් උචිත මාහැඟි ධර්ම සංග්‍රහයකි. එනිසා ම එම කෘතිය නැවත මුද්‍රණය කර ස්වාමීන් වහන්සේලා සුරතට පත් කරන්නේ නම් මැනැවැයි මම කල්පනා කළෙමි. මෙම දහම් තිළිණය පරිශීලනය කිරීමෙන් බොහෝ පින්වත් ස්වාමීන් වහන්සේලා සසර දුකින් එතර වෙත්වා යනු මාගේ මෙත්සිත් පෙරටු කරගත් පැතුමයි.

ඒ සසුන් අරමුණ සපුරා ගන්නට එම කෘතියේ සම්පාදක පූජ්‍ය කොස්වත්තේ අරියවිමල ස්වාමීන් වහන්සේගේ අනුකූලතාව අපේක්ෂා කළෙමි. ඒ පිළිබඳව උන්වහන්සේගේ කාරුණික එකඟතාව සම්බන්ධයෙන් අපගේ පුණ්‍යානුමෝදනා පූර්වක ස්තුතිය මෙහි දී පිරිනමමි.

මා සසුන්ගත කර දහම් සිසිලස අත්විඳ ගැනීමට අවකාශ උදාකර දුන් මාගේ ගරුදේවෝත්තම සදාවන්දනීය අතිපූජ්‍ය පින්වත් බදුල්ලවල සීලරතන මාහිමිපාණන් වහන්සේට මේ ධර්මදානමය පුණ්‍ය ශක්තියෙන් නිදුක් නිරෝගී සුවයෙන් සසුන් වැඩ සැලසීමට දිගාසිරි වේවා, යනුවෙන් ශිෂ්‍යපුත්‍රයකු වශයෙන් අභිවාදන පූර්වකව පුණ්‍යානුමෝදනා කරමි.

මාගේ සමාන සබ්‍රහ්මචාරී කල්‍යාණමිත්‍ර ස්වාමීන් වහන්සේලාටත් මේ ධර්මදානමය කටයුත්ත සපුරා ගැනීමට දිවයිනේ නන් දෙසින් අධාර උපකාර කළ සත්පුරුෂ පින්වතුන් හැමටත් සත්පුරුෂ සංසේවනයෙන් මාර්ග ප්‍රතිපදාව සපුරා



ප්‍රාර්ථනීය බෝධියකින් උතුම් නිර්වාණ ධර්මය අවබෝධ වේවා'යි ප්‍රාර්ථනා කරමින් පුණ්‍යාණුමෝදනා කරමි.

මේ සත්කාර්යය සඳහා අවශ්‍ය සම්බන්ධීකරණය මෙත් සිතින් ඉටුකළ පිංවත් සමීර මහත්මාණන්ටත් එම පවුලේ සියලු පින්වතුන්ටත් මුද්‍රණ කටයුතු සහනශීලීවත් අලංකාර ලෙසත් සපුරා දුන් දිමුතු මුද්‍රණාලයාධිපති සසුන් දියුණුව පතන පින්වත් එච්. එම්. එච්. බණ්ඩාර මහත්මාණන් ඇතුළු සහෝදර කාර්ය මණ්ඩලයටත් මෙහි දී මාගේ විශේෂ පුණ්‍යානුමෝදනය පිරිනමමි.

මෙත් සිතින්,<br>
අනුරාධපුරයේ අනුරුද්ධ හිමි.<br>
භද්දේක විහාරී උපස්ථායක කුටිය<br>
තන්ජන් තැන්න<br>
බලංගොඩ.

# පටුන





# 1

# ස්වාක්ඛාත සාසනය

සංසාරික පැවැත්ම යනු සත්ත්වයා නිරතුරු භවදුක හා බැඳීමකි. සත්ත්වයා ඉන් මුදවාලීම පිණිස බුදුවරු වරින් වර ලොව පහළ වෙති. අප සිද්ධත්ථ ගෞතම බුද්ධෝත්පාදයෙහි පටන් අතීතයට අනූඑක් කල්පයක් ඇතුළත පහළ වී ඇත්තේ විපස්සී, සිඛී, වෙස්සභූ, කකුසඳ, කෝණාගම, කාශ්‍යප, ගෞතම යන බුදුවරයන් වහන්සේලා පමණි. බුද්ධෝත්පාදයක මිනිසත් බව ලබා දහම දැකගැනීමට, සසුන් පිළිවෙත ඇරඹීමට සත්ත්වයෙකුට අවකාශ ලැබීම කොතරම් දුලබ ද යන්න මින් වටහා ගත හැකියි.

මේ ගෞතම බුද්ධෝත්පාදය යනු නිවන් පිළිවෙත ඇරඹීමට අප ලත් අවකාශයයි. මේ අවස්ථාව අපගේ ප්‍රයෝජනය පිණිසයි. නිවන් මග අරඹන තෙක් පූර්ණ වශයෙන් මාර අණසකට යටත් වීම ධර්මතාවයි. එකල්හි විය හැක්කේ භවදුක ම විනා වෙන කුමක්ද? භව දුකින් අත් මිදීම සඳහා ''**කටයුතු ඇරඹීම ඒ ඒ පුද්ගලයා සතු කාර්යයකි. බුදුරජාණන් වහන්සේලා කරනුයේ මාර්ගය කියා දීමයි. සමථ විදර්ශනා මාර්ගයට පිළිපන්නෝ මාරබන්ධනයෙන් මිදෙති.**''[1] එනිසා පුද්ගලයා විසින් මැඩලිය යුතු මාර බලය පිළිබඳව බුදුරජාණන් වහන්සේ මෙසේ වදාරති. ''**මහණෙනි, මාර බලය සේ දුකසේ මැඩලිය යුතු අන් එක ද බලයක් මම නො දකිමි. කුසලධර්ම සමාදාන හේතුවෙන් ම මාරබලය මැඩලීමට හැකි පුණ්‍යය වැඩේ.**''[2]

---

1. තුම්හෙහි කිච්චං ආතප්පං අක්ඛාතාරො තථාගතා
පටිපන්නා පමොක්ඛන්ති ඣායිනො මාරබන්ධනා.
ධම්මපද 276 ගාථාව, බු: නි: 1, 94 පිට, බු: ජ: මු:
2. ''නාහං භික්ඛවෙ අඤ්ඤං එකබලම්පි සමනුපස්සාමි යං එවං දුප්පසහං යථයිදං භික්ඛවෙ මාරබලං. කුසලානං ධම්මානං සමාදාන හේතු එවමිදං පුඤ්ඤං පවඩ්ඪති.''
දී: නි: 3, චක්කවත්තිසීහනාද සූත්‍රය, 134 පිට, බු: ජ: මු:

යනුවෙන් මාරබලයේ බලගතු බවත්, ප්‍රතිපදාවෙන් ම එය මැඩලිය යුතු බවත් මෙසේ බුදුරජාණන් වහන්සේ අවධාරණය කරති. ප්‍රතිපදාව නැති තැන මාරබලය සක්‍රීය ය. එය මැඩලීම අපහසු වන්නේ මාරවිෂයය නො හඳුනන තැනයි. හඳුනා ගත් තැන ම මාරබලය වියැකී යයි. එහෙයින් එය ප්‍රතිපදාවෙහි නියැලෙන්නාට තම දුර්වලතා හඳුනා ගැනීමට උපකාරයකි.

එබැවින් බුදුරජාණන් වහන්සේ පිරිනිවීමට පෙර වදාළ සසුන් පැවැත්ම චිරස්ථායී වීමට අවශ්‍ය ''බ්‍රහ්මචරියචිරට්ඨිතික දේශනාව'' සිහියේ තබාගත යුතු වේ.

**''මහණෙනි, යම් සේ මේ සසුන් බඹසර බොහෝ කලක් පවතින්නේ ද, චිරස්ථායි වන්නේ ද එසේ මා විසින් යම් ධර්මයක් වෙසෙස් නුවණින් දැන දෙසන ලද ද, එය නුඹලා විසින් මැනැවින් උගෙන ඇසුරු කළ යුතු ය, වැඩිය යුතු ය, බහුලීකෘත කළ යුතු ය. එය බොහෝ දෙනාට හිත පිණිස, සැප පිණිස, ලෝකානුකම්පාව පිණිස, දෙව්මිනිසුනට අර්ථය පිණිස, සැප පිණිස වන්නේ ය. ඒ ධර්මය කවරේ ද? සතරසතිපට්ඨානය, සතරසම්‍යක්ප්‍රධානය, සතරඍද්ධිපාද, පංචඉන්ද්‍රිය, පංචබල, සප්තබෝධ්‍යංග හා ආර්‍යඅෂ්ටාංගික මාර්ගය යනුයි.''**[1]

සසුනෙහි වීර්යය ආරම්භ කිරීම යනු මෙකී බෝධිපාක්ෂික ධර්ම වැඩීමයි. ඒවා වඩන්නේ නම් ප්‍රතිඵල උදා වියයුතු ම ය. ''ස්වාක්ඛාත'' (සු + අක්ඛාත) යන විශේෂණය ධර්මයට යොදා ඇත්තේ ඒ නිසා ය. එහි අරුත ''මැනැවින් පවසන ලද'' යන්නයි. ''දුරක්ඛාත'' හෙවත් නො මනා කොට පවසන ලද ධර්මයන් ද ලොව පවතී. එවන් දහමක වීර්යය ආරම්භ කළ ද වෙහෙස, දුක විනා ලැබියහැකි ප්‍රතිඵලයක් නැත.[2] අමු ලී වලින් ගිනි මෙලවිය නො හැක්කා මෙනි.

1. දීඃ නිඃ 2, මහාපරිනිබ්බාණ සූත්‍රය, 186 පිට, බුඃ ජඃ මුඃ
2. ''දුරක්ඛාතෙ භික්ඛවෙ ධම්මවිනයෙ යො ආරද්ධවිරියො, සො දුක්ඛං විහරති.''
   අංඃ නිඃ 1, 70 පිට, බුඃ ජඃ මුඃ



## නොතැන්හි වෙර වැඩූ අචෙලකස්සපඃ

වරක් චිත්ත ගෘහපති තුමාගේ පැරණි ගිහි යහලුවකු වූ, පසුව අචේලක පැවිද්දෙන් පැවිදිව සිටි කස්සප නමැත්තා මච්ඡිකාසණ්ඩයට පැමිණියේ ය. ඒ බව දැනගත් චිත්ත ගෘහපති තෙමේ අචේලකස්සප මුණගැසුනේ ය. සුවදුක් කථාවෙන් පසු මෙසේ විමසී ය.

''ස්වාමීනි දැන් කොච්චර කලක් ද, පැවිදි බිමට පත් වෙලා?''

''ගෘහපතිය, දැනට අවුරුදු තිහක පමණ කාලයක් ගත වෙලා''

''මේ තිස් අවුරුද්ද තුළ මිනිස් බවින් වැඩි ආර්‍යඥානදර්ශන විශේෂයක් වූ කිසියම් පහසු විහරණයක් ඔබතුමාට තිබේද''යි ගෘහපති තැන පෙරළා ප්‍රශ්න කළේ ය.

''මේ නිරුවත් බවත්, හිසෙහි මුඩු බවත්, වැලි පිසින මේ මොණරපිල් කළඹත් හැරෙන්නට මේ තිස් අවුරුද්ද තුළ ආර්‍යඥානදර්ශන විශේෂයක් වූ කිසියම් පහසු විහරණයක් මට නැතැ''යි අචේලකස්සප පිළිතුරු දුන්නේ ය.

''තිස් අවුරුද්දකිනුත් නිරුවත් බවත්, මුඩුහිසත්, මොණරපිල් කළඹත් හැර කිසි ම ආයර්‍යඥානදර්ශනයක් ලැබුයේ නැති නම් ඔය ධර්මයේ ස්වාක්ඛාත බව ආශර්චයර්‍යයක් නේ, පුදුමයක් නේ'' කියමින් චිත්ත ගෘහපති තෙමේ විස්මය පළ කළේ ය.

අනතුරුව අචේල කස්සප පෙරළා චිත්ත ගෘහපති තුමාගෙන් ''දැන් ඔබ ගෞතම ශාසනයේ උපාසක බවට පත් වෙලා කොච්චර කලක් වෙනවාද'' යි ප්‍රශ්න කළේය.

''ස්වාමීනි, මමත් දැන් තිස් අවුරුද්දක් විතර වෙනවා, උපාසක බවට පත්වෙලා.'' චිත්ත ගෘහපති පිළිතුරු දුන්නේය.

''එහෙනම් ඔබට තියෙනවා ද, මේ තිස් අවුරුද්දට මිනිස් දහමට වැඩි පහසු විහරණය පිණිස වූ උත්තරී මනුෂ්‍ය ධර්මයක්.''යි නැවත අචේලකස්සප ප්‍රශ්න කළේය.

''ස්වාමීනි, ඇයි නැත්තේ? මම කැමති වෙලාවක ප්‍රථම ධ්‍යානයටත්, ද්විතීය ධ්‍යානයටත්, තෘතිය ධ්‍යානයටත්, චතුර්ථ ධ්‍යානයටත් එළඹ වාසය කරමි. ස්වාමීනි, ඉදින් භාග්‍යවතුන් වහන්සේට පෙර මා කලුරිය කරන්නේ නම්, යම් සංයෝජන කොටසකට බැඳුන නිසා මේ චිත්ත ගෘහපති තෙමේ මෙලොවට එන්නේ ද, එබඳු සංයෝජන ඔහුට නැතැයි භාග්‍යවතුන් වහන්සේ වදාරන්නේ නම් එය පුදුමයක් නො වේ''යි චිත්ත ගෘහපති තෙම පිළිතුරු දුන්නේ ය.

''සුදු රෙදි අඳින ගිහි අයත් මිනිස් දහමට වැඩි පහසු විහරණ වූ ආයර්‍යඥානදර්ශනයකට පැමිණේ නම් ඒ ධර්මයේ ස්වාක්ඛාත බව අසිරියක් ම ය. පුදුමයක් ම ය. ගෘහපතිය, මම මේ සසුනෙහි පැවිදි උපසපන් බව ලබන්නෙමි''යි අචෙල කස්සප තෙමේ පැවසී ය.



අනතුරුව චිත්ත ගෘහපති තෙම අචේලකස්සප ස්ථවිර භික්ෂූන් වෙත පමුණුවා සියලු තතු දන්වා පැවිදි වීමට කටයුතු කළේ ය. පැවිදිව නොබෝ කලකින් රහත් ඵලයට පත් විය.[1]

බුදුසසුනේ ශ්‍රේෂ්ඨත්වය, ස්වාක්ඛාත බව එබඳු ය. මැනැවින් ප්‍රකාශිත දහමක වීර්යය ආරම්භ කරන්නේ නම් එය සුවදායක විහරණයකි.[2] එහෙත් ස්වාක්ඛාත ධර්මවිනයෙහි වීර්යාරම්භය නො කරන්නේ නම් එතැන ඇත්තේ දුක්ඛිත විහරණය විනා අන් කිසිවක් නො වේ.[3] ඒ නිසා මේ කෘතිය සම්පාදනය වන්නේ ස්වාක්ඛාත ධර්මවිනයෙහි වීර්යාරම්භ කිරීම උදෙසා අවශ්‍ය මූලික දැක්ම පැහැදිලි කරගැනීමට වෑයම් කිරීමක් හැටියට ය.

බුදුරජාණන් වහන්සේ නිරතුරු උත්සාහ ගෙන ඇත්තේ ශ්‍රාවකයා අප්‍රමාදයෙහි නියුක්ත කරවනු පිණිස ය. තථාගත පරිනිර්වාණයට මොහොතකට පෙර ද උන්වහන්සේ වදාළේ **''මහණෙනි, දැන් මම නුඹලා අමතමි. සියලු සංස්කාරයෝ නැසෙන සුලු ය. අප්‍රමාදී ව (ත්‍රිශික්ෂාව) සපුරන්න.''**[4] ත්‍රිශික්ෂාවෙහි නියැලීම යනු නිවන් මග වැඩීම ය. කාමරාග, පටිඝ යන සංයෝජන දෙක නිසා කාමභවයෙහි උපත ලබන සත්ත්වයාට සමාධි, ප්‍රඥා දෙක නැති තැන ශීලය පමණක් රැකීම අපහසු ය. ශීලය ගැන සිතෙන්නේ දුකෙහි බැඳීමක් ලෙස ය. සුවපහසුව පවත්වන්නට ඇති ජීවිතයට නීතිරීති දමා ගැනීමක් ලෙස ය. එහෙත් බුදුරජාණන් වහන්සේ දහම්මග වඩන්නහුට ප්‍රීතිය, කායචිත්ත පස්සද්ධිය බෝධි අංග

1. සං: නි: 4, අචෙල සූත්‍රය, 548 පිට, බු: ජ: මු:
2. ''ස්වාක්ඛාතෙ භික්ඛවෙ ධම්මවිනයෙ යො ආරද්ධවිරියො, සො සුඛං විහරති,,
   අං: නි: 1, 70 පිට, බු: ජ: මු:
3. ''ස්වාක්ඛාතෙ භික්ඛවෙ ධම්මවිනයෙ යො කුසීතො, සො දුක්ඛං විහරති.''
   -එම-
4. ''හන්දදානි භික්ඛවෙ ආමන්තයාමි වො වයධම්මා සංඛාරා අප්පමාදෙන සම්පාදෙථ.''
   දී: නි: 2, මහාපරිනිබ්බාණ සූත්‍රය, 244 පිට බු: ජ: මු

වශයෙන් වැඩෙන බව වදාරති. ඒ සුවය භුක්ති විඳීමට නම් අවනත වියයුතු බුද්ධාවවාදය මෙයයි. **''මහණෙනි, ශ්‍රාවකයනට හිත කැමැති අනුකම්පා ඇති ශාස්තෘවරයෙකු විසින් යමක් කළයුතු ද, එය මා විසින් නුඹලාට කරන ලදී. මහණෙනි, ධ්‍යාන කරන්න. පමා නො වන්න. පසුව විපිළිසර නො වන්න. මේ නුඹලාට මාගේ අනුශාසනයයි.''**[1]

## සදහමෙහි චිරපැවැත්මට :

බුද්ධකෘත්‍යය සපුරා ඇතත් සසුන් පැවැත්ම සම්බන්ධයෙන් ශ්‍රාවකයින්ගේ ද ගෞරවණීය සැලකිල්ලට භාජනය වියයුතු කරුණු රැසකි. මේ කරුණු බුදුරජාණන් වහන්සේ අවධාරණය කරන්නේ ශ්‍රාවකයන් අතින් ද ඉටුවිය යුතු වගකීම් කොටසක් හැටියට ය.

01. මහණෙනි, මේ සසුනෙහි මහණහු මැනැවින් උගන්නා ලද සූත්‍රාන්ත මැනැවින් තබන ලද පදව්‍යඤ්ජනයන්ගෙන් පරිවහනය කරත් නම් සද්ධර්මය අතුරුදන් නො වේ.

02. සුවච වෙත් නම් සොවචස්සකරණීය ධර්මවලින් සමන්විත නම් අවවාදක්ෂම නම් අවවාදය නුහුරට නො ගන්නේ නම් සද්ධර්මය අතුරුදන් නො වේ.

03 (ධර්මවිනයෙහි) බහුශ්‍රැත නම් ධර්මධර නම් විනයධර නම් මාතෘකාධර නම් සකසා අනූනට සූත්‍රාන්ත හදාරවත් නම් සූත්‍රාන්ත මුල්සුන් නො වේ. පිළිසරණ ඇත්තේ වෙයි. සද්ධර්මය අතුරුදන් නො වේ.

04. ස්ථවිර භික්ෂූහු ප්‍රත්‍යබාහුල්‍යයට නො වැටෙත් නම් ශික්ෂා ලිහිල්

1. ''යං භික්ඛවෙ සත්ථාරා කරණීයං සාවකානං හිතෙසිනා අනුකම්පං උපාදාය, කතං වො තං මයා. එතානි භික්ඛවෙ රුක්ඛමූලානි, එතානි සුඤ්ඤාගාරානි ඣායථ භික්ඛවෙ, මා පමාදත්ථ, මා පච්ඡා විප්පටිසාරිනො අහුවත්ථ, අයං වො අම්හාකං අනුසාසනීති.''
මඃනිඃ 1 ද්වෙධාවිතක්ක සූත්‍රය. 298 පිට, බුඃ ජඃ මුඃ



කොට නො ගනිත් නම් පංචනීවරණයන් බැහැර කරන සුළු නම් විවේකය පෙරටු කර ගත්තෝ වෙත් නම් නොපත් ඵලයන්ට පැමිණෙනු පිණිසත් අධිගමය නොකළ ඵල අධිගමය පිණිසත් සක්ෂාත් නො කළ ඵල සක්ෂාත්කරණය පිණිසත් කටයුතු කරත් නම් පශ්චිම ජනතාව ද ඔවුන්ගේ දෘෂ්ටානුගතියට පැමිණේ. ප්‍රත්‍ය බාහුල්‍යයට නොයේ. ශික්ෂා ලිහිල් කොට නො ගනියි. නීවරණ ප්‍රහාණය කරයි. විවේකයට නැඹුරු වෙයි. නොපත් නොවිඳි පසක් නො කළ ඵලාවබෝධය සඳහා වීර්යාරම්භ කරයි. එය සසුනේ නොනැස්ම පිණිස අතුරුදන් නො වීම පිණිස වෙයි.[1]

05. මහණෙනි, මේ සස්නෙහි මහණහු සකස් කොට දහම් අසත් නම් (සක්කච්චං ධම්මං සුණන්ති)

06. සකසා ධර්මය පරිවහනය කරත් නම් (සක්කච්චං ධම්මං පරියාපුණන්ති)

07. සකසා ධර්මය දරත් නම් (සක්කච්චං ධම්මං ධාරෙන්ති)

08. සකස් කොට දරූ ධර්මයෙහි අර්ථ පරීක්ෂා කරත් නම් (ධතානං ධම්මානං අත්ථං උපපරික්ඛන්ති)

09. සකසා ධර්මය දැන ධර්මය අනුව පිළිපදින්නහු නම් (සක්කච්චං අත්ථමඤ්ඤාය ධම්මමඤ්ඤාය ධම්මානුධම්මං පටිපජ්ජන්ති) මේ කරුණු සසුනේ අවිනාශය පිණිස අතුරුදන් නො වීම පිණිස වෙයි.[2]

10. මහණෙනි, මේ සස්නෙහි භික්ෂුව ඇසූ පිරිවැහූ ධර්මය විස්තර වශයෙන් අනූනට දෙසයි නම්, (යථාසුතං යථාපරියත්තං ධම්මං විත්ථාරෙන පරෙසං දෙසෙති)

11. ඇසූ පිරිවැහූ ධර්මය විස්තර වශයෙන් අනූනට වනපොත් කරවයි නම් (විත්ථාරෙන පරෙසං වාචෙති)

12. ඇසූ පිරිවැහූ ධර්මය විස්තර වශයෙන් සජ්ඣායනා කරයි නම් (විත්ථාරෙන සජ්ඣායං කරොති)

13. ඇසූ පිරිවැහූ ධර්මය සිතින් අනුවිතර්කනය කරත් නම්, අනුවිචාරණය කරත් නම්, මනසින් ප්‍රත්‍යවේක්ෂණය කරත් නම් (යථාසුතං යථා පරියත්තං ධම්මං චෙතසා අනුවිතක්කෙන්ති අනුවිචාරෙන්ති

1. අංඃ නිඃ 2, සුගතවිනය සූත්‍රය, 286 පිට, බුඃ ජඃ මුඃ
2. අංඃ නිඃ 4, පඨමසද්ධම්මසම්මොස සූත්‍රය, 288 පිට, බුඃ ජඃ මුඃ

මනසානුපෙක්ඛන්ති) සද්ධර්මයෙහි අතුරුදන් නො වීම පිණිස වෙයි.[1]

14. තවද මහණෙනි, සංඝයා සමගි සම්පන්න නම් සතුටු සිත් ඇත්තාහු නම් විවාද නොකරන්නාහු නම් එක්ව පාමොක් උදෙසන්නාහු පහසු විහරණයෙන් යුතු නම් සංඝයා සමගි බැවින් එකිනෙකාට ආක්‍රෝශ නො කරත් නම් පරිභව නො කරත් නම් එකිනෙකා වෙන් කර නො කියත් නම් එකිනෙකා බැහැර නො කරත් නම් එය නො පැහැදුනවුන්ගේ පැහැදීම පිණිසත් පැයැදුනවුන්ගේ වැඩි පැහැදීම පිණිසත් වන බැවින් සද්ධර්මයෙහි චිරස්ථිතිය පිණිස වෙයි.[2]

## සැලකිල්ලට ගතයුතු අනාගතභය :

ඉහත කී නයින් බුදුසසුන මෙනෙහි කිරීමට බාධක වන පරිදි තමා වියපත් වන්නට පෙර, රෝ දුක් ඇතිවීමට පෙර, දුර්භික්ෂ සමයක් උදා වීමට පෙර, ජනපද ව්‍යසනයන් ඇති වන්නට පෙර, සංඝභේදයක් ඇති වීමට පෙර මේ දහම මෙනෙහි කර නො පත් අධිගමයන්ට පත්වීමට අප්‍රමාදී වියයුතු බව දුතියඅනාගතභය සූත්‍රයෙහි කියැවේ.[3] ආරණ්‍යක භික්ෂුවක් විසින් විසකුරු සතෙකු දෂ්ට කර මියයන්නට පෙර, හදිසි රෝගයකින් මියයන්නට පෙර, වන මෘගයෙකුට ගොදුරු වීමට පෙර, සොරුන් විසින් දිවි තොරකරනු ලැබීමට පෙර, අමනුෂ්‍ය උවදුරකට පත්වීමට පෙර අප්‍රමාදීව දහම්මග වැඩියයුතු බව පඨමඅනාගතභය සූත්‍රයෙහි කියැවේ.[4] නිවන්මග ඇරඹීමට වඩා සසර රැඳෙමින් කළයුතු මහා කාර්‍යයක් නැත.

## පෙර අනාගතභයක අද උදාව:

**''මහණෙනි, මේ වන විට උදා වී නැති අනාගත භය කොටසක් මතු උපදින්නේයයි නුඹලා විසින් දතයුතු ය. දැන ඒවා ප්‍රහාණය කරනු පිණිස ද වෑයම් කටයුතුය''** [1] මේ කරුණු කවරේදැයි හඳුනා ගැනීම වර්තමානයට වැදගත් වේ.

01. නො වැඩූ කාය, චිත්ත, ප්‍රඥා ඇතිව අන්‍යයන් උපසපන් කිරීමත් (අඤ්ඤෙ උපසම්පාදෙස්සන්ති) ඔවුන් අධිශීල අධිචිත්ත අධිප්‍රඥායෙහි හික්මවීමට නො හැකි වීමත් නිසා ඔවුහු ද අභාවිත පුද්ගලයෝ වෙති. ඒ නිසා ධර්මහානියෙන් විනයහානියත් විනයහානියෙන් ධර්මහානියත් සිදු වේ.

02. අභාවිත පුද්ගලයෝ අන් මහණුන්ට නිස දෙත් (අඤ්ඤෙසං නිස්සයං දස්සන්ති) නම් අධිශීල අධිචිත්ත අධිප්‍රඥායෙහි හික්මවීමට අසමත් බැවින් ඔවුහු ද අභාවිත පුද්ගලයෝ වෙති. මෙසේ ධර්මහානියෙන් විනයහානියත් විනයහානියෙන් ධර්මහානියත් සිදුවේ.

03. අභාවිත පුද්ගලයෝ දාර්ශනික මතවාද ගෙනහැර දක්වමින් සිදුරු සොයන සුලුව ලාභාපේක්ෂාවෙන් අකුශලයට වැටී (කණ්හං ධම්මං ඔක්කමමානා) ධර්මය ප්‍රතිවේධ නො කරත්. මෙසේ ධර්මහානියෙන් විනයහානියත්, විනයහානියෙන් ධර්මහානියත් සිදු වේ.

04. අභාවිත පුද්ගලයෝ ගැඹුරු අරුත් ඇති ලෝකෝත්තර වූ ශූන්‍යතාප්‍රතිසංයුක්ත සූත්‍රාන්ත දෙසන කල්හි ඒවා නො අසත්. සවන් යොමු නො කරත්. දැනුමට නො එළඹෙත්. ඒ දහම් උගතයුතු කොට නො සිතත්. සසුනෙන් බැහැර වූවන්ගේ විසිතුරු කියමන් සවන් දියයුතු කොට ගනිත්. උගතයුතු සේ සිතත්. මෙසේ ධර්මහානියෙන් විනයහානියත් විනයහානියෙන් ධර්මහානියත් සිදු වේ.

---

1. අං: නි: 3, දුතියසද්ධම්මසම්මොස සූත්‍රය, 288 - 290 පිටු, බු: ජ: මු:
2. අං: නි: 3, තතියසද්ධම්මසම්මොස සූත්‍රය, 294 පිට, බු: ජ: මු:
3. අං: නි: 2, දුතියඅනාගතභය සූත්‍රය, 164 - 168 පිටු, බු: ජ: මු:
4. අං: නි: 2, පඨමඅනාගතභය සූත්‍රය, 162 - 164 පිටු, බු: ජ: මු:



1. ''...... පඤ්ච අනාගතභයානි එතරහි අසමුප්පන්නානි ආයතිං සමුප්පජ්ජිස්සන්ති. තානි වො පටිබුජ්ඣිතබ්බානි. පටිබුජ්ඣිත්වා ච තෙසං පහානාය වායමිතබ්බං''
   අං: නි: 3, තතියඅනාගතභය සූත්‍රය, 172 පිට, බු: ජ: මු:

05. අභාවිත වූ ස්ථවිර භික්ෂූහු ප්‍රත්‍යබාහුල්‍යයට වැටී සසුන ලිහිල් කොට ගනිති. නීවරණයන්ට යට වී නොපත් අනධිගත සාක්ෂාත් නො කළ අධිගමයන් උදෙසා වීර්යාරම්භ නො කරති. පශ්චිම ජනතාව ද ඔවුන්ගේ දිට්ඨානුගතියට පැමිණෙති. ඔවුහු ද සසුන සැහැල්ලු කොට ගනිත්. අධිගමය උදෙසා වීර්යාරම්භ නො කරත්. මෙසේ ධර්මහානියෙන් විනයහානියත් විනයහානියෙන් ධර්මහානියත් සිදු වේ.

## අවබෝධය කල් නො යවා නිදුකින් ලබන්නකි :

පිළිවෙත නිවැරදිව අරඹන්නේ නම් අවබෝධය කල්ගත නො වන බව බුද්ධවචනයයි. ''කපටි නො වූ අව්‍යාජ ඍජු විඥපුරුෂයා පැමිණේවා. මම අනුශාසනා කරමි. මම දම් දෙසමි. අනුශාසනය යම් බඳු ද එසේ ක්‍රියා කරන්නේ වැඩිකල් නො ගොස් තමා ම දැනගනියි. තමා ම දැකගනියි.''[1] මේ බුදුරජාණන් වහන්සේගේ අවධාරණයයි.

## දහම්මග සුවදායකයි :

සසර රැඳී සිටීම නම් අපහසුවක් වන නමුත් දහම්මග ඇරඹීම අපහසුවක් නො වේ. අපහසුව වෙතින් පහසුවට වැටීමකි. බුදුරජාණන් වහන්සේ වදාරන්නේ සියලු වැරදි මාවත් වසා නිවැරදි පිළිවෙත විවෘත කර ඇති බවත්, එය සුරක්ෂිත බවත්, සුවදායක බවත් ගමන ප්‍රීතිමත් බවත් ය.[2]

1. ''එතු විඤ්ඤූපුරිසො අසඨො අමායාවී උජුජාතිකො, අහමනුසාසාමි. අහං ධම්මං දෙසෙමි. යථානුසිට්ඨං තථා පටිපජ්ජමානො න චිරස්සේව සාමඤ්ඤෙ'ව ඤස්සති. සාමං දක්ඛිති.''
මඃ නිඃ 2, වෙඛනස්ස සූත්‍රය, 400 පිට, බුඃ ජඃ මුඃ
2. ''ඉති ඛො භික්ඛවෙ විවටො මයා ඛෙමො මග්ගො සොවත්ථිකො පීතිගමනීයො, පිහිතො කුම්මග්ගො....''
මඃ නිඃ 1, ද්වෙධාවිතක්ක සූත්‍රය, 298 පිට, බුඃ ජඃ මුඃ



## වැඩීම නිදුකින් යඃ

සසුන අප්‍රමාදීව වීර්යාරම්භ කිරීමට යොමු වූවකි. මේ වීර්යය නිවැරදි උත්සාහයකි. එහි පීඩා නැත. අවශ්‍ය වන්නේ කෙලෙස් ප්‍රහීන කරන්නට නම් අධික වීර්යය හා කුසීත කම යන දෙකින් ම බැහැර වීම ය. නිසි පරිදි සතිය යොදා ගන්නේ නම් ප්‍රමාණවත් වීර්යය ක්‍රියාත්මක වේ. ඒ අනුව සංයෝජන ප්‍රහාණය වන්නේ නිදුකින් ය. අඩු වෙහෙසකින් ය.[1]

## සුවය සන්දිට්ඨිකයිඃ

බොහෝ දෙනා සිතන්නේ දහම්මග වැඩීම මතු ලබන සැපතක් පතා දැන් පවතින සැප අහිමි කරගැනීමක් වශයෙනි. වරක් බවුන් වඩන තරුණ භික්ෂූන් සමූහයක් වෙත මහලු බමුණු වෙසකින් පැමිණි මාරයා මෙසේ පැවසී ය.

''මේ පැවිද්දෝ තරුණ වෙති. මනා කලු කෙස් ඇතියහ. සොඳුරු යොවුන් බවෙන් යුතු වෙති. ප්‍රථම වයසේ වෙති. කාමක්‍රීඩා නො කළ අය වෙති. මානුෂික වූ පස්කම් සුවය විඳින්න. දැන් විඳියුතු සැපත අතහැර දමා කල්යවා විඳිය යුතු සැපතක් ලුහු නො බඳිත්වා.''[2]

සසුන ලිහිල්ව ගන්නා විට නිරායාසයෙන් මේ මාර

1. ''භාවනං අනුයුත්තස්ස භික්ඛුනො විහරතො අප්පකසිරෙනෙ'ව සංයෝජනානි පටිප්පස්සම්භන්ති.''
අංඃ නිඃ 4, භාවනානුයුත්ත සූත්‍රය, 464 පිට, බුඃ ජඃ මුඃ
2. ''දහරා භවන්තො පබ්බජිතා සුසුකාලකෙසා භද්‍රෙන යොබ්බනෙන සමන්නාගතා පඨමෙන වයසා අනික්කීළිතාවිනො කාමෙසු, භුඤ්ජන්තු භොන්තො මානුසකෙ කාමෙ, මා සන්දිට්ඨිකං හිත්වා කාලිකං අනුධාවිත්ථ.''
සංඃ නිඃ 1, සම්බහුල සූත්‍රය, 214 පිට, බුඃ ජඃ මුඃ

ආකල්පය හිස ඔසවයි. මේ මාර ආකල්පයට ඉඩ නො තැබිය යුතු ම ය. මේ මාර ප්‍රකාශය පිළිබඳ ඒ තරුණ භික්ෂූන් වහන්සේලාගේ ප්‍රතිචාරය අනතුරුව විමසා බලමු.

**''බමුණ, අපි දුන් වින්දයුතු සැපත පසෙක ලා කල්යවා ලබන සැපතක් ලුහුබඳින අය නො වෙමු. භාග්‍යවතුන් වහන්සේ කම් සුවය කාලික බවත් බොහෝ දුක්, වෙහෙස සහිත බවත්, ආදීනව බොහෝ බවත් වදාරා තිබේ. මේ දහම දුන් වින්ද යුත්තකි. අකාලික වූවකි. 'එව බලව'යි කීමට සුදුසු ය. තම සිත්හි පමුණුවා බැලීමට යෝග්‍ය ය. නුවණැත්තවුන් විසින් තම තමන් කෙරෙහි ලා දතයුත්තකැයි භාග්‍යවතුන් වහන්සේ වදාරා තිබේ.''**[1]

පංචකාමගුණය නම් වූ මාරවිෂයයෙහි ''දුන් ඇති'' යන නිෂ්ටාවක් නැත. පංචකාමගුණික සුඛය නිතර ම අනාගතයට ඇදී පවතියි. සෑහීමකට පත්වන අවස්ථාවක් නැත. එය කාලිකයයි කියන්නේ ඒ නිසා ය. ප්‍රතිපදාව ඇරඹීම පැවිද්දේ සන්දිට්ඨික සුවයට හිමිකම් කීමයි. එය කල් යවා ලැබෙන සැපයක් සේ සිතන්නේ නම් එය මාර අභිමතයට අනුගත, නුවණැස වනසාලීමට ආ බලවේගයකි. (තුම්හාකං විචක්ඛුකම්මාය ආගතො)

1. 'න බො මයං බ්‍රාහ්මණ සන්දිට්ඨිකං හිත්වා කාලිකං අනුධාවාම. කාලිකඤ්ච බො මයං බ්‍රාහ්මණ හිත්වා සන්දිට්ඨිකං අනුධාවාම. කාලිකොහි බ්‍රාහ්මණ කාමා වුත්තා භගවතා බහුදුක්ඛා බහූපායාසා ආදීනවො එත්ථ භියෙ‍ය්‍යා. සන්දිට්ඨිකො අයං ධම්මො අකාලිකො එහිපස්සිකො ඔපනයිකො පච්චත්තං වෙදිතබ්බො විඤ්ඤූහී.''
-එම-



# 2

# රුදුරු සසර

සසුන් පිළිවෙතෙහි නියුක්ත විය යුත්තේ සසරේ බියකරු බව නිසා ම ය. ''සසර'' යනු බොළඳ පිළිගැනීමක් නො වේ. අද වනවිට සත්ත්වයා, පුද්ගලයා යනු ''මාංශශරීරයක්'' හැටියට බොහෝ දෙනා සිතන බව පෙනේ. බුද්ධ කාලයෙහි ද ''තං ජීවං තං සරීරං'' යනුවෙන් ඒ මතය දරූ අය සිටියහ. ''ශරීරයත් ආත්මයත් දෙකක් නොව එකකි.'' යන මතය ඉන් ගම්‍යයි. ආධ්‍යාත්ම විද්‍යාවෙන් පිරිහී හුදු භෞතික පැත්තෙන් පමණක් සිතන විට මේ මතයට වැටේ. මනස කායික සාධක ඇසුරෙන් පමණක් තේරුම් ගැනීම නිසා එය විද්‍යුත් රසායනික ක්‍රියාකාරීත්වයක් පමණකැයි ඇතැම්හු කියති. මොළය, මධ්‍ය ස්නායු පද්ධතිය, හෝමෝන ක්‍රියාකාරීත්වය, චිත්තවේග ඇසුරෙන් පමණක් මනස තේරුම් කිරීම අසම්පූර්ණ ය.

ආධ්‍යාත්ම විද්‍යාවෙන් යම් පමණකින් දියුණු ඇතැම් ප්‍රාග් බෞද්ධ පැවිද්දන් 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරං' යනුවෙන් ආත්මය ශරීරයෙන් අන්‍යතර වූවක් වශයෙන් සැලකූ බව පෙනේ. ඒ මනස ආත්මය ලෙස ගැනීම නිසයි. බුදුසමය කය හෝ මනස හෝ ආත්මය වශයෙන් නො ගන්නා අතර, පුද්ගලයාගේ සසර පැවැත්ම උදෙසා ආත්ම සාරයක අනන්‍ය වූ පැවැත්මක් අවධාරණය නො කරයි. පුද්ගල අනන්‍යතාව හෙවත් මමත්වය යනු ඉන්ද්‍රිය අත්දැකීම් අනුභවයේ දී සැකසෙන උපාදානස්කන්ධ ක්‍රියාකාරීත්වය ඇසුරෙන් නිරන්තරයෙන් මැවෙමින් ඇති ස්වභාවයකි.

ශරීරය ම ප්‍රධාන සාධකය කරගැනීම හෙවත් දේහාත්මවාදය නිසා ප්‍රධාන මනෝධර්ම තුනක් මනුෂ්‍යයා තුළ

බලගතුව ඉස්මතු වෙයි. එනම් : අධම්මරාගය, මිථ්‍යාධර්මය හා විසමලෝභයයි.[1] කරජකය ප්‍රධාන සාධකය කරගැනීම නිසා මනුෂ්‍යයාට ආධ්‍යාත්මික අංශයට අයත් හේතුඵල සම්බන්ධතාව නො පෙනී යයි. එය මිථ්‍යාධර්මයට වැටීමයි. ''සත්ත්වයා මාංශකායික නිර්මාණයක් පමණි'' යනුවෙන් කල්පනා කිරීම නිසා කායික ඕනෑඑපාකම් පිරිමසා ගැනීම පමණක් ජීවිතයේ පරමාර්ථය ලෙස පෙනෙයි. මෙය විසමලෝභය බිහිවීමට හේතුවයි. මෛථුන සැපත ලෝක සම්මත සදාචාරයෙන් පිට පැන ඉටුකර ගැනීම අධම්මරාගයයි.

එහෙත් දහම අනුව ශරීරය යනු කාමභවයට අයත් අත්දැකීම් ලැබීමට කර්මවේග වශයෙන් හිමිකර ගන්නා ප්‍රත්‍යයක් පමණි. සංසාරික සත්ත්වයාගේ ආධ්‍යාත්මික ගැඹුර රූප හා අරූප භවයන්ගෙන් ප්‍රකට වෙයි. මනසේ ගැඹුර වැටහෙන්නට පටන් ගන්නේ සමාහිතයට යොමු වන විටයි. යම් කාමභවික සත්ත්වයෙකු කාමභවයට අයත් සංඥා (පංචඉන්ද්‍රිය සංජානනය) සහිතව සිටින විට රූප හා අරූප භවයන්ට අයත් රූපරාග හා අරූපරාග යටපත් වී තිබේ. කෙනකු සමාපත්ති වඩනවා යනුවෙන් අදහස් කරන්නේ කාමසංඥා තාවකාලිකව යටපත් කරමින් රූප අරූප සංඥාවන්ට යොමු වීමයි.

කාමය අත්හලයුතු හා අත්හළහැකි ධර්මයක් බව මෙහි දී වැටහේ. අනගාරික පැවිද්දෙහි අර්ථසම්පන්න බව වැටහෙන්නේ මෙහි දී ය. සත්ත්වයා යනු මාංශකයක් පමණක් නම් පැවිද්ද අරුත්සුන් වූවක් වෙයි. මනින්ද්‍රිය යනු සියුම් රූපස්වභාවයකි. පඨවි ආදී මූලධාතුන්ගේ ශක්ති ක්‍රියාකාරීත්වයකි. මනස කයට බැඳුනකි. එසේ බැඳුනේ පංචකාමය භුක්ති විඳීමට කය උපකරණය වන බැවිනි.

1. ''එතරහි බ්‍රාහ්මණ මනුස්සා අධම්මරාගරත්තා විසමලෝභාභිභූතා මිච්ඡාධම්මපරෙතා.''
අං: නි: 1, බ්‍රාහ්මණ වග්ග, 288 පිට, බු: ජ: මු:



මේ පඨවි ආදී මූලධාතූන්ගේ ශක්ති අවස්ථාවක් වූ නිරතුරු අනිත්‍යතාවෙන් යුතු මේ මනස සිත් උපදවන වේගයකින් යුක්තයි. විඤ්ඤාණ යනු ඒ ස්වභාවයයි. (විජානාතීති විඤ්ඤාණං) විඤ්ඤාණය භව බීජයයි. (විඤ්ඤාණං බීජං) තණ්හාව නමැති ජලයෙන් (තණ්හා සිනෙහො) භව බීජය පෝෂණය වන විට සැකසෙන්නේ භවයයි. භව බීජය වන විඤ්ඤාණය පෝෂණය වන්නේ කර්මය නමැති ක්ෂේත්‍රයෙහි ය. (කම්මං ඛෙත්තං)[1] මේ ප්‍රත්‍ය සම්බන්ධතාව ඇති තැන සැකසෙන්නේ සසරයි. මනසේ පැවැත්මට කයක් වුවමනා නැත. එහෙත් මනසකින් තොරව කයක් නො පවතියි. ප්‍රඥාවෙන් තොර සත්ත්වයා නැවත නැවතත් මව්ගැබට එන්නේ මාංශකයක් තනා ගැනීමට ය.[2] සසුන් පිළිවෙත ඇත්තේ කාමයෙහි ගිජුබව බැහැරකොට නැවත නැවතත් මව්ගැබට නො පැමිණීම පිණිස ය. (දිට්ඨිං ච අනුපගම්ම සීලවා දස්සනෙන සම්පන්නො කාමෙසු විනෙය්‍ය ගෙධං න හි ජාතු ගබ්භසෙය්‍යං පුනරෙති) භික්ෂුත්වය අර්ථවත් වන්නේ මේ දැක්ම ඇති කල්හි ය. පසිඳුරන්ට නතු වීම වෙනුවට චිත්තභාවනාවක් ප්‍රඥාභාවනාවක් අපේක්ෂා කළ හැක්කේ එවිට ය. නතුවීම පසිඳුරන්ට නම් ඇදීම භවයට ම ය. පුහුදුන් සිතට සුගතීන්ට වඩා සිදුවන්නේ දුගතීන්ට වැටීමට ය.

**සසර තතු :**

ලෝකයා මහත් දුෂ්කරතාවකට වැටී ඇත. උපදියි, දිරයි, මියයයි, ච්‍යුත වෙයි, යලිත් උපදියි. දිගින් දිගට සිදුවන ජරාමරණ දුකෙන් නිදහසක් නො දකියි. මේ ස්වභාවය ඉදිරියේ සිද්ධාර්ථ

1. අං: නි: 1, ආනන්ද වග්ග, 6 සූත්‍රය, 394 පිට, බු: ජ: මු:
2. ''පුනප්පුනං ගබ්භමුපෙති මන්දො''
සං: නි: 1, උදය සූත්‍රය, 310 පිට, බු: ජ: මු:

ගෞතමයන් වහන්සේට අනභිසම්බුද්ධ බෝසත් අවස්ථාවේ ම ගැඹුරින් ම සිතට නැගුණු ප්‍රශ්නය කුමක් ද? ''**කවදා නම් මේ ජරාමරණ දුකට නිමාවක් පනවන්නේ ද**'' යන්නයි.[1] සසර නම් නිරතුරු ජරාවටත් මරණයටත් පත් වෙමින් මමත්වයක් මවාගත් සත්ත්වයාගේ පැවැත්මයි. මේ පැවැත්ම කාම, රූප හා අරූප භව තුනක සිදු වන්නේ සසර බැඳ තබන සංයෝජන ශක්තිය නිසා ය. මෙසේ සිහිපත් කළ නොහැකි තරම් අතීතයක සිට සසර පැවැත්මට සත්ත්වයෝ හසු වී සිටිති.[2]

සසර තතු පිළිබඳ බුදුවදන මෙසේ ය. ''මිනිස් බව ලැබ මියගොස් නැවත මිනිස් භවයට ම එන්නෝ ස්වල්ප වෙති. එහෙත් මිනිස් අත්බවින් මිදී නරක, තිරිසන්, ප්‍රේත වශයෙන් උපත ලබන්නෝ බොහෝ වෙති. මිනිස් බවින් දෙවියන් අතරට යන අය ස්වල්ප වෙති. දෙව් ලොවින් ච්‍යුත වී මිනිසත් බව ලබන අය ද ස්වල්ප වෙති. එහෙත් නරක, තිරිසන්, ප්‍රේත යෝනිවල උපදින්නෝ බොහෝ වෙති. නරකයෙන් ච්‍යුත වී මිනිස් භවයට හා දේවත්වයට එන අය ද ස්වල්ප වෙති. තිරිසන් යෝනියෙන් මිදී මිනිස් ලොව හා දෙව්ලොව උපදින අය ස්වල්ප වෙති. එහෙත් නරක, තිරසන්, ප්‍රේත තත්ත්වවලට වැටෙන්නෝ ම බහුල වෙති.

ගොඩබිම උපදින සත්ත්වයන්ට වඩා දියෙහි උපදින සත්ත්වයෝ බහුල වෙති. මිනිස් බවට එන්නෝ ස්වල්ප වෙති. සතර අපාගත සත්ත්වයෝ ම බහුල වෙති. යහපත් ප්‍රදේශවල උපදින සත්ත්වයෝ ස්වල්ප වෙති. පහසුකම් අඩු ප්‍රදේශවල උපදින සත්ත්වයෝ ම බහුල වෙති. යහපත් වචනයෙහි හා අයහපත් වචනයෙහි අරුත් දැනගන්නා ප්‍රඥාවන්තයෝ ස්වල්ප වෙති. දුෂ්ප්‍රාඥ කෙළතොලු පුද්ගලයෝ බහුල වෙති. ආර්ය වූ විදර්ශනාවට

1. ''කිච්ඡං වතායං ලොකො ආපන්නො ජායති ච ජීයති ච මීයති ච චවති ච උප්පජ්ජති ච. අථ ච පනිමස්ස දුක්ඛස්ස නිස්සරණං නප්පජානාති, ජරාමරණස්ස. කුදාස්සු නාම ඉමස්ස දුක්ඛස්ස නිස්සරණං පඤ්ඤායිස්සති ජරාමරණස්ස.''
සං: නි: 2, ගෝතම සූත්‍රය, 16 පිට, බු: ජ: මු:
2. ''අනමතග්ගෝයං භික්ඛවෙ සංසාරො පුබ්බාකොටි න පඤ්ඤායති.''
සං: නි: 2, තිණකට්ඨ සූත්‍රය. 276 පිට, බු: ජ: මු:



යොමු වන්නෝ ස්වල්ප වෙති. අවිද්‍යාවෙන් මුළා වූවෝ බොහෝ වෙති. සම්‍යක් සම්බුදුවරයන් වහන්සේ දක්නා සත්ත්වයෝ ස්වල්ප වෙති. නො දක්නා සත්ත්වයෝ බහුල වෙති. තථාගත ධර්මය ඇසීමට අවකාශ ලබන්නෝ ස්වල්ප වෙති. නො ලබන්නෝ බොහෝ වෙති. දූරූ ධර්මයෙහි අරුත් පිරික්සන්නෝ ස්වල්ප වෙති. නො පිරික්සන්නෝ බොහෝ වෙති. ධර්මය පිළිපදින්නෝ ස්වල්ප වෙති. නො පිළිපදින්නෝ බොහෝ වෙති. සසර පිළිබඳ සංවේග උපදවන්නෝ ස්වල්ප වෙති. උපදවා බවුන් වඩන්නෝ ස්වල්ප වෙති. නිවන් අරමුණු කොට සිත එකග කරන්නෝ ස්වල්ප වෙති. අර්ථරස ධර්මරස හා විමුක්තිරස වශයෙන් නිවන් ලබන්නෝ ස්වල්ප වෙති. සෙස්සෝ ම බහුල වෙති.[1] සසර තතු එසේ ය. එහෙත් ප්‍රඥාව පුබුදුවා ගැනීමේ අවශ්‍යතාවයක් තිබේ නම් දුගතීන් ට නො ඇදී කටයුතු කිරීමේ හැකියාව ද පුද්ගලයාට ඇත.

පිළිවෙත ඇරඹීම පිළිබඳ උනන්දුවක් නැතිව සසර පිළිබඳ සංවේගයක් නැතිව ක්‍රියා කිරීමෙන් සිදුවෙන්නේ කාමභවයේ දුක් ඇති පැවතුම්වලට වැටීමටයි. දිගු කලක් මේ දුක අනුභව කර ඇත. සසර දී අමනාප සංයෝගයෙන්, මනාප වියෝගයෙන් හෙලූ කඳුළු මේ සිව්මහසයුරට වැඩි ය. මව් මළ දුකින්, පියා මළ දුකින්, පුතා මළ දුකින්, දියණිය මළ දුකින්, නෑ විපත්, භෝග විපත්, රෝග විපත් පිළිබඳ දුකින් හඬා වැළපෙන කල්හි වෙන වෙන ම වගුරුවන ලද කඳුළු මේ සිව්මහසයුරෙහි ජලයට වැඩි ය.[2] අන්‍යයන් විඳින විවිධ දුක් කම්කටොලු දක්නා කල්හි අවබෝධ කරගත යුතු කරුණ නම්

1. අං: නි: 1, 72 - 78 පිටු, බු: ජ: මු:
2. සං: නි: 2, අස්සු සූත්‍රය, 278 පිට, බු: ජ: මු:

අප විසිනුදු මේ දිගු සසරෙහි මෙබඳු දුක් විඳින ලද බවයි.[1] මෙවන් සසරක රැඳී සිටීම වෙනුවට සියලු සංස්කාරයන්හි අපේක්ෂා රහිත වීම සුදුසුම ය. ඇලෙන්නට නො සුදුසුම ය. සසරින් මිදෙන්නට නිසි ම ය.[2] ජාති, ජරා, ව්‍යාධි, මරණ , සෝක, පරිදෙව, දුක්, දොම්නස් උපායාසවලට යටත් වූ පුද්ගලයා කොතෙක් ඉසුරුබර ප්‍රතාපවත් අයකු වුව ද මාරඅණසකට යටත් ය. ''**නිදිවරන්නාට රාත්‍රිය දිගු ය. ගමන් වෙහෙස ඇත්තාට යොදුන දිග ය. සද්ධර්මය නො දන්නා බාලයනට සසර දිග ය.**''[3]

## දුර්ලභ ක්ෂණ සම්පත්තිය :

නිවැරදි ශාස්තෘවරයෝ නම් සම්‍යක් සම්බුදුරජාණන් වහන්සේලා ය. ගෞතම බුද්ධ ශාසනය අපට ලැබී තිබේ. කළයුත්තේ ධර්මය පුහුදුන් අර්ථකථනයන්ට වැටී වියැකෙන්නට ඉඩ නො දී පිළිවෙත ගැන උනන්දු වීමයි. සසර දිගින් දිගට මුහුණ දෙන ජරාමරණ දුක පිළිබඳව යථා පරිද්දෙන් හෙළිදරව් කරන්නේ බුදුරජාණන් වහන්සේ ය. අප ශාස්තෘවරයකු සෙවිය යුත්තේ ජරාමරණ දුකත්, එහි සමුදයත්, නිරෝධයත්, නිරෝධයට පිළිවෙතත් දැනගනු පිණිස ය.[4]

සසරක් දකින ශාස්තෘවරුන් පහළ වුව ද ආත්ම සංකල්පනයෙහි මිථ්‍යාව නො දකින බැවින් සසරින් මිදීමක් ගැන

1. ''අම්හෙහි'පි එවරූපං පච්චනුභූතං, ඉමිනා දීඝෙන අද්ධුනා.''
සං: නි: 2, දුග්ගති සූත්‍රය, 288 පිට, බු: ජ: මු:
2. ''යාවඤ්චිදං භික්ඛවෙ අලමෙව සබ්බසංඛාරෙසු නිබ්බින්දිතුං අලං විරජ්ජිතුං අලං විමුච්චිතුං''
සං: නි: 2, තිණකට්ඨ සූත්‍රය, 276 පිට, බු: ජ: මු:
3. ධම්මපද බාලවග්ගය, 1 ගාථාව
4. ''......... ජරාමරණෙ යථාභූතං ඤාණාය....ජරාමරණ සමුදයෙ.....ජරාමරණ නිරොධෙ....ජරාමරණනිරොධගාමිනියා පටිපදාය යථාභූතං ඤාණාය සත්ථා පරියෙසිතබ්බො''
සං: නි: 2, ජරාමරණ සූත්‍රය, 204 පිට, බු: ජ: මු:



ඔවුහු නො දක්වති. පරමසුඛය වශයෙන් ආත්මයේ සදාකාලික පැවැත්මක් නිර්දේශ කිරීමට ඔවුහු වෑයම් කරති. භවයෙහි සදාකාලික සුවයක් පනවන ශාස්තෘවරුන්ට ජරාමරණ දුකෙහි නිමාවක් දැක්විය නො හැකි ය. භවයෙහි සදාකාලික තැන් නැත. ජරාමරණ දුක පවතින්නේ නම් ශෝක කිරීම ද හැඬීම ද දුකදොම්නස් චිත්තපීඩා ද ඇති හෙයින් දුකින් නො මිදුනෙක් ම වෙයි. සත්තසුරියුග්ගමන  සූත්‍රයෙහි දී බුදුරජාණන් වහන්සේ මේ පිළිබඳ නිදසුනක් ඉදිරිපත් කරති.

''මහණෙනි, පෙර විෂ්කම්භන වශයෙන් කාමය යටපත් කළ සුනෙත්ත නම් ශාස්තෘවරයෙක් විය. ඒ ශාස්තෘ හට සියදහස් ගණනින් ශ්‍රාවකයෝ වූහ. ඔහු දම් දෙසන්නේ බ්‍රහ්මලෝක සහව්‍යතාව පිණිස ය. ඒ ශාස්තෘන්ගේ දහම හැම අයුරින් ම දැනගන්නා ශ්‍රාවකයෝ මරණින් මතු බ්‍රහ්මලෝකයට (ප්‍රථමධ්‍යාන තලයට) පැමිණියහ. සුනෙත්ත ශාස්තෘවරයාගේ ශාසනය සර්වප්‍රකාරයෙන් ම දැන නො ගත් ඇතැම්හු මරණින් මතු පරනිම්මිතවශවර්ති දෙවියන්ගේ සහව්‍යතාවට පත්වූහ. ඇතැම්හු නිර්මාණරති දිව්‍යසහව්‍යතාවට ද, තුසිත, යාම, තාවතිංස, චාතුර්මහාරාජික දේවසහව්‍යතාවලට ද පත්වූහ. ඇතැම්හු  මිනිස් ලොව ක්ෂත්‍රිය මහාසාල, බ්‍රාහ්මණ මහාසාලයන්හි උපන්හ.

මෙහි දී සුනෙත්ත ශාස්තෘවරයාට මෙසේ කල්පනාවක් ඇති විය. යම් හෙයකින් මම පරලෙව්හි දී ගතියෙන් ශ්‍රාවකයන්ට සමාන වුවහොත් එය මට සුදුසු නො වේ. එබැවින් මම මෛත්‍රී චිත්තය වඩන්නෙමියි සත් අවුරුද්දක් මෙත් සිත වැඩී ය. එහි විපාක වශයෙන් සංවෘත විවෘත්ත කල්ප සතක් මේ කාමභවයට නො ආවේ ය. සංවට්ටමාන යුගයේ දී ආභස්සරකායික වන ඔහු විවට්ටමාන යුගයේ දී ශූන්‍ය බ්‍රහ්මවිමානයට එළඹෙයි. මහණෙනි, මේ බ්‍රහ්මයා සියලු බඹුන් මැඩ වෙසෙන, කිසිවකු විසින් නො මඩනා ලද, සියල්ල දක්නා, වශවර්තී බ්‍රහ්මයා වෙයි. පසුව තිස්හත්

වරක් ශක්‍රදේවේන්ද්‍ර විය. අනෙකශත වාරයක් සක්විති රජ විය. දඬු නැතිව අවි නැතිව දැහැමින් සාගරය කෙළවර කොට ඇති පෘථුවිය දිනා ඉසුරුමත්ව විසී ය.

මහණෙනි, ඒ සුනෙත්ත ශාස්තෘවරයා දීර්ඝායුෂ්ක වූයේ නමුත් ජරාමරණ සොක පරිදෙව දුක් දොම්නස් උපායාසවලින් නො මිදුනේ ම විය. දුකින් නො මිදුනේ ම විය. ඒ කුමක් නිසා ද? කරුණු සතරක් පිළිබඳව නො දන්නා නිසා ය. එනම් ආර්‍යශීලයත්, ආර්‍යසමාධියත්, ආර්‍යප්‍රඥාවත් ආර්‍යවිමුක්තියත් යන සතරයි. **''මහණෙනි, මවිසින් ආර්‍යශීලය අවබෝධ කරන ලද්දේ ය. ආර්‍යසමාධිය අවබෝධ කරන ලද්දේ ය. ආර්‍යප්‍රඥාව අවබෝධ කරන ලද්දේ ය. ආර්‍යවිමුක්තිය අවබෝධ කරන ලද්දේ ය.''**[1]

කොතෙක් දීර්ඝායුෂ ලැබුවත් ජරාමරණ දුක නිම නො වේ නම් කළයුත්තේ වහ වහා සදහම් පිළිවෙතට බැසිම ය. ශ්‍රද්ධාව පිහිටුවීමට සම්‍යක් සම්බුදුවරයන් වහන්සේ නමකගෙන් මෙ පිට අන් ශාස්තෘත්වයක් නැත. සසර තුළ නියත සතුටු දායක බවක් නැත. කල්ප දහස් ගණන් ආයුෂ ඇති අරූපාවචර තලයෙහි වෙසෙන සත්වයෙකු වුව ද, පුහුදුන් අයකු නම් ඒ දෙවිවරුන්ට හිමි ආයුෂ ප්‍රමාණය යම්තාක් ද ඒ ආයුෂය ගෙවීමෙන් නිරයට වුව ද වැටෙයි. තිරිසන් යෝනියට වුව ද වැටෙයි. ප්‍රේත විෂයයට වුව ද වැටෙයි.[2]

සසරේ බියකරු බව එ බඳු ය. නිවැරදි ශාස්තෘත්වයත්, දහම

1. ''තයිදං භික්ඛවෙ අරියසීලං අනුබුද්ධං පටිවිද්ධං. අරියොසමාධි අනුබුද්ධො පටිවිද්ධො. අරියාපඤ්ඤා අනුබුද්ධා පටිවිද්ධා. අරියාවිමුත්ති අනුබුද්ධා පටිවිද්ධා...''
අං: නි: 4, සත්තසුරියුග්ගමන සූත්‍රය, 434 පිට, බු: ජ: මු:
2. ''තත්ථ පුථුජ්ජනා යාවතායුකං ඨත්වා යාවතකං තෙසං දෙවානං ආයුප්පමාණං තං සබ්බං ඛෙපෙත්වා නිරයම්පි ගච්ඡති. තිරච්ඡාන යොනිම්පි ගච්ඡති. පෙත්තිවිසයම්පි ගච්ඡති.''
අං: නි: 1, 478 පිට, බු: ජ: මු:



දැනගැනීමට සුදුසු අවකාශයත් මගහැරී යාමට ඇති ඉඩ වැඩි ය. අප තවමත් සසර සිටින්නේ එනිසා ම ය. සසුන ඇසුරට පත්ව සිටියත් දහම් මග නො ඇරඹුනහොත් එය අභාග්‍යයකි. උදා වී ඇති ක්ෂණ සම්පත්තිය අප පිණිස ය. සසුන් බඹසරට අවකාශ නො ලබන අවස්ථා අටක් අක්ඛණ සූත්‍රයෙහි දැක්වේ.

1. තථාගතයන් වහන්සේ ලොව පහළ වී සිටිති. සම්බෝධියට පමුණුවන මාර්ගඥාන සංඛ්‍යාත ධර්මය ද දේශනා කරති. එහෙත් එසමයෙහි පුද්ගලයා නිරයෙහි ඉපදී සිටි නම් එය බඹසරට අවකාශ නො ලබන සමයයි.
2. බුද්ධෝත්පාදයත් සද්ධර්මයත් පවත්නා නමුත් පුද්ගලයා තිරිසන් යෝනියෙහි උපත ලබා සිටි නම් එය ද බඹසරට අනවකාශ කාලයයි.
3. බුද්ධොත්පාදයත් සද්ධර්මයත් පවත්නා නමුත් පුද්ගලයා ප්‍රේතාත්ම භාවයක උපත ලබා සිටී නම් එය ද බඹසරට අනවකාශ කාලයයි.
4. බුද්ධෝත්පාදයත් සද්ධර්මයත් පවත්නා නමුත් පුද්ගලයා දීර්ඝායුෂ්ක දේවනිකායක උපත ලබා සිටී නම් එය ද බඹසරට අනවකාශ කාලයයි.
5. බුද්ධෝත්පාදයත් සද්ධර්මයත් පවත්නා නමුත් භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා සිව්පිරිසෙන් තොර අඥාන මිලෙච්ඡ මිනිසුන් සිටින දේශයක උපත ලබා සිටී නම් එය ද සසුන් බඹසරට අනවකාශ කාලයයි.
6. බුද්ධොත්පාදයක, සද්ධර්මය ඇති, සිව්පිරිස ද වෙසෙන දේශයක උපතා ලබා සිටියත් කර්මවිපාක නො අදහන මෙලොව පරලොව නො අදහන, නිවැරදි මගට පිළිපන් මහණබමුණන් නැතැයි

සිතන මිසදිටුවකු වේ නම් එය ද සසුන් බඹසරට අනවකාශ කාලයයි.

7. බුද්ධෝත්පාදයක සද්ධර්මය ඇති සමයක මධ්‍ය දේශයේ උපන්න ද සුභාෂිතයෙහි හා දුර්භාෂිතයෙහි අර්ථ දැනගන්නට අසමත් කෙළතොලු දුශ්ප්‍රාඥයකු වේ නම් එය ද සසුන් බඹසරට අනවකාශ කාලයයි.

8. බුද්ධෝත්පාදයක් නො වන, සද්ධර්මය නො දෙසන සමයක පුද්ගලයෙක් මධ්‍ය දේශයෙහි සිටිය ද, සුභාෂිත දුර්භාෂිත දෙක්හි අරුත් දැනීමට සමත් ප්‍රඥාවන්තයකු ලෙස උපන්න ද එය සසුන් බඹසරට අනවකාශ කාලයයි.[1]

එසේ නමුත් ගෞතම බුද්ධෝත්පාදයෙහි වෙසෙමින්, තථාගතප්පවේදිත ධර්මය තිබිය දී, තෙරුවන ඇසුරු කිරීමට අවකාශ තිබිය දී, සුභාෂිත දුර්භාෂිත හඳුනාගැනීමට සමත් නුවණක් ඇතිව සිටත් දුර්ලභ ක්‍ෂණ සම්පත්තිය ඉක්මවුව හොත් එය සංවේග දායක ය.

---

1. ''අං: නි: 5, අක්ඛණ සූත්‍රය, 128 - 132 පිටු, බු: ජ: මු:



# 3

# මාර අණසක

''මාර'' යනු නිවනට විරුද්ධ බලවේගයයි. සසර සැරිසැරීම යනු මාරඅණසකට යට වී සිටීමයි. මාරඅණසකට යට වීම යනු මරණ ස්වභාවයට පත්වීම ලෙස කෙනකු සිතනු ඇත. සැබෑ අරුත සංසාරික සත්වයා මාරවිෂයය ඇසුරෙන් මමත්වයක් මවාගෙන, මාර විෂයයට අයත් දේ මගේයයි සිතමින් මුළා වී සිටීමයි. මේ ස්වභාවය නො දකින පුද්ගලයා මිය යන්නේ භවයට ම ඇදෙන මනසකිනි. මාරඅණසකට යටවීම යනු එයයි.

**''මහත් දියකඳක් නින්දේ පසුවන ගමක් ගෙන යන්නා සේ මාරයා දූදරුවන් ගවමහීෂාදීන් නිසා මත් වූ ගිජුසිත් ඇති මිනිසා රැගෙන යයි.''[1]**

මෙහි අවධාරණය වන්නේ මරණයට පත්වීම පිළිබඳව නො වේ. මාරවිෂයයට අයත් දෙයින් මගේ යයි මුළාවට පත් වූ පුහුදුන් බවයි. පුහුදුන් මරණය භවයට ම ඇදෙන බැවින් තමාට තමා පිළිබඳව මෙහෙයැවීමක් නැත. බොහෝ විට ඇදෙන්නේ කාමභවයෙහි අඳුරු තලයන්ට ය.

**''මාරයාගේ ආධිපත්‍යයට යටත් වූවහුගේ රැකවරණය සඳහා එන දරුවෝ ද නො වෙති. මව්පියෝ ද නැත. නෑයෝ ද නැත. නෑයන්ට ඔහු රැකගත නො හැකි ය.''[2]**

---

1. ''තං පුත්තපසු සම්මත්තං - බ්‍යාසත්තමනසං නරං
සුත්තං ගාමං මහොඝො' ව - මච්චු ආදාය ගච්ඡති.''
ධම්මපද, මග්ගවග්ග, 15 ගාථාව
2. ''න සන්ති පුත්තා තාණාය - න පිතා න'පි බන්‍ධවා
අන්තකෙනාධිපන්නස්ස - නත්ථි ඤාතිසු තාණතා''
ධම්මපද, මග්ගවග්ග 16 ගාථාව

මෙ තැන රැකගැනීම යනු මිය යා නො දී රැකගැනීම නො වේ. මාරවිෂයයට නතු වූ අයකු භවයට නො ඇදෙන ලෙස රැකගැනීමයි. එවන් රැකවරණයක් සැලසිය හැකි නො වේ.

**''මේ අයුරින් තමාට පිහිට වන්නකු නැතැයි දැනගෙන නුවණැත්තා සීලයෙන් සංවරව නිර්වාණගාමී මාර්ගය වහා පිරිසිදු කරන්නේය.''[1]**

මාරවිෂයයට නතු වී සිටින පුද්ගලයාට තමා උදෙසා රැකවරණය සලසා ගැනීමට නො හැකි නම් අනෙකකුගේ රැකවරණය අපේක්ෂා කිරීමට ද නො හැකි නම් කළයුතු දෙය වන්නේ සීලයත්, සමාධියත්, ප්‍රඥාවත් වැඩීමයි. නිවන්මගට පිවිසීමයි. ඒ සඳහා නිවැරදිව කටයුතු කිරීමට නම් මාර සහ මාරවිෂයය හඳුනා ගතයුතුය.

### මාර සහ මාරවිෂයය :

සත්ත්වයා මාරවිෂයයට ම නතු කරන මාරබලවේග දසයකි. දසමරසෙන් වශයෙන් පධාන සූත්‍රයෙහි මේ කරුණ සඳහන් වේ.

01. කාමය : පඤ්චකාමගුණයන් අනුව සංකල්පීය වශයෙන් ගොඩනැගෙන රාගය.
02. අරති : නිවන් කුශලතා වැඩීමට ඇති උකටලී බව.
03. ඛුප්පිපාසා : සා, පිපාසා දෙක.
04. තණ්හා : සවැදෑරුම් ඉන්ද්‍රියයන් අනුව

1. ''එතමත්ථවසං ඤත්වා - පණ්ඩිතො සීලසංවුතො.
නිබ්බානගමනං මග්ගං - ඛිප්පමෙව විසොධයෙ.''
එම, 17 ගාථාව.



ලැබෙන විඳීම් ලුහුබැඳීම.

05. ථීනමිද්ධ : කුශලයට නො නැමෙන ලෙස කය සිත දෙක්හි ඇති අකර්මණ්‍යතාව.
06. භීරු : බියසුලු බව. භය පවතින්නේ කාමය ඇති තැනයි. (භයන්ති භික්ඛවෙ කාමානමෙතං අධිවචනං)
07. විචිකිච්ඡා : කුශල පිළිවෙතක් වැඩිය යුතු බවට නිසැක පැහැදිලි කමක් නොමැති කම. (කුසලෙසු ධම්මෙසු විචිකිච්ඡති)
08. මක්ඛ, ථම්භ : ගුණ නසන බව හා තද බව.
09. මිථ්‍යා යසස : වැරදි මගින් ලබන ලාභ, ප්‍රශංසා, සත්කාර
10. අත්තුක්කංසන හා පරවම්භන : තමා හුවා දක්වමින් අනුන් හෙළා දැකීම.[1]

මේ දසමාර සේනාවයි. සංසාර සත්ත්වයා මේ දසමාර බලයට යට වී සිටියි. සද්ධර්මය නොමැති නම් නැගිටීමක් නැත. සත්ත්වයා දසමාර බලයට නතු කිරීමට මාරපාසයක් අටවා තිබේ. චක්ෂුර්විඥෙය රූපය මළපුඩුවයි. ශ්‍රෝතවිඥෙය ශබ්දයත්, ඝ්‍රාණවිඥෙය ගන්ධයත්, ජිව්හාවිඥෙය රසයත්, කායවිඥෙය ස්පර්ශයත්, මනෝවිඥෙය ධර්මත් මළපුඩු යි. මේ පිළිබඳ සුගත්

1. ''කාමා තෙ පඨමා සෙනා - දුතියා අරති වුච්චති,
තතියා ඛුප්පිපාසා තෙ - චතුත්ථී තණ්හා පවුච්චති

පඤ්චමී ථීනමිද්ධං තෙ - ඡට්ඨා භීරු පවුච්චති,
සත්තමී විචිකිච්ඡා තෙ - මක්ඛො ථම්භො තෙ අට්ඨමී,

ලාභො සිලොකො සක්කාරො - මිච්ඡා ලද්ධො ච යො යසො,
යොච'ත්තානං සමුක්කංසෙ - පරෙ ච අවජානති.''
සුඃ නිඃ පධාන සූත්‍රය, 438, 439, 440 ගාථා, 128 පිට, බුඃ ජඃ මුඃ

දෙසුම මෙයයි. **''මහණෙනි, මිහිරි, කැමති, මනවඩන, ප්‍රිය ස්වභාව ඇති, කාමූපසංහිත වූ, ඇලුම් ඇති කරවන රූප ඇත. ඉදින් භික්ෂුව එය පිළිගන්නේ ද, ගුණ කියන්නේ ද, ගැලීසිටින්නේ ද ඒ භික්ෂුව මාරයාගේ වාසස්ථානයට ගියේ, මරුවසඟයට ගියේ, මරුගේ මළපුඩුවෙන් වෙලුනේ යයි කියනු ලැබේ. මාර බැම්මෙන් බැඳුණ ඔහු මාරයා විසින් කැමැත්තක් කරනු ලැබිය හැක්කේ වෙයි.''**[1]

ඉන්ද්‍රිය හයට ම අයත් විශ්‍රෙය ධර්ම ඇසුරෙන් මේ මාර බැඳුම සිදු වෙමින් තිබේ නම් සසර පවතිනවා යනු එයයි. සංසාර සත්ත්වයා මේ ඉන්ද්‍රිය විශ්‍රෙය රූප ශබ්දාදිය තමාගේ යයි සිතා සිටියි. තමාට අයත් නො වන දෙයක් තමාගේ යයි සිතා සිටීම කොතරම් මුළාවක් ද? කොතරම් අසරණ වීමක් ද? වරක් මාරයා බුදුරජාණන් වහන්සේට මෙසේ අභියෝග කළේ ය.

**''ශ්‍රමණය, ඉන්ද්‍රිය සයත් අරමුණු සයත් සම්ඵස්සවිඤ්ඤාණ සයත් මගේ ය. ශ්‍රමණය, කොහි ගොස් මගෙන් මිදෙන්නේ ද?''** එහි දී බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළහ. **''පවිට, ඉන්ද්‍රිය සයත් අරමුණු සයත් සම්ඵස්සවිඤ්ඤාණ සයත් තොපගේ ය. පවිට, යම් තැනෙක ඉන්ද්‍රිය සයත් අරමුණු සයත් සම්ඵස්සවිඤ්ඤාණ සයත් නොමැති ද එතැනට නුඹගේ ගමනක් නැත.''**[2]

1. ''සන්ති භික්ඛවෙ චක්ඛුවිඤ්ඤෙය්‍යා රූපා ඉට්ඨා කන්තා මනාපා පියරූපා කාමූපසංහිතා රජනීයා, තඤ්චෙ භික්ඛූ අභිනන්දති අභිවදති අජ්ඣොසාය තිට්ඨති. අයං වුච්චති භික්ඛවෙ භික්ඛු ආවාසගතො මාරස්ස, මාරස්ස වසංගතො, පටිමුක්කස්ස මාරපාසො., බද්ධො සො මාරබන්ධනෙන යථාකාමකරණීයො පාපිමතො.''
සං: නි: 4, මාරපාස සූත්‍රය, 194 පිට, බු: ජ: මු:
2. සං: නි: 1, කස්සක සූත්‍රය, 201 පිට, බු: ජ: මු:



මාර වසඟයට නො යන්නට නම් නිවන්මග වැඩිය යුතු ම ය. මාරයා යමක් මගේ යැයි කියන්නේ ද එය අපගේ නම් නො වේ. මාරවිෂයය භික්ෂුවට පරවිෂයයි. අගෝචරයයි. පරවිෂයෙහි හැසිරීම මාලුවාට ගොඩබිම මෙන් අගෝචර ය. මාලුවාට ගෝචර වන්නේ ජලාසයයි. ගොඩබිම ලූ මාලුවා මොහොතක් මොහොතක් පාසා දුකට ම හිමිකම් කියයි. අවසානයේ දුක සේ ම ජීවිතක්ෂයට පත් වෙයි. මාර විෂයෙහි හැසිරෙන සංසාර සත්ත්වයාගේ සිත මාරවිෂයය අත්හැරීමට ගොඩබිම ලූ මාලුවා මෙන් දඟලයි.[1] සිතට සහනය නිවන්මගයි. මාලුවාට ජලාසය මෙනි. මාලුවා දඟලන්නේ ගොඩබිම අතහරින්න ට ය. සිත දඟලන්නේ මාරවිෂයය අතහරින්නට ය. සසර තුළ සිතට සහනය සෙවීම යනු දුක තුළ සහනය සෙවීමයි. සත්වයාගේ අරමුණ ආයතන සය පිණවීමයි. එනිසා නිරතුරු අරමුණෙන් අරමුණට පනියි. සිතෙහි ස්පන්දනය එයයි. දිගු සසර සිදු වූයේ මීට වැඩි යමක් නො වේ. මාරවිෂයය හෙවත් පරවිෂයය තමා සතුකරගැනීමට තවදුරටත් වැයම් කිරීම කොතරම් අභාග්‍යයක් ද?

## පරවිෂයය අනාරක්ෂිතයි:

පෙර එක් ගිජුලිහිණියක් සැහැසිව අවුත් එක්තරා කැටකුරුල්ලකු අල්ලා ගත්තා ය. ගිජුලිහිණිය විසින් ඩැහැගනු ලබන කල්හි කැටකුරුල්ලා ''අපි ගෝචර විෂයයෙහි හැසිරෙන්නේ නැතිව පරවිෂයයෙහි හැසිරන නිසා අපි ම අවාසනාවන්ත වීමු. අපි ම පින් මඳ වීමු. අපි ගෝචර වූ පියඋරුමයෙහි හැසිරුනෙම් නම් ගිජුලිහිණිය ඩැහැගන්නේ නැනෙ.'' කියමින් වැළපුනේ ය.

1. ''වාරිජෝ'ව ථලෙ ඛිත්තො - ඔකමොකත උබ්භතො
පරිප්ඵන්දතිදං චිත්තං - මාරධෙය්‍යං පහාතවෙ.''
ධම්මපද, චිත්ත වග්ගය, 2 ගාථාව.

''අනේ කැටකුරුල්ලෝ, කියාපන් බලන්න නුඹේ ඔය පියඋරුමය තියෙන්නෙ කොහෙද කියල'' ගිජුලිහිණිය උපහාසයෙන් විමසුවා ය.

''අර නගුලෙන් හාල තියෙන කුඹුරෙහි පස්කැට නැගි තැන'' යි යනුවෙන් කුරුල්ලා උත්තර දුන්නේ ය.

බලයෙන් උදම් වී සිටි ගිජුලිහිණිය තමාගේ ශක්තිය ගැන පුරසාරම් කියමින් ''පලයන් එහෙනම්, උඹේ පියඋරුමයේ දී වුනත් උඹට මගෙන් බේරුමක් නෑ''යි පවසමින් කැටකුරුල්ලා අතහැරියා ය.

අනතුරුව කැටකුරුල්ලා නගුලෙන් සාන ලද කෙතෙහි ලොකු මැටිකැටයක් මත නැගී ''ලිහිණිය දැන් වරෙන්, ලිහිණිය දැන් වරෙන්'' කියමින් සිටියේ ය. සිය ශක්තියෙන් උදම් ව සිටි ලිහිණිය පියාපත් විදා සැහැසිව වේගයෙන් පැමිණියා ය. තමා ආසන්නයට ම එන්නට පෙර කැටකුරුල්ලා පස්කැටය යටට මුවා වූයේ ය. ගිජුලිහිණිය පස් කැටයේ ගැටී ළය තලාගත්තා ය. මේ බුදුරජාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලා ට පරවිෂයයෙහි හැසිරීමේ අනාරක්ෂිත බව පහදා දීමට ඉදිරිපත් කළ පුංචි කථාවකි. තමාගේ ආරක්ෂාව තමාගේ විෂය සීමාව තුළ ය. ඉන් බැහැර වුවහොත් විපත අත ළඟ ය. සකුණග්ඝි සූත්‍රයේ දී බුදුරජාණන් වහන්සේ මෙසේ වදාරති.

**''මහණෙනි, එහෙයින් මෙහි ලා අගෝචර වූ පරවිෂයයෙහි නො හැසිරෙන්න. මහණෙනි, අගෝචර වූ පරවිෂයයෙහි හැසිරෙන කල්හි මාරයා බැසගැන්මට ඉඩ ලබන්නේ ය. මාරයා අරමුණු ලබන්නේ ය. මහණෙනි, භික්ෂුවට අගෝචර වූ පරවිෂයය කුමක් ද? මේ පංචකාම ගුණයයි. ඒ පංචකාම ගුණය නම් කවරේ ද? රුචි වූ, කැමති, මනවඩන, ප්‍රිය වූ, කාමූපසංහිත, ඇලුම් කටයුතු චක්ෂුර්විඥෙය රූප, ශ්‍රෝතවිඥෙය ශබ්ද, ඝ්‍රාණවිඥෙය ගන්ධ,**



**ජිව්හාවිඥෙය රස, කායවිඥෙය ස්පර්ශ ය. මහණෙනි, මේ භික්ෂුවට අගෝචර වූ පරවිෂයයි.**[1]

**පරවිෂයට නතු වීමේ අවදානම :**

කාමයෙන් හා අකුශලයෙන් තොර ප්‍රීති සුවයක් මුලින් ම හඳුනා ගන්නේ සමාධි භාවනා තුළින් ය. ඉන් මෙ පිට ඇති සියලු ප්‍රීති සුවයන් පසිඳුරන්ට ම බැඳුන ඒවා ය. එතැන ඇත්තේ පරවිෂයයට නතු වීමයි. ජීවිතයක වටිනාකම දතයුත්තේ සැප සම්පත්, උගත් කම් පදවි ධානාන්තර අනුව නො වේ. මියයන මොහොත අනුවයි. එය යහපත් වන්නේ දුගතිභය විමුක්ත සම්බෝධි පරායණ මනසක් ඇති විටයි. මියයන මොහොතේ පවත්නා කර්මවිඥානයේ ස්වභාවය අනුව සුගතියට හෝ දුගතියට යොමු වීම ධර්මතාවයි. හානගාමී නො වන උඩුහුරුව යන සුවිශේෂ මරණයකට හිමිකම් කිව හැක්කේ ත්‍රිශික්ෂාවෙහි අපේක්ෂා ඇතිව නිවන් පිළිවෙත අරඹා ඇත්නම් පමණි. එසේ නො වුවහොත් පූර්ණ වශයෙන් ක්‍රියාත්මක වන්නේ මාරඅණසකයි. පුහුදුන්ව ලබන කවර සුගතිගාමී වීමක් වුව ද මාර මෙහෙයවීමක් ම ය. වරක් බුදුරජාණන් වහන්සේ අනුරුද්ධ හිමියන්ට මෙසේ වදාළහ.

**''කාමයෙන් අකුශලයෙන් තොර ප්‍රීති සුවයක් හෝ ඊට වැඩි ශාන්ත සුවයක් නො ලබන්නහුගේ සිත අභිජ්ඣාවෙන් මැඩ සිටියි. ව්‍යාපාදයෙන් මැඩ සිටියි. ථීනමිද්ධයෙන් මැඩ සිටියි. උද්ධච්චකුක්කුච්චයෙන් මැඩ සිටියි. විචිකිච්ඡාවෙන් මැඩ සිටියි.**

---

1. ''තස්මාතිහ භික්ඛවෙ මා අගොචරෙ චරිත්ත පරවිසයෙ. අගොචරෙ භික්ඛවෙ චරතං පරවිසයෙ ලච්ඡති මාරො ඔතාරං. ලච්ඡති මාරො ආරම්මණං. කො ච භික්ඛවෙ, භික්ඛුනො අගොචරො පරවිසයො: යදිදං පඤ්චකාමගුණා. කතමෙ පඤ්ච : චක්ඛුවිඤ්ඤෙය්‍යා රූපා ඉට්ඨා කන්තා මනාපා පියරූපා කාමූපසංහිතා රජනීයා. සොතවිඤ්ඤෙය්‍යා සද්දා..... ඝානවිඤ්ඤෙය්‍යා ගන්ධා.......ජිව්හාවිඤ්ඤෙය්‍යා රසා..... කායවිඤ්ඤෙය්‍යා පොට්ඨබ්බා අයං භික්ඛවෙ භික්ඛුනො අගොචරො පරවිසයො.''
සං: නි9 5 (1), සකුණග්ඝි සූත්‍රය, 268 පිට, බු: ජ: මු:

**කුශලය වැඩීමේ උකටලී බවින් මැඩ සිටියි. අලස බවින් මැඩ සිටියි''**[1]

ප්‍රථම ධ්‍යානය හෝ ඊට වැඩි ශාන්ත සුවයක් අත් නො දකින පුද්ගලයා නීවරණයන්ට යට වූ අයෙකි. අධිකුශල ධර්මයෙහි ඇල්මක් නැත. කුශලයෙහි අලස ය. ආනාපානසතියට යොමු වෙමින් මනස පංචකාමයෙන් නිදහස් වන විට මතු වන්නේ මනසට ම හිමි සුව සහනයයි. ආනාපානසති සමාධිය යනු ප්‍රථමධ්‍යානයෙහි ආරම්භක අවස්ථාවයි. මෙසේ අරඹා දියුණු කරගත යුතු සමාහිත සිත විදසුන් වැඩීමට සුදුසු වෙයි. සමාධි ප්‍රඥා නොමැති තැන නීවරණයන්ට නතු වීම ඇති බැවින් සීලය පවත්වා ගැනීම අපහසු ය. පුහුදුන් සිත පරවිෂයෙහි හැසිරෙන බැවිනි. මෙහි දී ආදිත්තපරියාය තේරුම් ගැනීම වැදගත් ය. **''මහණෙනි, මම නුඹලාට ආදිත්තපරියායය නම් වූ දහම් නය දේශනා කරමි. චක්ඛුවිඤ්ඤාණයෙන් දතයුතු රූපයන්හි අනුව්‍යඤ්ජන වශයෙන් නිමිති ගැනීම සුදුසු නැත. ගිනිගෙන දිලිසෙන යකඩ කූරකින් ඇස පිරිමැදීම ඊටවඩා හොඳ ය. නිමිත්තෙහි ආශ්වාදයෙන් බැඳුන හෝ අනුව්‍යඤ්ජනයන්හි ආශ්වාදයෙන් බැඳුන හෝ කර්මවිඥානය පවතින අවස්ථාවෙහි මිය යන්නේ නම් නිරය, තිරිසන්යෝනිය යන දෙගතියෙන් එකකට වැටෙන්නේ ය යන කරුණ විද්‍යාමාන ය. මේ ආදීනවය දැක මම මෙසේ කියමි.''**[2]

මේ අයුරින් රත් වූ යකඩ උලකින් කන පිරිමැදීමත්, රත් වූ

1. ''විවෙකං අනුරුද්ධ කාමෙහි විවෙකං අකුසලයෙහි ධම්මෙහි පීතිසුඛං නාධිගච්ඡති අඤ්ඤං වා තතො සන්තතරං. තස්ස අභිජ්ඣාපි චිත්තං පරියාදාය තිට්ඨති. බ්‍යාපාදොපි... ථීනමිද්ධම්පි.... උද්ධච්චකුක්කුච්චම්පි.... විචිකිච්ඡාපි.... අරතීපි..... තන්දිපි.... චිත්තං පරියාදාය තිට්ඨති.''
මඃ නිසඃ 2, නළකපාන සූත්‍රය, 218 පිට, බුඃ ජඃ මුඃ

2. ''වරං භික්ඛවෙ තත්තාය අයොසලාකාය ආදිත්තාය සම්පජ්ජලිතාය සජොතිභූතාය චක්ඛුන්ද්‍රියං සම්පලිට්ඨං, නත්වෙව චක්ඛුවිඤ්ඤෙය්‍යෙසු රූපෙසු අනුබ්‍යඤ්ජනසො නිමිත්තග්ගාහො.
නිමිත්තස්සාදගථිතං වා භික්ඛවෙ විඤ්ඤාණං තිට්ඨමානං තිට්ඨෙය්‍ය අනුබ්‍යඤ්ජනස්සාදගථිතං වා තස්මිං චෙ සමයෙ කාලං කරෙය්‍ය, ඨානමෙතං විජ්ජති යං ද්වින්නං ගතීනං අඤ්ඤතරං ගතිං ගච්ඡෙය්‍ය, නිරයං වා තිරච්ඡානයොනිං වා. ඉමං ඛ්වාහං භික්ඛවෙ ආදීනවං දිස්වා එවං වදාමි.''
සංඃ නිඃ 4, ආදිත්තපරියාය සූත්‍රය, 332 පිට, බුඃ ජඃ මුඃ



නියනකින් නාසය කැපීමත්, ගිනිගත් දැලිපිහියකින් දිව කැපීමත්, ගිනියම් සැතකින් කය සැසීමත් හොඳයයි බුදුරජාණන් වහන්සේ වදාරන්නේ ඒ ඉඳුරන්ගෙන් ලබන අරමුණු වල ආශ්වාදයෙන් බැඳෙන කර්මවිඥානය ඇති කල්හි මියගිය හොත් නිරයට හෝ තිරිසන් ගතියට හෝ වැටෙන නිසා ය.

මනින්ද්‍රිය පිළිබඳව සඳහන් කරන විට යම් පාප විතර්කයක් නිසා සංඝභේදය වැනි ක්‍රියාවක් කරන්නේ නම් වඩා හොඳ නිදාගැනීමයයි දක්වේ. නින්ද යනු ජීවිතයන්ට වඳ භාවයයි. ජීවිතයන්ගේ ඵල රහිත බවයි. ජීවිතයන්ගේ මුළාවයි.[1] එබඳු වූ නින්ද නිරයට තිරිසන් භවයට ගෙන යන පාපවිතර්ක ගොඩනගනවාට වඩා හොඳ ය. මේ කරුණු තුළින් බුදුරජාණන් වහන්සේ බලාපොරොත්තු වන්නේ මාරඅණසකෙහි ප්‍රබලත්වය පැහැදිලි කර දීමයි. එමගින් නිවන් පිළිවෙතෙහි දිරිගැන්වීමයි. සාමාන්‍ය පුද්ගලයාගේ ස්වභාවය ඉන්ද්‍රිය අත්දැකීම් ඔහේ ලැබෙන්නට හරිමින් පෙනෙන ඇසෙන ආඝ්‍රාණය වෙන රස දැනෙන ස්පර්ශවෙන කල්පනාවෙන විට සැකසෙන සිත්රටා ගැන නො විමසා තණ්හා උපාදාන කරමින් සිටීමයි. එහි දී සිදු වන්නේ භව දුකට ම ඇදීම විනා අන් යමක් නො වේ. එබඳු පුද්ගලයාගේ මරණ මොහොත අසරණ ය. හානගාමී ය. විසේසගාමී නො වේ. උපත වැඩි වශයෙන් අඳුරු තලයක ය. අධිශීලයෙහිත් අධිචිත්තයෙහිත් අධිප්‍රඥාවෙහිත් තීව්‍ර වූ අපේක්ෂා සහිතව කටයුතු කළයුත්තේ එබැවිනි. ඒ සඳහා භික්ෂුවගේ පියඋරුමය තේරුම් ගතයුතු ය. එහි හැසිරෙමින් පරවිෂය අත්හළ යුතු ම ය.

1. ''වරං භික්ඛවෙ සොත්තං, සොත්තං ඛො පනාහං භික්ඛවෙ වඤ්ඣං ජීවිතානං වදාමි. අඵලං ජීවිතානං වදාමි. මොමූහං ජීවිතානං වදාමි. න ත්වෙව තථාරූපෙ විතක්කෙ විතක්කෙය්‍ය යථාරූපානං විතක්කානං වසංගතො සංඝං භින්දෙය්‍ය. ඉමං ඛ්වාහං භික්ඛවෙ ආදීනවං දිස්වා එවං වදාමි.''
සංඃ නිඃ 4, ආදිත්තපරියාය සූත්‍රය, 334 පිට, බුඃ ජඃ මුඃ

# 4

# භික්ෂුවගේ පියැරුමය

සසරට අයත් සුගති, දුග්ගති සියලු පැවතුම් ඵස්සායතන සම්බන්ධතාවෙන් යුක්ත නම් ඵස්සායතන නැති කල්හි සසරක් ද නැත. ඵස්සායතන යනු අරමුණු ස්පර්ශයෙහි සම්බන්ධ චක්ඛු සෝතාදී ආයතනයි. ඵස්සායතන සියල්ල මාරවිෂය යි. පරවිෂය යි. පරවිෂයයන්ගෙන් මිදීමට වැඩිය යුතු සතිපට්ඨානය ස්වවිෂය යි. පියඋරුමයයි. (පෙත්තික දායජ්ජං) මේ පිළිබඳව බුදුරජාණන් වහන්සේ මෙසේ වදාරති.

**''මහණෙනි, ගෝචර වූ සිය පියා සතු විෂයයෙහි හැසිරෙව්. මහණෙනි, ගෝචර වූ සිය පියා සතු විෂයෙහි හැසිරෙන්නවුන් පිළිබඳ මාරයා අවකාශ නො ලබයි. මාරයා අරමුණක් නො ලබයි. මහණෙනි, මහණ හට ගෝචර වූ සිය පියා සතු විෂයය කුමක්ද? මේ සතර සතිපට්ඨානයයි.''[1]**

**සෙඛ භිකෂුව :**

''සෙඛ'' යනුවෙන් හඳුන්වන්නේ සදහම් පිළිවෙතට පිළිපන් පුද්ගලයා ය. සදහම් පිළිවෙත පූර්ණත්වයට පත් කළ රහතන් වහන්සේ ''අසෙඛ'' නාමයෙන් හැඳින්වේ. වරක් සැරියුත්

1. ''ගොචරෙ භික්ඛවෙ, චරථ සකෙ පෙත්තිකෙ විසයෙ. ගොචරෙ භික්ඛවෙ චරතං පෙත්තිකෙ විසයෙ න ලච්ඡති මාරො ඔතාරං, න ලච්ඡති මාරො ආරම්මණං. කො ච භික්ඛවෙ භික්ඛුනො ගොචරො සකො පෙත්තිකො විසයො. යදිදං චත්තාරො සතිපට්ඨානා.''
සං: නි: 5 (1), සකුණග්ඝි සූත්‍රය, 270 පිට, බු: ජ: මු:



හිමියෝ අනුරුද්ධ හිමියන්ගෙන් සේඛයෙකු වන්නේ කොපමණකින් දැ'යි ප්‍රශ්න කළහ. **''ඇවැත්නි, සතර සතිපට්ඨානයෙන් කොටසක් වැඩූ බැවින් 'සේඛ' වෙයි''[1]** යනුවෙන් අනුරුද්ධ හිමියෝ පැවසූහ. සතිපට්ඨානයෙහි නියුක්ත නොවන තැන සේඛ බවක් නැත්නම් බලගතු වන්නේ මාරයායි. යටත්වීම නීවරණයන්ට ය. සතර සතිපට්ඨානය ප්‍රදේශ වශයෙන් වැඩූ සේඛ භික්ෂුව යනු සද්ධා, හිරි, ඔත්තප්ප, වීරිය, පඤ්ඤා යන පංචසේඛධර්ම සහිත භික්ෂුවයි. තමා ම තමා රැකෙන්නට දත්, ප්‍රමාදයට නො නිසි වන්නේ එවන් භික්ෂුවයි.[2]

**සේඛධර්ම නො වැඩෙන කල්හි:**

**පිණ්ඩොල්‍ය සූත්‍රයෙන්:**

වරක් බුදුරජාණන් වහන්සේ කිඹුල්වත න්‍යග්‍රෝධාරාමයෙහි වැඩ වෙසෙති. එකල කිසියම් කරුණක් නිසා (බුදුරජාණන් වහන්සේ සාක්‍යයන්ට දම් දෙසද්දී භික්ෂු පිරිස ආමිසයන් බෙදා ගැනීමට ගොස් සොෂා කිරීම නිසා බව අට්ඨකථාවේ දක්වා තිබේ.)[3] භික්ෂු සංඝයා බැහැර කර උන්වහන්සේ උදය කාලයේ පිඬු පිණිස වැඩ දන් වළඳා මහවනයට එළඹියහ. බෙලි ගසක් යට දිවා විහරණය කළහ. එහි තනිව සිටින භාග්‍යවතුන් වහන්සේට මෙ බඳු කල්පනාවක් ඇති විය.

1. ''චතුන්නං ඛො ආවුසො සතිපට්ඨානානං පදෙසං භාවිතත්තා සෙඛො හොති.''
සං: නි: 5 (1), පදෙස සූත්‍රය, 312 පිට, බු: ජ: මු:
2. ''අත්තගුත්තොදානි භික්ඛු නාලං පමාදාය.''
අං: නි: 3, කාමෙසුපලාළිත සූත්‍රය, 10 පිට, බු: ජ: මු:
3. සං: නි: අට්ඨකථා 2, 218 පිට, හේ: මු:

**''අලුත මහණ වූන සසුනට ආධුනික භික්ෂූහු ද සිටිති. මා නො දකින විට ඔවුන් මව්දෙන නො දකින වසුපැටවුන් මෙන් වෙනස් වීමට පිළිවන. සසුනෙහි අපේක්ෂා රහිත වීමට පිළිවන. දිය නොලබන තරුණ බීජ වෙනස් බවට පෙරළියට පත්වන්නා සේ අලුත පැවිදි වූවන් සසුනට ආධුනිකයන් බැවින් වෙනස් වන්නට පිළිවන. මා විසින් පෙර යම් සේ සංඝයාට අනුග්‍රහ දක්වන ලද ද දැනුත් එසේ කරන්නට සුදුසු ම ය.''** යනු ඒ කල්පනාවයි. භාග්‍යවතුන් වහන්සේ තුළ පවත්නා ශ්‍රාවක අනුකම්පාවේ ඇති ගැඹුර මේ සිතිවිල්ලෙන් ඉතා හොඳින් ප්‍රකට වෙයි.

අනතුරුව සවස් භාගයෙහි උන්වහන්සේ පෙරළා අරමට වැඩියහ. භික්ෂූන් රැස් කරවූහ. භික්ෂූන් වහන්සේලා බයාදු ගතියෙන් එක් නම දෙ නම පැමිණ වැඳ එකත්පසෙක හුන්හ. භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළහ.

''මහණෙනි, පිණ්ඩාහාරයෙන් යැපීම ජීවිකාවක් අතර අන්තිමට ගැනෙන්නකි. පාත්‍රයක් ගත් අත් ඇතිව පිඬුපිණිස හැසිරීම යන මේ කරුණ ලෝකයේ විශේෂයෙන් ශාපයට ලක් වූවකි. එහෙත් සසුන් වන් කුලපුත්‍රයින් පිණ්ඩාහාරයෙන් යැපෙන්නේ හේතුවක් ඇතිව ය. රජුන් විසින් ධනය පවරාගත් නිසා නොවේ. භයින් පෙළුනකු නිසා ද නො වේ. ජීවිකාවට මගක් නැති නිසා ද නො වේ. සොරුන් විසින් ධනය පැහැරගත් නිසා ද නො වේ. ණයෙන් පෙළුනකු නිසා ද නො වේ. ජාති ජරා මරණ සෝක පරිදේව දුක් දොම්නස් උපායාස සහිත සසරෙහි බැසගත් අයකු බැවින් ය. එයින් ලබන පීඩාවන්ගෙන්, සමස්ත දුක් සමූහයෙන් මිදීමක් ඇත්නම් ඒ සඳහා ය.

පැවිදි කුලපුත්‍රයා අභිජ්ඣාවෙන් යුතු නම්, කාම වස්තුවෙහි තීව්‍ර වූ රාග ඇත්තේ නම්, ව්‍යාපාද සිතින් යුක්ත නම්, සිහිමුළා වී සිටී නම්, සතිසම්ප්‍රජන්‍යය නැතිනම්, භාවිතින්ද්‍රිය නො වේ නම් ඒ පුද්ගලයා කැලයේත් ගමේත් දර සංඛ්‍යාවට නො වැටෙන දෙකෙළවර ගිනිගත් මැද අසූචියෙන් තැවරුණ දරකඩකට උපමා කරමි. ඔහු ගිහි භෝගයෙන් පිරිහුණේ ය. ශ්‍රමණත්වය ද නො පුරයි.[1]

මහණෙනි, අකුශල විතර්ක තුනකි. කාම, ව්‍යාපාද, විහිංසා යනුවෙනි. මේ අකුශල විතර්ක ඉතිරි නො වී නිරුද්ධ වන්නේ කොතැන දී ද? සතර සතිපට්ඨානය හෝ අනිමිත්ත සමාධිය හෝ වඩන කල්හි ය. මහණෙනි, අනිමිත්ත සමාධිය වඩන්නට නිසි ම ය. වඩන ලද අනිමිත්ත සමාධිය බහුලීකෘත වූයේ මහත් ඵල වෙයි. මහානිශංස වෙයි.

මහණෙනි, දෘෂ්ටීන් දෙකකි. භවදිට්ඨි, විභවදිට්ඨි වශයෙනි. ශ්‍රුතවත් ආර්‍යශ්‍රාවකයා මෙසේ සලකයි. යමක් උපාදාන කරගැනීම නිසා මම නිවැරදි වෙමියි කියා දෙයක් තිබේ ද, එවැන්නක් නැති බව නුවණින් දැනගනියි. උපාදාන කරන්නේ නම් රූප, වෙදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ උපාදාන කිරීම හේතුවෙන් භව ජාති ජරා මරණ සොක පරිදෙව දුක් දොම්නස් උපායාස ඇති වෙයි. මෙසේ මුලුමහත් දුකෙහි සමුදය වේ යයි සිතයි.

ඒ නිසා මහණෙනි, අතීත වූ ද අනාගත වූ ද ප්‍රත්‍යුත්පන්න වූ ද, ආධ්‍යාත්මික වූ ද බාහිර වූ ද, ඖළාරික වූ ද, සූක්ෂම වූ ද, හීන වූ ද, ප්‍රණීත වූ ද, දුර වූ ද, ළඟ වූ ද සියලු රූප වේදනාදී ස්කන්ධ 'මගේ නො වේ, මම නො වෙමි, මගේ ආත්මය නො වේ' යනුවෙන් ඇති සැටියෙන් මනා නුවණින් දතයුතු යයි වදාළහ.''

1. ''එවං පබ්බජිතො චා'යං භික්ඛවෙ කුලපුත්තො සො ච හොති අභිජ්ඣාලු කාමෙසුතිබ්බසාරාගො, බ්‍යාපන්නචිත්තො පදුට්ඨමන සංකප්පො, මුට්ඨස්සති අසම්පජානො, අසමාහිතො විබ්භන්තචිත්තො, පාකතින්ද්‍රියො, සෙය්‍යථාපි භික්ඛවෙ ඡවාලාතං උභතො පදිත්තං මජ්ඣෙ ගූථගතං නෙ'ව ගාමෙ කට්ඨත්තං ඵරති, නාරඤ්ඤෙ කට්ඨත්තං ඵරති, තථූපමාහං භික්ඛවෙ ඉමං පුග්ගලං වදාමි. ගිහීභොගො ච පරිහීනො සාමඤ්ඤත්තං ච න පරිපූරෙති.''
සං: නි: 3, පිණ්ඩොල්‍ය සූත්‍රය, 158 පිට, බු: ජ: මු:

සසුනෙහි වීර්යාරම්භ නො කරන්නේ නම් ගිහිභෝගයෙන් පිරිහී එක් පසෙකින් ගිනි ගෙන ය. ශ්‍රමණත්වය නො පුරන්නේ නම් අනෙක් පස ද ගිනිගෙන ය. කාම, ව්‍යාපාද, විහිංසා සිත් ඇති බැවින් මැද අසූචියෙන් තැවරුනේ ය. මේ පිය උරුමයෙහි නො හැසිරෙන විට සිදුවන දෙය ය. පියඋරුමය ප්‍රතික්ෂේප වුවහොත් වැටෙන්නේ පරවිෂයට ය. එය මාරපාක්ෂික නියෝජනයයි.

**දාරුක්ඛන්ධොපම සූත්‍රයෙන් :**

ගංගා නදියෙහි මහත් දර කොටයක් පා වී යනු දැක වරක් බුදුරජාණන් වහන්සේ භික්ෂූන් අමතා වදාළ දහම ද ඉතා වැදගත් ය. ගඟෙහි පා වෙන කොටය සයුරට නිම්නව ගලා යයි. එපරිද්දෙන් පුද්ගලයා නිර්වාණයට නිම්නව ක්‍රියා කළ යුතු ය. ගංගාව සසර නම් ගඟ විසින් ගෙනයනු ලබන දරකොටය වන්නේ පුද්ගලයා ය. දරකොටය ගඟෙහි මෙතෙරට නො එයි නම්, එතෙරට ද නො යයි නම් ගඟ මැද කිඳා නො බසියි නම්, ගොඩබිමට නො නැගේ නම්, මිනිසුන් විසින් ගනු නො ලබයි නම්, අමනුෂ්‍යයන් නො ගනියි නම්, සුළි වලට හසු නො වේ නම්, කුණු වී ගඟතුළ දිරාපත් නො වේ නම් ඒ දර කොටය මුහුදට ම යොමු වී ගමන්කර මුහුදට ම වැටෙයි.

භික්ෂුව ද නිවනට යොමුව ගමන් කරන්නට ඒ දරකොටය සේ නිදහස් විය යුතු ය. භික්ෂුවක් නිවනට නො පැමිණෙන්නේ කවර හේතු නිසා ද යන්නට  බුදුරජාණන් වහන්සේ මෙසේ කරුණු දක්වති.

1. ඇස, කන, නාසය, දිව, ශරීරය, මනස යන ආයතනයන්ට නතු වීම. මෙය මෙ තෙරයි. (ඔරිමං තීරං)
2. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම යන අරමුණු වලට ම නතු වීම. මෙය එ තෙරයි. (පාරිමං තීරං)
3. කාමතෘෂ්ණාවට නතු වීම නම් වූ නන්දිරාගයෙන් යුතුවීම. එය කිඳාබැසීමයි. (මජ්ඣෙසංසීදො)
4. 'මම වෙමි' යන මානයට පැමිණීම. එය ගොඩබිමට නැගීමයි. (ථලෙ උස්සාදො)
5. ගිහියන් හා මිශ්‍රවීම (ගිහීහි සංසට්ඨො), ගිහියන් හා සතුටු වීම (සහනන්දී), ගිහියන් හා ශෝක වීම (සහසොකී), සැපතට පත් ගිහියන් හා සැපතට පත් වීම (සුඛිතෙසු සුඛිතො), දුකට පත් ගිහියන් හා දුක් වීම (දුක්ඛිතෙසු දුක්ඛිතො), ගිහියන්ගේ වැඩකටයුතු වලට හවුල් වීම (උප්පන්නෙසු කිච්චකරණීයෙසු අත්තානං වොයොගං ආපජ්ජති) මේ මනුෂ්‍ය ග්‍රහණයට හසුවීමයි. (මනුස්සග්ගාහො)
6. ශීලයෙන් හෝ ව්‍රතයෙන් හෝ තපසින් හෝ දෙව්සැප පැතීම. මේ අමනුෂ්‍ය ග්‍රහණයට හසුවීමයි. (අමනුස්සග්ගාහො)
7. පංචකාමයෙහි ඇලී ගැලී සිටීම. මේ සුළියට හසුවීමයි. (ආවට්ටග්ගාහො)
8. දුසිල් වීම, ලාමක වීම (දුස්සීලො හොති පාපධම්මො), ක්‍රියා පිළිවෙළ අපවිත්‍ර වීම (අසුචි), හැසිරීම සැක ඇති කරවන සුලු වීම (සංකස්සරසමාචරො), සැඟවුණ කටයුතු ඇති බව (පටිච්ඡන්න කම්මන්තො), ශ්‍රමණයෙකු නො වී ශ්‍රමණයෙකු බව පිළිණ කිරීම (අස්සමණො සමණ පටිඤ්ඤො), බඹසර නො වැස බඹසර ඇත්තෙකැයි පිළිණ කිරීම (අබ්‍රහ්මචාරී බ්‍රහ්මචාරී පටිඤ්ඤො), ඇතුළත කුණු වීම (අන්තො පූති), කෙළෙස් වැගිරෙන බව (අවස්සුතො), කෙලෙස් කසට සහිත බව (කසම්බුජාතො) මේ ඇතුළත කුණුවීමයි. (අන්තො පූතිභාවො)[1]

මේ නීවරණයන්ට හසු වී ඇති තැන පවතින, මතුවන දුර්වලතා ය. පිළිවෙතෙහි වීර්යය නො අරඹා සිටීම දුක්සහගත වන්නේ එබැවිනි. මුහුදට නො ගොස් මග නතර වන දර කොටයක් සේ දහම්මග නොවඩන පැවිද්ද සසරම රඳවයි. ඉඳුරන්ට වසඟ නො

1. සං: නි: 4, දාරුක්ඛන්ධොපම සූත්‍රය, 352 පිට, බු: ජ: මු:

වේ නම්, අරමුණු වල වසඟ නො වේ නම්, නන්දිරාගයට නතු නො වේ නම්, මමත්වය බැහැර කරන්නේ නම්, මනුෂ්‍ය ග්‍රහණයට හසු නො වේ නම්, බඹසර වසන්නේ දෙව්සැප පතා නො වේ නම්, පංචකාමයෙහි නො දැවටේ නම්, ළාමක නො වේ නම් ඒ වීර්යාරම්භ කිරීමයි. එසේ නො වන තැන ඇත්තේ නිරතුරු පහළ වන උපාදානස්කන්ධ සිත් වලට නතු වීමයි. තෘෂ්ණාවේ වැඩීමයි. කර්ම බිහි වීමයි.

## වඳුරු ලාටු:

හිමවතෙහි වැද්දෝ වඳුරන් ඇල්ලීමට ඔවුන් යන එන මං වල ලාටු තවරති. බාලගති ලොල්ගති නැති වඳුරෝ ලාටු දැක ඉවත් වෙති. (ලෝලත්වය යනු ඕනෑම දෙයකට ඇඟිලිගසා හාරාඅවුස්සා බලන ගතියයි. එයින් ඉඩකඩ අමාරුවේ වැටීමට ම ය.) එහෙත් බාලගති ලොල්ගති ඇති වඳුරෝ වගවිභාගයක් නැතිව ඒ ලාටු අතින් ගනිති. අත ඇලෙන විට ගලවා ගැනීමට අනෙක් අත තබති. එය ද ඇලෙයි. දෑත් මුදවා ගන්නට ගොස් දෙපය ද අලවා ගනිති. දෑතත් දෙපාත් ඇලී ඇති බැවින් මුවින් වෑයම් කරති. මුහුණ ද ඇලේ. මෙසේ පස් තැනෙකින් ඇලෙන වඳුරා උවදුරට පැමිණියේ ව්‍යසනයට පැමිණියේ වැද්දා විසින් යම් කැමති පරිද්දක් කළහැකි වූයේ තතනමින් හොවියි. ''මහණෙනි, වැද්දා ඒ වඳුරා එහි දී ම විද අල්වා අතනොහැර කැමති දෙසකට ගෙන යයි. මහණෙනි, යමෙක් අගෝචර වූ පරවිෂයයෙහි හැසිරේ නම් ඔහුට ද එසේ ම වෙයි.[1].

මෙහි පස්පලින් ඇලීම යනු පංචකාමයෙහි ඇලීමයි.

1. ''තමෙනං භික්ඛවෙ ලුද්දො විජ්ඣිත්වා තස්මිං යෙ'ව මක්කටං උද්ධරිත්වා අවිස්සජ්ජෙත්වා යෙන කාමං පක්කමති. එවං හි තං භික්ඛවෙ, හොති යො අගොචරෙ චරති පරවිසයෙ''
සං: නි: 5 (1) මක්කට සූත්‍රය, 270 පිට, බු: ජ: මු:



පසිඳුරන් තිබේ නම් පංචකාමගුණික අරමුණු නිරතුරු මනසට යොමු වී පවතියි. එවන් අත්දැකීම් තලයක දහම්මග ඇරඹිය හැකි දැ'යි කෙනෙකු තුළ විමතියක් ඇති වීමට පිළිවන. දහම් ඇරඹෙන්නේ මේ මිනිස් පැවැත්මෙහි දී ම ය. බුදුවරයන් වහන්සේලා පහළ වන්නේත් දෙව් බඹුන් අතර නොව මේ මිනිස් තලයෙහි ම ය. භික්ෂුවගේ සිව්පසය අයත් වන්නේ ද පංචකාමගුණයට ය. භික්ෂු ජීවිතයට මේ සිව්පසය පරිහරණය කිරීම පිළිබඳ ආකල්පයක් තිබේ. එනම් ගිජු නො වී, මුළා නො වී, සිතින් සතුකර නො ගෙන, ආදීනව දක්නා නුවණින්, කවදා මුත් අතහරින දේ බව දැන පරිභෝජනය කිරීමයි.[1] ගෘහස්ථයා කම්සුව විඳිය යුත්තේ ද මේ ආකල්පයෙහි පිහිටාගෙන ම ය. ඉන් පිට පැනීම යනු මාරයාට කැමැත්තක් කිරීමට ඉඩ හැරීමකි.[2]

## සසුනේ පැවැත්ම සතර සතිපට්ඨානයේ පැවැත්මයි :

බුදුරජාණන් වහන්සේ වියපත් සමයෙහි බේලුව ගමේ වස් විසූ අවස්ථාවේ දැඩි සේ ගිලන් වූහ. උපස්ථායකයන් නො අමතා, භික්ෂූන්ට නො දන්වා පිරිනිවීම නො සුදුසු බව සළකා ජීවිත සංස්කාර අධිෂ්ඨානයෙන් ගිලන් බවින් නැඟී සිටියහ. විහාරයේ පසුපස හෙවනැල්ලේ අසුනක වැඩසිටි බුදුරජාණන් වහන්සේ වෙත එළඹි ආනන්ද හිමියෝ 'ස්වාමීනි, ඔබවහන්සේට ඉවසිය හැකි බව, යැපිය හැකි බව පෙනුනත් ඔබවහන්සේගේ ගිලන් බව හේතු කොටගෙන මගේ සිරුර තද වූවාක් මෙනි. දිශාවන් ද මට පැහැදිලි නැත. දහම ද මට නො වැටහේ. තව ද ස්වාමීනි, ඔබවහන්සේ තව ම භික්ෂු සංඝයාට අන්තිම අවවාදයක් නො කරන

1. ''......අගථිතො අමුච්ඡිතො අනජ්ඣාපන්නො ආදීනව දස්සාවී නිස්සරණපඤ්ඤො පරිභුඤ්ජති''
අං: නි: 2, අරියවංස සූත්‍රය, 56 පිට, බු: ජ: මු:
2. ''යථාකාමකරණීයො පාපිමතො''
ම: නි: 1, අරියපරියෙසන සූත්‍රය, 422 පිට, බු: ජ: මු:

සේක යන අස්වැසිලි මාත්‍රයක් මට ඇතැ'යි පැවසූහ.

''ආනන්ද, භික්ෂු සංඝයා මගෙන් බලාපොරොත්තු වන්නේ කුමක් ද? නො සඟවා මවිසින් ධර්මය දේශනා කරලයි තියෙන්නේ. තථාගත ධර්මයෙහි ආචාර්‍ය මුෂ්ටි නැත. ආනන්ද, මම භික්ෂු සංඝයා පරිහරණය කරන්නෙමි'යි කියා දෙයක්, භික්ෂු සංඝයා මා උදෙසා විය යුතුය'යි කියා දෙයක් නැත. තමා තමාට ම පිහිට කරගෙන වසන්න. කෙලෙස් තවන වීර්‍යයයෙන් යුතුව, ලෝකයෙහි ඇලීම් ගැටීම් වලින් තොරව සතර සතිපට්ඨානයෙහි නියැලෙන්න''[1] මේ බුද්ධාවවාදයයි.

සැරියුත් මහරහතන් වහන්සේගේ පිරිනිවීම අසා ආනන්ද හිමියෝ විපිළිසර භාවයට පත් වූහ. එහි දී බුදුරජාණන් වහන්සේ වදාරා ඇත්තේ මෙසේ ය. ''ආනන්ද, සැරියුත් ඔබගේ සීල, සමාධි, ප්‍රඥා, විමුක්ති, විමුක්තිඥානදර්ශන යන ස්කන්ධත් අරගෙන ද පිරිනිවියේ? නැහැ නේ ද? සියලු ප්‍රිය වස්තූන් වෙනස් වන බව වෙන් වන බව මුලින් ම කියා තිබෙනවා නේ ද? හේතු ප්‍රත්‍යයන්ගෙන් හටගත් දේ නො නැසෙනවා කියා දෙයක් නැත. ඒ නිසා තමා පිළිසරණ කොට ධර්මය පිළිසරණ කොට සතර සතිපට්ඨානයෙහි නියැලෙන්න.[2] බුදුරජාණන් වහන්සේ පිරිනිවියත් සද්ධර්මය විනාශ නො වී පවතින්නේ කවරක් ප්‍රත්‍යය කරගෙන ද? මේ ප්‍රශ්නය ඉදිරිපත් වන විට බුදුරජාණන් වහන්සේ දෙන පිළිතුර නම් සතර සතිපට්ඨානය නො වැඩීමෙන් බහුල නො කිරීමෙන් තථාගතයන් වහන්සේ පිරිනිවි කල්හි සද්ධර්මය චිරස්ථායි නො වන බව ය.[3] එබැවින් කවර යුගයක වුව ද සසුනේ අභිවෘද්ධියක් අපේක්ෂා

---

1. සං: නි: 5 (1) ගිලාන සූත්‍රය, 278 පිට, බු: ජ: මු:
2. සං: නි: 5 (1), චුන්ද සූත්‍රය, 292 පිට, බු: ජ: මු:
3. ''චතුන්නං ඛො ආවුසො සතිපට්ඨානානං අභාවිතත්තා අබහුලීකතත්තා තථාගතෙ පරිනිබ්බුතෙ සද්ධම්මො න චිරට්ඨිතිකො හොති.''
   සං: නි: 5(1), ඨිති සූත්‍රය, 308 පිට, බු: ජ: මු:



කරන්නේ නම් කළයුත්තේ පියඋරුමය වූ සතර සතිපට්ඨානය වැඩීම ය. ඒ බවට වාදයක් තිබිය නො හැකිය.

## චතුසතිපට්ඨානය :

''මහණෙනි, තමා දිවයිනක් කොට ගන්න. අන්සරණක් අපේක්ෂා නො කරන්න. ධර්මය දිවයිනක් කොට ගන්න. අන්සරණක් අපේක්ෂා නො කරන්න. එසේ අන්‍ය සරණකින් තොරව වාසය කරන්නේ කෙසේ ද?

## කායානුපස්සනා:

කර්මදායාද වශයෙන් අල්ලාගත් මේ කය ඇතිසැටියෙන් අවබෝධ කිරීම කායානුපස්සනාවයි. කායගතාසතියයි. එයට අයත් විෂය පථය කවරේදැයි හඳුනා ගැනීම අවශ්‍යය.

1. ආනාපානසතිය ඔස්සේ කායසංඛාර පස්සද්ධිය: ආශ්වාසය හා ප්‍රශ්වාසය කායසංඛාරයයි. ආනාපානසතිය ඔස්සේ සමාහිතයට යොමු වන විට කායසංඛාර සංසිඳී යමින් මනසටම හිමි ප්‍රීති සුවය අත්දැකිය හැකියි.
2. ඉරියාපථ භාවනාව: යාම්, සිටීම්, හිඳීම්, නිදීම් යන ඉරියව් දැනුවත් බවින් යුතුව පැවැත්වීම.
3. සම්ප්‍රජන්‍ය භාවනාව: යාම්, ඊම්, බැලීම්, අත් පා හැසිරවීම්, පාසිවුරු දැරීම්, ආහාරපාන ගැනීම්, මලමුත්‍ර බැහැරකිරීම් යන අවස්ථා වලත් යාම, හිඳීම, සිටීම, නිදාගැනීම, අවදිව සිටීම, කථාකිරීම, නිහඬව සිටීම යන සියලු ක්‍රියාවල සම්පජානකාරී වීම.
4. සිරුරේ කෙස්, නිය, දත් ආදී දෙතිස් කුණප කොට්ඨාස පිළිබඳ අශුභ මනසිකාරය.

5. කය පිළිබඳ පඨවි, ආපෝ, තෙජො, වායො යන ධාතු කොටස් පිළිබඳ මනසිකාරය.
6. නවසීවථීක මනසිකාරය.

මේ භාවනා මනසිකාරයන් තුළින් කයෙහි කය අනුව බලමින් සිහියෙන් යුතුව ලෝකයෙහි ඇලීමත් දොම්නසත් බැහැර කරමින් වාසය කරයි.[1] කය ඇතැයි යන සිහිය එළඹ සිටින්නේ මතු නුවණ වැඩෙනු පිණිස ය. සිහිය වැඩෙනු පිණිස ය. තෘෂ්ණා දෘෂ්ටි නිඃශ්‍රය රහිතව වෙසෙයි. ලොව කිසිවක් උපාදාන නො කරයි.[2]

## වෙදනානුපස්සනා :

සවැදෑරුම් ඵස්සායතන සම්ඵස්සයෙන් ලබන වින්දන පිළිබඳ දැනුවත් බවින් යුතුව එළඹි සිහියෙන් වාසය කිරීමයි. සුඛවින්දන, දුක්ඛවින්දන, අදුක්ඛමසුඛවින්දන, කාමය පිළිබඳ සුඛවින්දන, නිරාමිස සුඛවින්දන, කාමය පිළිබඳ දුක්ඛවින්දන, නිරාමිස දුක්ඛවින්දන, කාමය පිළිබඳ අදුක්ඛමසුඛ වින්දන, නිරාමිස අදුක්ඛමසුඛ වින්දන යන සියලු වින්දනයන් අනුව බලමින් සිහියෙන් යුතුව ලෝකයෙහි ඇලීමත් දොම්නසත් බැහැර කරමින් වාසය කරයි. වින්දන ඇත යන සිහිය එළඹ සිටින්නේ මතු නුවණ වැඩෙනු පිණිස ය. සිහිය වැඩෙනු පිණිස ය. තෘෂ්ණා දෘෂ්ටි වශයෙන් උපාදානය කිරීම පිණිස නො වේ.

1. ''.......කායෙ කායානුපස්සී විහරති ආතාපී සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣා දොමනස්සං''
දීඃ නිඃ 2, මහාසතිපට්ඨාන සූත්‍රය, 436 පිට, බුඃ ජඃ මුඃ
2. ''අත්ථි කායො ති වා පනස්ස සති පච්චුපට්ඨිතා හොති යාවදෙව ඤාණමත්තාය පතිස්සති මත්තාය, අනිස්සිතො ච විහරති, න ච කිඤ්චි ලොකෙ උපාදියති.''
දීඃ නිඃ 2, මහාසතිපට්ඨාන සූත්‍රය, 460 පිට, බුඃ ජඃ මුඃ



## චිත්තානුපස්සනාවඃ

සරාග සිත, විරාග සිත, ද්වේෂ සිත, අද්වේෂ සිත, සමොහ සිත, වීතමොහ සිත, ථිනමිද්ධ සිත, උද්ධච්ච සිත, රූපාවචර අරූපාවචර වශයෙන් ඇති මහද්ගත සිත, කාමාවචර සිත, පහත් සිත, උසස් සිත, සමාහිත සිත, අසමාහිත සිත, විමුක්ත සිත, අවිමුක්ත සිත යනුවෙන් පහළ වන සිත් පිළිබඳ දැනුවත් බවින් යුතුව එළඹි සිහියෙන් වාසය කිරීමයි. සිත ඇත යන සිහිය එළඹ සිටින්නේ මතු නුවණ වැඩෙනු පිණිස ය. සිහිය වැඩෙනු පිණිස ය. තෘෂ්ණා දෘෂ්ටි වශයෙන් උපාදානය කිරීම පිණිස නො වේ.

## ධම්මානුපස්සනාඃ

පංචනීවරණ, පංචඋපාදානස්කන්ධ, ද්වාදසායතන යන සසර පැවැත්ම සලසන ධර්මයන්ගේ සමුදය හා ප්‍රහාණය පිළිබඳවත් සප්ත බෝධ්‍යංගධර්ම භාවනාවෙන් පිරිපුන් වීම පිළිබඳවත් චතුරාර්‍ය සත්‍යය අනුව දුකෙහි සමුදය හා ප්‍රහාණය පිළිබඳවත් අවබෝධය පූර්ණත්වයට පත්කිරීම ධම්මානුපස්සනාවයි. එකී ධර්මයන් ඇත යන සිහිය එළඹ සිටින්නේ මතු නුවණ වැඩෙනු පිණිස ය. සිහිය වැඩෙනු පිණිස ය. තෘෂ්ණා දෘෂ්ටි වශයෙන් උපාදානය කිරීම පිණිස නො වේ.

## සසුනේ නවක භික්‍ෂුවට හඳුන්වා දියයුත්තේ කුමක් ද?

**''මහණෙනි, අලුත පැවිදි වූ, ලඟ දී මේ සසුනට පැමිණි යම් නවක පැවිද්දෝ වෙත් නම්, ඔවුහු නුඹලා විසින් සතර සතිපට්ඨානය වඩනු පිණිස සමාදන් කරවිය යුතු වෙති. එහි වාසය**

**කරවිය යුතු වෙති. පිහිටුවිය යුතු වෙති''**[1] නවකයා පිළිවෙතෙහි හික්මවිය හැක්කේ සසුන හඳුනාගත් (විඤ්ඤාතසාසන) ස්ථවිර භික්ෂූන්ට ම ය. පියාගෙන් තමනට උරුම වූ පෙදෙසින් (සිව්සීවටන් වෙතින්) පිටපැන සසුන් නියෝජනයක් ශ්‍රාවකයන්ගෙන් බුදුරජාණන් වහන්සේ අපේක්ෂා නො කරති.

සසුනේ පැවැත්ම යනු සිවුසීවටන්හි පැවැත්මයි. සසුනේ අභිවෘද්ධිය ද එයයි. එහෙයින් බුදුරජාණන් වහන්සේ මෙසේ වදාරති. ''මහණෙනි, තමන්ට පියඋරුමයෙන් ආ ගෝචර විෂයයෙහි හැසිරෙන්න. එසේ පියඋරුමයෙන් ආ ගෝචර විෂයයෙහි හැසිරෙන්නාහු ආයුෂයෙන්, වර්ණයෙන්, සැපයෙන්, භෝගයෙන්, බලයෙන්, වැඩෙන්නහු ය.[2]

1. ආයුෂයෙන් වැඩීම යනු ඡන්ද, චිත්ත, වීරිය, වීමංසා යන සමාධි ප්‍රධාන කොට ඇති සංස්කාරයන්ගෙන් සමන්විත වූ සතර ඍද්ධිපාද වැඩීමෙන් ආයුෂ්කල්පයක් හෝ ඊට ටිකක් වැඩියෙන් විසිය හැකි බවයි.

2. භික්ෂුව වර්ණයෙන් වැඩීම යනු සිල්වත්ව ප්‍රාතිමෝක්ෂ සංවරයෙන් සංවෘතව අනුමාත්‍ර වූ ද වරදෙහි බිය දක්නා සුලුව ශික්ෂා සමාදන්ව වාසය කිරීමයි.

1. යෙ තෙ භික්ඛවෙ නවා අචිරපබ්බජිතා අධුනාගතා ඉමං ධම්මවිනයං, තෙ වො භික්ඛවෙ, චතුන්නං සතිපට්ඨානානං භාවනාය සමාදපෙතබ්බා නිවෙසෙතබ්බා පතිට්ඨාපෙතබ්බා.''
සං: නි: 5 (1), සාලා සූත්‍රය, 264 පිට, බු: ජ: මු:
2. ''ගොචරෙ භික්ඛවෙ චරථ සකෙ පෙත්තිකෙ විසයෙ. ගොචරෙ භික්ඛවෙ චරන්තා සකෙ පෙත්තිකෙ විසයෙ ආයුනා පි වඩ්ඪිස්සථ, වණ්ණෙන පි.... සුඛෙන පි.... භොගෙන පි..... බලෙන පි වඩ්ඪිස්සථ.''
දී: නි: 3, චක්කවත්ති සූත්‍රය, 132 පිට, බු: ජ: මු:



3. සුඛයෙන් වැඩීම යනු රූපාවචර ධ්‍යාන සතර වැඩීමෙන් ධ්‍යාන සුඛයට පැමිණීම ය.

4. භෝගයෙන් වැඩීම යනු මෙත්තා, කරුණා, මුදිතා, උපෙක්ඛා යන බ්‍රහ්මවිහාර සහිත වීම ය.

5. බලයෙන් වැඩීම යනු ආස්‍රවයන් ක්ෂය කිරීමෙන් ලැබෙන ඵලසමාධියත් ඵලප්‍රඥාවත් මේ අත්බැව්හි දී ම නුවණින් දැන පසක් කරගැනීමයි.

# 5

# සමාධියටත් ප්‍රඥාවටත් පදනම් වන සීලය

සමාධි භාවනාවටත් ප්‍රඥා භාවනාවටත් පදනම සීලයයි. සීලයෙන් දමනයත් (දමෙන්ති) සමාධියෙන් සමනයත් (සමෙන්ති) ප්‍රඥාවෙන් පිරිනිවීමත් (පරිනිබ්බාපෙන්ති) ප්‍රායෝගික වශයෙන් අපේක්ෂිතයි. එසේ නම් සීලයෙන් දමනය අපේක්ෂා කරන්නේ කෙසේදැයි හඳුනා ගනිමු.

කාමරාගයත් පටිඝයත් ඉස්මතු වූ සත්ත්වයෝ කාමභවයෙහි උපත ලබති. මිනිස් පැවැත්මට සත්ත්වයෙකු යොමු වීම යනු මනසේ මානුෂික පංචකාමගුණික රාගය නිසා දළකයට යොමු වීමයි. මනස කය ඇසුරෙන් අත්දැකීම් ලබයි. ඇස කන නාසය දිව ශරීරය යන පසිඳුරන්ගෙන් රූප ශබ්ද ගන්ධ රස ස්පර්ශ යන අරමුණු  ලබයි. ඒ අරමුණුවල ඇලෙමින් හා ගැටෙමින් අත්දැකීම් විඳගන්නේ මනස ය. මනස ද ඉන්ද්‍රියකි. එය මනො සම්ඵස්සයෙහි ඇලෙයි. ඇලීම හා ගැටීම යනු තණ්හාවේ සැකැස්මයි. ඒ තණ්හා උපාදානය භවදුක නිර්මාණය කරයි. මෙසේ තණ්හා උපාදානයට යොමුවන මනස පස්කම් සුවය ගවේෂණය කිරීමේ දී කය හා වචනය මාධ්‍යය කරගෙන වැරදි කොටසකට යොමු වෙයි. අනුන් නසයි. පරසන්තකය පැහැර ගනියි. මුසා බස් කියයි. වචනයෙන් අනුන් පෙළයි. බිඳුවයි. ප්‍රමාදයට පත් කරයි. මිථ්‍යා ආජීවයට වැටෙයි. කයින් මත්වෙයි. දුසිල් බව බිහිවන්නේ මේ අයුරිනි.

මේ දුර්වල චයර්‍යාවන්ගෙන් මිදීම සීලයයි. එහෙත් සම්‍යක් දෘෂ්ටිය නැති තැන, කය ම 'මම' ලෙස සිතන තැන, ඇලීමට



ගැටීමට ම නතු වන මනස සලකන්නේ 'සීලය' දුකක් අපහසුවට වැටීමක් වශයෙනි. ධර්ම මාර්ගය වැඩීම පහසුව වෙතින් අපහසුව කරා යාමක් ලෙස, ජීවිතයට නීති දමාගැනීමක් ලෙස ඇතැමෙකු සිතන බව පෙනේ. මනස පිළිබඳව අවබෝධයක් නැතිව, හුදු මාංශකය පුද්ගලයා හැටියට සිතනු පෙනේ. පුද්ගලයා යනු මාංශ කයක් නම් සීලයක් බලාපොරොත්තු විය නො හැකි ය. කයට සිල් රැකිය නො හැකි බැවිනි. සීලය සපිරීමේ දී කෙරෙන්නේ කය නිසා මනස ගොඩනගන පව්කම් වලින් අත්මිදීම ය. සීලය රැකීම පහසුවක් වන්නේ සීලයෙහි පිහිටා සමාධි ප්‍රඥා දෙකට යොමු වන විටයි.

සාමණේර සීලයත් උපසම්පදා සීලයත් බ්‍රහ්මචර්යාව මූලික කොට වැඩෙන්නකි. භික්ෂුත්වයට පා තබන්නේ පංචකාමගුණය ම සැපත වශයෙන් අපේක්ෂා කරන මනුෂ්‍යයෙකි. එහෙත් පුද්ගලයා ඒ මානුෂික පංචකාමය අල්පාශ්වාද ඇති, දුක් බහුල, උපායාස බහුල වූවක් බව නුවණින් දක්නා කෙනෙකු විය යුතු වේ. ඒ සම්‍යක් දෘෂ්ටියේ අවශ්‍යතාවයයි. සිව්පස පහසුකම් කොතෙක් ලැබුණත් ඒ පිළිබඳ විශේෂ ආකල්පයක් භික්ෂුවට තිබිය යුතු ය. **සිව්පසය ලැබෙන පමණින් සෑහීමට පත්වන, එසේ සෑහීමෙහි ගුණ කියන, සිව්පසය හේතුවෙන් අයුතු ක්‍රිය නො කරන, නො ලැබුණායයි තැති නො ගන්නා, ලද සිව්පසයෙහි ගිජු නො වන, මුළා නො වන, සිතින් සතුකර නො ගන්නා, ආදීනව දකින, අත්හැරීමේ නුවණින් යුතු, ලැබෙන පමණින් සෑහෙන බව ගැන තමා හුවා නො දක්වන, අනුන් හෙළා නො දකින, සෑහීමට පත්වීම පිළිබඳව දක්ෂවන, අනලස්ව, නුවණින් දන්නා, එළඹ සිටි සිහි ඇති භික්ෂුව පැරණි අරියවංස ප්‍රතිපදාවෙහි සිටියේය'යි බුදුරජාණන් වහන්සේ දේශනා කරති.**[1]

---

1. අංː නිː 2, අරියවංස සූත්‍රය, 56 පිට, බුː ජː මුː

අර්ථවත් භික්ෂු ජීවිතයක් වශයෙන් ක්‍රමයෙන් අභිවෘද්ධියට යන්නේ සීලසම්පන්න බවත් (සීලසම්පන්නො), ඉන්ද්‍රිය සංවරයත් (ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො), සතියත් (සතිසම්පජඤ්ඤො), සිවුපසයෙහි සෑහීමට පත්වීමත් (සන්තුට්ඨො) ඇති විට ය. මූලික වශයෙන් සමාදාන විරතියට පැමිණ සමාධියත් ප්‍රඥාවත් වඩන භික්ෂුව තුළ සීලය ක්‍රමයෙන් තහවුරු වන්නට පටන් ගනියි. එසේ පෝෂණය වන විට කාම අත්දැකීම් ක්ෂේත්‍රයේ දී පුද්ගලයා අතින් සිදුවීමට ඉඩඇති පව්කම් කෙමෙන් අඩු වී යයි. සීලයේ ක්‍රමානුකූල පිබිදීම නම් එයයි. සමාදාන විරතිය පමණක් රඳවා ගත නො හැකි ය.

මෙහි දී පැහැදිලි කරගත යුතු විශේෂ කරුණක් තිබේ. එනම්, දුසිල් බවත්, වරදට පැමිණීම හා ඉන් නැගීසිටීමත් යන කරුණු දෙකයි.

1. දුසිල් බව යනු සසුන් පිළිවෙත වැඩීම ගැන කිසිදු අපේක්ෂාවක් නැතිව පාප ධර්මයට ම ඉඩ හළ ස්වභාවයයි.
2. සිල් සපුරන බව නම් සසුන් පිළිවෙත වැඩීමෙහි අපේක්ෂා ඇති, එහි නියුතු, ආපත්තීන්ට පැමිණෙන නමුත් නැවත සංවරයට පත්වන ස්වභාවයයි.

මෙහි පළමුවෙන් දැක්වෙන්නේ ප්‍රතිපදාව පිළිබඳ අපේක්ෂාවක් නැති, දුගතියට යොමු වූ අවස්ථාවයි. මේ පිළිබඳව අග්ගික්ඛන්ධොපම සූත්‍රයෙහි දැක්වෙන්නේ කෙබඳු විග්‍රහයක් ද යන්න මෙහි දී පැහැදිලි කරගත යුතු ය.

වරක් මහත් වූ භික්ෂු පිරිසක් කැටිව කෝසලයේ චාරිකා



කරන බුදුරජාණන් වහන්සේ මහත් ගිනි කඳක් දැක මගින් ඉවත්ව රුක් සෙවනක වැඩ හිඳ මෙසේ වදාළහ.

''මහණෙනි, නුඹලා සිතන්නේ කුමක් ද? අර පෙනෙන මහා ගිනිකඳ වැළඳ ගැනීම හා ක්ෂත්‍රිය හෝ බ්‍රාහ්මණ හෝ ගෘහපති හෝ මෘදු අත් පා ඇති කන්‍යාවක වැළඳ ගැනීම යන දෙකින් කවරක් උතුම් ද?''

මෘදු අත් පා ඇති කන්‍යාවක වැළඳ ගැනීම සැපක් බවත් ගිනිකඳ වැළඳ ගැනීම මහත් දුකක් බවත් භික්ෂූහු පැවසූහ.

I. එසේ නම් මහණෙනි, මහ නුඹලාට එක කරුණක් පැහැදිලි කරන්නම්. දුශ්ශීල වූ, කයින් පව් කරන, හැසිරීමෙන් අපිරිසිදු, සැකකටයුතු හැසිරීම් ඇති, සැඟවුණ ක්‍රියා ඇති, ශ්‍රමණයකු නො වී ශ්‍රමණත්වය ප්‍රතිඥා කරන, බඹසර නො වැස බ්‍රහ්මචර්යාව ප්‍රතිඥා කරන, කෙලෙස් නිසා ඇතුළත කුණු වූ, කෙලෙස් වලින් තෙත් වූ, දුශ්ශීලයාට ඔය ගිනිකඳ වැළඳ ගැනීම හොඳයි. ඒ කුමක් නිසා ද? ඔය ගිනිකඳ වැළඳගත් නිසා මියගියත්, ඒ කරුණ නිසා ඔහු නිරයට නො යන බැවිනි.**එහෙත් දුසිල්ව සිටිමින් කන්‍යාවක සිපවැළඳ ගන්නාට එය දිගු කලක් අහිත පිණිස දුක් පිණිස පවතින අතර, මරණින් මතු නිරයගාමී වීමට හේතු වෙයි.**

II. බලවත් පුරුෂයෙක් ජංගා දෙක වරපටකින් වෙළා ඇටමිදුලු දක්වා කැපී යන ලෙස වෙලුම තද කරන්නේ නම් ඒ දුක හොඳ ය. ඒ දුක නිසා මියගියත් ඒ කරුණින් නිරයගාමී නො වන බැවිනි.
**එහෙත් දුසිල් පව්ටු හැසිරීම් සහිතව සිට අනුන්ගේ වැඳුම්**

**පිළිගන්නේ නම් එය දිගු කලක් අහිත පිණිස දුක් පිණිස වෙයි. මරණින් මතු දුගතියට පැමිණෙයි.**

III. බලවත් පුරුෂයෙක් මුවහත් කළ තියුණු සැතකින් පපුවට අනින්නේ නම් ඒ දුක හොඳ ය. ඒ දුක නිසා මියගිය ද ඒ කරුණින් දුගතියට පත් නො වන බැවිනි. **එහෙත් දුසිල්ව සිට අන් අයගේ ඇඳිලි බැඳීම් ඉවසන්නේ නම් එය දිගු කලක් අහිත පිණිස දුක් පිණිස වෙයි. මරණින් මතු දුගතිගාමී වෙයි.**

IV. බලවත් පුරුෂයෙක් ගිනියම් වූ යකඩ තහඩුවකින් කය වෙළන්නේ නම් එය දුසිල්ව හිඳ සැදැහැවතුන් දෙන සිවුරු පරිහරණයට වඩා හොඳ ය. ලෝ තහඩුවේ වෙළීම නිසා මියගිය ද එය නිරයගාමී වීමට හේතු නො වේ. **එහෙත් දුසිල්ව හිඳ සැදැහැයෙන් පිරිනමන සිවුරු පරිභෝග කිරීම දිගු කලක් අහිත පිණිස දුක් පිණිස වන අතර මරණින් මතු දුගතිගාමී වීමට හේතු වෙයි.**

V. බලවත් පුරුෂයෙක් ගිනියම් ලෝහ අඬුවකින් මුව විවර කර ගිනියම් ලෝ ගුලි ගිල්ලවන්නේ නම් ඒ දුක හොඳ ය. එයින් මියගිය ද ඒ හේතුවෙන් නිරයගාමී නො වන බැවිනි. **දුසිල්ව සිට සැදැහැවතුන් පිරිනමන පිණ්ඩාහාරය පරිභෝග කිරීම දිගු කලක් අහිත පිණිස දුක් පිණිස වෙයි. මරණින් මතු නිරයගාමී වීමට ද හේතු වෙයි.**

VI. බලවත් පුරුෂයෙක් හිසින් හෝ කඳින් හෝ අල්ලා ගෙන ගිනියම් වූ ලෝහ ඇඳක හෝ පුටුවක හෝ නිදිකරවන්නේ නම් හෝ හිඳුවන්නේ නම් හෝ ඒ දුක විඳීම හොඳ ය. මියගියත් ඒ හේතුවෙන් දුගතියට නො යේ. **එහෙත් දුසිල්ව**



**සිට සැදැහැවතුන් පිරිනමන ඇඳ පුටු පරිහරණය කිරීම දිගු කලක් අහිත පිණිස දුක් පිණිස වන අතර, මරණින් මතු නිරයගාමී වීමට හේතු වෙයි.**

VII. බලවත් පුරුෂයෙක් හිස යටිකුරු කොට පා උඩුහුරු කොට පැහෙන ලෝහ හැලියකට බස්වයි. වරෙක උඩට එයි. වරෙක යටට යයි. වරෙක හරස් අතට යයි. මෙවන් දුකක් ඉවසීම හොඳ ය. ඒ හේතුවෙන් මියගිය ද දුගතියට නො යන බැවිනි. **එහෙත් දුසිල්ව සිට සැදැහැවතුන් පිරිනමන ආවාස පරිහරණය කරන්නේ නම් එය දිගු කලක් අහිත පිණිස දුක් පිණිස වෙයි. මරණින් මතු නිරයගාමී වීමට ද හේතු වෙයි.**

මෙසේ කෙටිකර දක්වූ අග්ගික්ඛන්ධෝපම සූත්‍රයෙහි එන මේ කරුණු සත පැවිදි දිවිය පියඋරුමයෙහි ම පැවැත්වීමේ අවශ්‍යතාව මනාව ප්‍රකට කරයි. පරානුවාදභයින් මිදීමට වඩා සැලකිය යුත්තේ අත්තානුවාදභයින් මිදීම පිළිබඳව ය. **එබැවින් භික්ෂුවක් තමා වළඳන සිව්පසය පිරිනමන්නවුන්ට මහත් ඵලදායක පිනක් වීම පිණිසත් තමාගේ පැවිද්ද වඳ නොවී සඵල වීම පිණිසත් හික්මිය යුතු ය. ආත්මාර්ථය පරාර්ථය දෙකම දකිමින් අප්‍රමාදී වියයුතු ය'යි බුදුරජාණන් වහන්සේ වදාරති.**[1]

අනතුරුව දෙවෙනුව දක්වන ලද කරුණ සැලකිය යුතු ය. සසුන් පිළිවෙතෙහි නියුතු භික්ෂුවක් ඡේදාගාමිනී ආපත්තියකට

1. ''යෙසඤ්ච මයං පරිභුඤ්ජාම චීවරපිණ්ඩපාතසෙනාසනගිලානපච්චයභෙසජ්ජපරික්ඛාරං තෙසං තෙ කාරා මහප්ඵලා භවිස්සන්ති. අම්හාකඤ්චෙවායං පබ්බජ්ජා අවඤ්ඣා භවිස්සති සඵලා සඋද්‍රයාති. එවං හි වො භික්ඛවෙ සික්ඛිතබ්බං. අත්තත්ථං වා භික්ඛවෙ සම්ඵස්සමානෙන අලමෙව අප්පමාදෙන සම්පාදෙතුං. පරත්ථං වා... උභයත්ථං වා...''
අං: නි: 4, අග්ගික්ඛන්ධොපම සූත්‍රය, 474 පිට, බු: ජ: මු:

නො පැමිණිය යුතු ය. එහෙත් උට්ඨානගාමිනී හෝ දේසනාගාමිනී හෝ ආපත්තියකට පැමිණීමට ඉඩ ඇති අතර, ඉන් නැගී ආයති සංවරයට පත්වීම ද සිදු වේ. මේ පිළිබඳ මනා විග්‍රහයක් අංගුත්තරනිකායේ තිකනිපාතයේ සමණ වග්ගයෙහි දක්නට ලැබේ.

**''මහණෙනි, මේ සස්නෙහි භික්ෂුව ශීලය සපුරයි. සමාධිය මාත්‍ර වශයෙන් වඩයි. ප්‍රඥාව මාත්‍ර වශයෙන් වඩයි. හෙතෙම යම් කුඩා අනුකුඩා සිකපද වෙත් ද ඒවා කඩවීමෙන් ආපත්තියට පැමිණෙයි. ආපත්ති වලින් නැගී සිටියි. ඒ කුමක් හෙයින් ද යත්: මහණෙනි, මෙහි ලා මා විසින් ඇවැත් සිදු වීම අභව්‍යයයි නො කියන ලදී. බඹසරට නිසි වූ ඒ ආදිබ්‍රහ්මචරියක ශික්ෂා වන්නේ ද එහි ලා නිබඳ සිල් ඇති බව, පිහිටි සිල් ඇති බව පවතියි. ශික්ෂාවන්හි සමාදන්ව හික්මෙයි. හෙතෙමේ තුන්වැදෑරුම් සංයෝජනයන් (සක්කායදිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බතපරාමාස) ක්ෂය කර, අපායට නො වැටෙන සුලුව, නිවන පිහිට කොට ඇතියේ සෝවන් වෙයි.''**[1]

ශීලය සපුරන, සමාධි, ප්‍රඥා මාත්‍ර වශයෙන් වඩන භික්ෂුව කුඩා අනුකුඩා ඇවතට පැමිණෙයි. ඇවතින් නැගී සිටියි. ශික්ෂා සමාදන්ව හික්මෙන ඒ භික්ෂුව තුන්වැදෑරුම් සංයෝජන ක්ෂය කර, රාග දොස මෝහ තුනී වීමෙන් එක් වරක් මෙලොවට පැමිණ දුක් කෙළවර කරයි.

1. ''ඉධ භික්ඛවෙ භික්ඛු සීලෙසු පරිපූරකාරී හොති. සමාධිස්මිං මත්තසොකාරී. පඤ්ඤාය මත්තසොකාරී. සො යානි යානි ඛුද්දානුඛුද්දකානි සික්ඛපදානි තානි ආපජ්ජතිපි වුට්ඨාතිපි. තං කිස්ස හේතු? න හි මෙත්ථ භික්ඛවෙ අභබ්බතා වුත්තා. යානි ච ඛො තානි සික්ඛාපදානි ආදිබ්‍රහ්මචරියිකානි බ්‍රහ්මචරියසාරුප්පානි තත්ථ ධුවසීලි ච හොති ඨිතසීලි ච. සමාදාය සික්ඛති සික්ඛාපදෙසු. සො තිණ්ණං සංයෝජනානං පරික්ඛායා සොතාපන්නො හොති, අවිනිපාත ධම්මො නියතො සම්බෝධිපරායණො.''
අංඃ නිඃ 1, සමන වග්ග, 6 සූත්‍රය, 410 පිට, බුඃ ජඃ මුඃ



ශීලයත් සමාධියත් සපුරන, ප්‍රඥාව මාත්‍ර වශයෙන් වඩන භික්ෂුව කුඩා අනුකුඩා ඇවතට පැමිණෙයි. ඇවතින් නැගී සිටියි. ශික්ෂා සමාදන්ව හික්මෙන ඒ භික්ෂුව සක්කායදිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බතපරාමාස, කාමරාග, පටිඝ යන ඕරම්භාගිය සංයෝජන ක්ෂය කර බඹලොවින් නො එන ස්වභාව ඇත්තේ එහි ම පිරිනිවන් පායි.

ශීලයත්, සමාධියත්, ප්‍රඥාවත් සපුරන භික්ෂුව කුඩා අනුකුඩා ඇවතට පැමිණෙයි. ඇවතින් නැගී සිටියි. ශික්ෂා සමාදන්ව හික්මෙන ඒ භික්ෂුව ආස්‍රවයන් ක්ෂය කර දිටුදැමියෙහි ම චේතොවිමුක්තියත් ප්‍රඥාවිමුක්තියත් සාක්ෂාත් කොට වාසය කරයි.

**මෙසේ කොටසක් වඩන කල්හි කොටසක් සපුරයි. පිරිපුන්ව වඩන කල්හි පිරිපුන් බව සපුරයි. එහෙයින් 'ශික්ෂා වඳ නො වේ යයි මම කියමි'යි බුදුරජාණන් වහන්සේ වදාරති.**[1]

මේ දේශනාවෙන් මතුවන කරුණු මෙසේ පෙළ ගස්වා ගතහැකියි.

I. ශීලය පිරිපුන්ව වඩන නමුත් සමාධි ප්‍රඥා මාත්‍ර වශයෙන් වැඩීමක් විය හැකි ය. සෝවන් සකදාගාමී මාර්ග දෙකේ දී ම මේ ස්වභාවය දැකිය හැකියි. අනාගාමි මාර්ගයේ දී පිරිපුන්ව වැඩෙන්නේ ශීලය හා සමාධියයි.
ප්‍රඥාව වැඩෙන්නේ මාත්‍ර වශයෙනි. ත්‍රිශික්ෂාව ම පිරිපුන්ව වැඩෙන්නේ අර්හත් මාර්ගයේදී ය.

II. මාර්ගය වඩන භික්ෂුව බුද්ධානුබුද්දක ශික්ෂා උල්ලංඝනයට

1. ''ඉති ඛො භික්ඛවෙ පදෙසං පදෙසකාරී ආරාධෙති. පරිපූරං පරිපූරකාරී. අවඤ්ඣානිත්වෙවාහං සික්ඛාපදානි වදාමි.''
අංඃ නිඃ 1, සමනවග්ග, 6 සූත්‍රය, 412 පිට, බුඃ ජඃ මුඃ

පැමිණිය හැකි ය. අර්හත් මාර්ගයේ දී ද ඉතාසුළු ඇවතකට පැමිණීම හා ඉන් නැගීසිටීම යන්නක් විය හැකි ය.

III. වඩන ලද ප්‍රමාණය අනුව ප්‍රතිඵල තිබෙන හෙයින් ශික්‍ෂා ඵල රහිත නො වේ.

IV. ශීලය පිරිපුන්ව වැඩෙන්නට සමාධි ප්‍රඥා මාත්‍ර වශයෙන් හෝ අවශ්‍යය.

අංගුත්තර නිකායේ තිකනිපාතයේ සමනවග්ගයෙහි 7, 8 සූත්‍ර දෙකෙහි ද මෙයට අදාළ තවත් කරුණු අන්තර්ගත වේ.

බුදුරජාණන් වහන්සේ භික්‍ෂු සංඝයාගේ මනා පැවැත්ම උදෙසා ශික්‍ෂාපද පනවන කල්හි භද්දාලි නමැති භික්‍ෂුව ඒ ශික්‍ෂා පිළිපැදිය නො හැකි බව ප්‍රකාශ කළේ ය. ශික්‍ෂා නො පුරන්නකු වශයෙන් තුන් මසක් භාග්‍යවතුන් වහන්සේ හමුවට නො පැමිණියේ ය. භික්‍ෂූන් වහන්සේලා විසින් සංවේගයට පත්කරනලද භද්දාලි හිමියෝ බුදුරජාණන් වහන්සේ හමුයෙහි ආයති සංවරය අයැද සිටියේ ය. එහි දී කරුණු පැහැදිලි කරන බුදුරජාණන් වහන්සේ මෙසේ ද පවසති.

**''යම් හෙයකින් භද්දාලිය, නුඹ වරද ලෙස දැක දහම අනුව පිළියම් කරන්න. නුඹගේ වරද අපි ඉවසමු. භද්දාලිය, යමෙක් වරද වරද වශයෙන් දැක දහම නො ඉක්ම පිළියම් කරයි ද, ආයති සංවරයට පැමිණේ ද එය ආර්‍යවිනයෙහි අභිවෘද්ධියක් ම ය.**[1]

1. යතො ච ඛො ත්වං භද්දාලි අච්චයං අච්චයතො දිස්වා යථාධම්මං පටිකරොසි. තං තෙ මයං පතිගණ්හාම. වුද්ධිහෙසා භද්දාලි අරියස්සවිනයෙ යො අච්චයං අච්චයතො දිස්වා යථාධම්මං පටිකරොති, ආයතිං සංවරං ආපජ්ජති.''
මඃ නිඃ 2, භද්දාලි සූත්‍රය, 178 පිට, බුඃ ජඃ මුඃ



වැරදි සිදුවීමට ඇති ඉඩකඩත්, වරදින් නැගීසිටීමට ඇති ඉඩකඩත් සසුනේ අභිවෘද්ධිය සලකාගෙන ම පවතින්නකි. එවන් ඉඩකඩක් විවෘත නොවේ නම් එය පුද්ගලයාගේ මනෝවිද්‍යාත්මක ස්වභාවයට නො ගැලපේ. මිනිසා වරදින සුලු ය. ඒ අනුව සදහම් මග වැරදි අවම කරගනිමින් ආයති සංවරයට පැමිණෙමින් වැඩියහැකි ප්‍රතිපදාවක් බව ඉතා පැහැදිලි ය.

**පැහැදිලි කරගතයුතු කරුණක් :**

දුගති භයින් මිදුන, නියත සම්බෝධිපරායණ සෝතාපන්නයා දහම් සතරකින් යුක්ත ය. ගුණ දැන තහවුරු වූ බුද්ධප්‍රසාදයත්, ධර්මප්‍රසාදයත්, සංඝප්‍රසාදයත්, අරියකන්ත සීලයත් ය. මෙහි දී අවධානය යොමු කරන්නේ අරියකන්ත සීලය කෙරෙහි ය.

''අඛණ්ඩ, සිදුරු නැති, පැල්ලම් නැති, කැලැල් නැති, තණ්හාදාසත්වයෙන් මිදුන, බුද්ධාදී උතුමන් විසින් පසසන ලද, කෙලෙස් නො තැවරුණ, සමාධියට උපනිඃශ්‍රය වන අරියකන්ත සීලයෙන් සමන්විත වෙයි''[1] මේ ඒ පිළිබඳ විවරණයයි.

අංගුත්තර නිකායේ සමනවග්ගයෙහි එන යට දැක් වූ විග්‍රහය අනුව අර්හත්මග වඩන භික්‍ෂුවට ද ඇතැම් කුඩා අනුකුඩා ශික්‍ෂාවන් කඩවීමේ ආපත්තීන්ට පැමිණීමත් ඉන් නැගී සිටීමත් සාධාරණව තිබිය දී සෝතාපන්න පුද්ගලයාගේ ශීලය අඛණ්ඩ ශීලයක් ලෙස දැක්වීම පරස්පර විරෝධතාවක් සේ පෙනෙන්නට

1. ''අරියකන්ත සීලයෙහි සමන්නාගතො හොති අඛණ්ඩෙහි අච්ඡිද්දෙහි අසබලෙහි අකම්මාසෙහි භුජිස්සෙහි විඤ්ඤුප්පසත්ථෙහි අපරාමට්ඨෙහි සමාධි සංවත්තනිකෙහි.''
සංඃ නිඃ 5(2), රාජ සූත්‍රය, 138 පිට, බුඃ ජඃ මුඃ

පිළිවන. කැඩුණු සිදුරු සහිත ආදී ස්වභාව අදාළ වන්නේ ත්‍රිශික්ෂාවෙහි අපේක්ෂා නැති සාමාන්‍ය පුද්ගලයාට ය. කුඩා අනුකුඩා ආපත්තීන්ට පැමිණීම හා ආයති සංවරයට පැමිණීම නිසා බණ්ඩ සීලයක් නො වන්නේ අධිශීල, අධිචිත්ත, අධිප්‍රඥා ත්‍රිශික්ෂාවන්හි අපේක්ෂා සහිතව සිටින බැවිනි. ආපත්තීන් සිදුවුණාට කමක් නැතැයි ඇවැත් සාධාරණ කරගැනීමට මෙයින් අවකාශයක් නැතිබව මෙහි දී විශේෂයෙන් සැලකිය යුතු ය. ගිනි අඟුරකට දැවෙන ඇඟිල්ල වහා ඉවතට ඇදගන්නා සේ ආපත්තියෙන් නැඟී සිටීමේ අවශ්‍යතාවක් අවංකවම තිබිය යුතු ය.

ඒ නිසා සිල් ඉටා සමාධියට යොමු විය හැකියි. සමාධි ශක්තියක් ඇති තැන ශීලයෙන් උදාවන්නේ පහසු විහරණය බව පෙනේ. සීලය සමාධි සංවත්තනික ය. කයට ම නතු වූ මනසක් සහිතව පැවතීමේ දුක තේරුම් යන පමණට සීලය තහවුරු වන්නකි. දහම්මග සුවදායක ය. ප්‍රීතිමත් ය.



# 6

# පියැරුමයෙහි නොරැඳුන සිතක තතු

සියලු සසර පැවතුම් සැකසෙන්නේ කර්ම විඤ්ඤාණයේ ස්වභාවය අනුව ය. භවයකට ඇදෙන්නේ ආයතන පිනවා ගැනීමට අත්දැකීම් ක්ෂේත්‍රයක් සැකසීමක් හැටියට ය. එය සුගතියක් ද වියහැකි ය. දුගතියක් ද විය හැකි ය. ආයතන පිනවීමක් බලාපොරොත්තු වුව ද කර්ම ශක්තියේ හැටි හැටියට ප්‍රවෘත්ති විපාක වශයෙන් සත්ත්වයා සුව දුක් අනුභව කරයි. ඒ නිසා ආයතන ක්‍රියාකාරීත්වය අනුව සිත් උපදින ආකාරයත් කර්ම බිහිවන ආකාරයත් යම් පමණකින් හඳුනා ගැනීම අවශ්‍ය ය.

**ආයතන ක්‍රියාකාරීත්වය :**

ඇසත් රූපත්, කනත් ශබ්දත්, නාසයත් ගන්ධයත්, දිවත් රසයත්, කයත් පහසත්, මනසත් ධම්මත් යනු සියල්ලයි.[1] ඒ සියල්ල යනු ලෝකයයි. ඇස තිබේ නම් රූප තිබේ නම් චක්ඛුවිඤ්ඤාණයෙන් දතයුතු (චක්ඛුවිඤ්ඤාණවිඤ්ඤාතබ්බා ධම්මා) විඳීම්, හැඳිනීම්, චෙතනා වශයෙන් පුද්ගලයා ලෝකය මවා ගනියි. එය ලෝක ප්‍රඥප්තියයි.[2] දුඃඛ ප්‍රඥප්තිය ද එය ම ය.[3] සත්ත්ව පුද්ගල ප්‍රඥප්තිය ද එය ම ය.[4] මාර ප්‍රඥප්තිය ද එය ම ය.[5] සියල්ල ප්‍රඥප්ති මාත්‍ර බව නො දන්නා කල්හි 'සියල්ල ඇත' යන හැඟීමෙන්

1. සං: නි: 4, සබ්බ සූත්‍රය, 30 පිට, බු: ජ: මු:
2. සං: නි: 4, සමිද්ධි ලෝකපඤ්ඤත්ති සූත්‍රය, 88 පිට, බු: ජ: මු:
3. සං: නි: 4, සමිද්ධි දුක්ඛපඤ්ඤත්ති සූත්‍රය, 88 පිට, බු: ජ: මු:
4. සං: නි: 4, සමිද්ධි සත්තපඤ්ඤත්ති සූත්‍රය, 86 පිට, බු: ජ: මු:
5. සං: නි: 4, සමිද්ධි මාරපඤ්ඤත්ති සූත්‍රය, 86 පිට, බු: ජ: මු:

රැවටී සිටියි. මේ ශරීරය මගේ ය නැත්නම මම ය කියා සිතයි. එහෙත් බුදුරජාණන් වහන්සේ මේ කය ඔබගේ ද අනෙකකුගේ ද නො වන බව වදාරති. එය පුරාණ කර්මයයි. ප්‍රත්‍යයෙන් කරන ලද්දකි. (අභිසංඛතං) චෙතනාව මුල් කොට ඇත. (අභිසංචෙතයිතං) වින්දනයට වස්තු වූයේ ය. (වෙදයිතං)[1] ඇස කන ආදී සළායතනයන් ගැන ම කිවයුත්තේ මෙය ම ය.[2]

මේ පුරාණ කර්ම වශයෙන් වින්දනයට වස්තු වශයෙන් සැකසෙන ආයතන පිනවා ගැනීමට පුද්ගලයා රූප ශබ්දාදී අත්දැකීම් ලබයි. ඒ අත්දැකීම් අනුභව කරන මම කෙනෙකු නිරතුරු මැවෙමින් තිබේ. අරමුණු ගැනෙමින් සැකසෙන විඤ්ඤාණ ශ්‍රෝතය චෙතනා ගොඩනගයි. (චෙතෙති) සංකල්පනය කරයි. (පකප්පෙති) රූප වේදනා දී උපාදානස්කන්ධ පිළිබඳ වූ ඇල්ම පවතියි. (අනුසෙති) මේ අයුරින් යමක් සිතනවා ද, යමක් සංකල්පනය කරනවා ද, යමක් නැවත නැවත අනුසය වශයෙන් පවතිනවා ද එය විඤ්ඤාණයේ පැවැත්මට අරමුණු වෙයි.[3] විඤ්ඤාණයේ පිහිටීම ඇති කල්හි නැවත නැවතත් භවයට පමුණුවයි. (පුනබ්භවාභිනිබ්බත්ති හොති) නාම රූප බැසගැන්ම වෙයි. (නාමරූපස්ස අවක්කන්ති හොති)

පුරාණ කර්මය වූ මේ ආයතන ප්‍රතිලාභය ඇසුරු කරගෙන කයින් වචනයෙන් සිතින් නව කර්ම කරයි.[4] එනිසා භවය දිගින් දිගට පවතියි. සයාකාර වූ ඉන්ද්‍රියානුසාරී අත්දැකීම් අනුභවයේ දී කර්මය නමැති කෙතෙහි විඤ්ඤාණ බීජය රෝපණය කරමින්

1. "නායං භික්ඛවෙ කායො තුම්හාකං නා'පි අඤ්ඤෙසං, පුරාණමිදං භික්ඛවෙ කම්මං අභිසංඛතං අභිසංචෙතයිතං වෙදයිතං දට්ඨබ්බං"
සං: නි: 2, නතුම්හ සූත්‍රය, 100 පිට, බු: ජ: මු:
2. සං: නි: 4, කම්ම සූත්‍රය, 266 පිට, බු: ජ: මු:
3. "යඤ්ච භික්ඛවෙ චෙතෙති යඤ්ච පකප්පෙති යඤ්ච අනුසෙති ආරම්මණමෙතං හොති විඤ්ඤාණස්ස ඨිතියා"
සං: නි: 2, චෙතනා සූත්‍රය, 102 පිට, බු: ජ: මු:
4. "යං ඛො භික්ඛවෙ එතරහි කම්මං කරොති කායෙන වාචාය මනසා. ඉදං වුච්චති භික්ඛවෙ නවං කම්මං"
සං: නි: 4, කම්ම සූත්‍රය, 266 පිට, බු: ජ: මු:



තෘෂ්ණාවේ ජලය යොදමින් භව පැවැත්ම සකසයි. ඉන්ද්‍රිය අරමුණු ගැනීමේ දී භව බීජය වන විඤ්ඤාණය බිහිවන්නේ වේදනා සඤ්ඤා චෙතනා ඵස්ස මනසිකාර යන නාමධර්ම පහක් ද උපදවාගෙන ය. මේ නාමධර්ම පහෙන් තොරව විඤ්ඤාණය හුදෙකලාව නො උපදියි. මේ නාම ධර්ම අතරින් කර්මය වන්නේ චේතනාවයි. සංඛාර වන්නේ ද මේ චේතනාව ම ය. එය රූපසඤ්චෙතනා ආදී වශයෙන් අරමුණු අනුව වෙනස් වෙයි.[1] කර්මයේ ප්‍රභවයට නිදානය වන්නේ ඵස්සයයි.[2] එය ඉන්ද්‍රිය අනුව චක්ඛුසම්ඵස්ස ආදී වශයෙන් ප්‍රභේද වෙයි. වේදනාවටත් සඤ්ඤාවටත් චේතනාවටත් ප්‍රත්‍යය වන්නේ මේ ඵස්සයයි. නිරතුරු අරමුණු ගන්නා විට මේ විඤ්ඤාණ නාමරූප ක්‍රියාවලිය සැකසෙන අයුරුත් එමගින් දුකෙහි හටගැනීමත් සූත්‍රධර්මානුසාරීව පිළිවෙළින් තේරුම් ගැනීම අවශ්‍ය ය.

1. විඤ්ඤාණය හටගන්නේ ඉන්ද්‍රියත් අරමුණුත් සම්බන්ධ වීමෙනි. (චක්ඛුඤ්චාවුසො පටිච්ච රූපෙ ච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං) විඤ්ඤාණය යනු මනසේ සිත් උපදවන වේගයයි. මනස ඉන්ද්‍රියයන්ගේ ගෝචර විෂයය අනුභව කරන්නා ය.[3]
2. ඉන්ද්‍රියයත් අරමුණුත් විඤ්ඤාණයත් සම්බන්ධ වීම ඵස්සයයි. (තිණ්ණං සංගති ඵස්සො)

1. "කතමෙ ච භික්ඛවෙ සංඛාරා : ඡයිමෙ භික්ඛවෙ චෙතනා කායා. රූපසඤ්චෙතනා.... මනොසඤ්චෙතනා."
සං: නි: 2, උපාදානපරිවත්ත සූත්‍රය, 106 පිට, බු: ජ: මු:
2. "කතමො ච භික්ඛවෙ කම්මානං නිදාන සම්භවො? ඵස්සො භික්ඛවෙ කම්මානං නිදාන සම්භවො."
අං: නි: 4, නිබ්බෙධික සූත්‍රය, 208 පිට, බු: ජ: මු:
3. "මනො'ව තෙසං ගොචරවිසයං පච්චනුභොති."
සං: නි: 5 (1) උණ්ණාභබ්‍රාහ්මණ සූත්‍රය, 386 පිට, බු: ජ: මු:

චක්ඛුසම්ඵස්ස, සෝතසම්ඵස්ස, ඝානසම්ඵස්ස, ජිව්හාසම්ඵස්ස, කායසම්ඵස්ස, මනොසම්ඵස්ස වශයෙනි.

3. ස්පර්ශය ප්‍රත්‍යයෙන් වින්දනය වේ. (ඵස්ස පච්චයා වෙදනා) අරමුණ පිළිබඳ මනාප බව හෝ අමනාප බව මෙයින් අදහස් කෙරේ.
4. වින්දනය කරන්නේ යමක් ද එය හඳුනා ගනියි. (යං වෙදෙති තං සඤ්ජානාති.)
5. හඳුනාගන්නේ යමක් ද එය විතර්කනය කරයි. (යං සඤ්ජානාති තං විතක්කෙති) අරමුණ ගැනීමේ ක්‍රියාව මෙතැන දී සම්පූර්ණ වී තිබේ. රූපවිතක්ක, සද්දවිතක්ක, ගන්ධවිතක්ක, රසවිතක්ක, පොට්ඨබ්බවිතක්ක, ධම්මවිතක්ක වශයෙන් සළායතන අනුව ම විතර්ක ගොඩනගයි.
6. මෙසේ විතර්කනය කරන්නේ යමක් ද එය තණ්හා (මගේ ය), මාන (මම වෙමි), දිට්ඨි (මාගේ ආත්මය ය) වශයෙන් ගනියි. (යං විතක්කෙති තං පපඤ්චෙති)[1]

රූපවිචාර සද්දවිචාර ගන්ධවිචාර රසවිචාර පොට්ඨබ්බවිචාර ධම්මවිචාර වශයෙන් සයකාර වූ අතීත, අනාගත, ප්‍රත්‍යුත්පන්න අරමුණුවල සිත හැසිරීමයි, ඒ. මෙහි දී තණ්හා මාන දිට්ඨි වශයෙන් ප්‍රපංචයෙහි නියැළීම යනු භවකර්ම ගොඩනැඟීමයි. ඒ නිසා ජාති ජරා මරණ සෝක පරිදෙව දුක් දොම්නස් උපායාස බිහි වෙයි. පිය උරුමයෙහි නොරැඳෙන සිතක නිරතුරු සිදුවෙමින්

1. මං: නි: 1, මධුපිණ්ඩික සූත්‍රය, 280 පිට, බු: ජ: මු:



පවතින්නේ මෙයයි.

**උපාදානස්කන්ධ :**

අරමුණු ගැනීමේ දී පහළ වන සිත්වල ඇති වෙදනා නමැති නාමධර්මය යනු මනාප බව හෝ අමනාප බව හෝ මනාපාමනාප බව හෝ වෙයි. මනාප ස්වභාවයට ඇලීමත් අමනාප ස්වභාවයට ගැටීමත් තණ්හාවයි. රූපතණ්හා සද්දතණ්හා ගන්ධතණ්හා රසතණ්හා පොට්ඨබ්බතණ්හා ධම්මතණ්හා වශයෙන් අරමුණු අනුව වෙනස් වෙයි. තණ්හාව ඇති තැන පවතින්නේ උපාදානයයි. විඤ්ඤාණ නාමරූප සිතක ඵස්සය ට ප්‍රත්‍යය වන රූප (පසාදරූප, විෂයරූප) වල ඇලීම නිසා රූපඋපාදානස්කන්ධය වෙයි. ස්පර්ශය ප්‍රත්‍යයෙන් වන වින්දනයට ඇලීම නිසා වේදනාඋපාදානස්කන්ධය වෙයි. වින්දනය හා බැඳුන සඤ්ඤාවට ඇලීම නිසා සංඥාඋපාදානස්කන්ධය වෙයි. මෙසේ වේදනා සඤ්ඤා සහිත චේතනාවට ඇලීම නිසා සංස්කාර උපාදානස්කන්ධය වෙයි. නාමරූපයෙහි පිහිටි දැනීම් ස්වභාවයට ඇලීම් නිසා විඤ්ඤාණ උපාදානස්කන්ධය වෙයි. අරමුණු මනාප වශයෙන් අල්ලා ගැනීම අභිජ්ඣාවයි. අරමුණු අමනාප වශයෙන් අල්ලා ගැනීම දොමනස්සයයි. අභිජ්ඣා වශයෙන් ඇලීමත් දොමනස්ස වශයෙන් ගැටීමත් තණ්හාවයි. ''වෙදනා පච්චයා තණ්හා'' යයි කීවේ මෙතැනයි. පුද්ගලත්වය උපදවන්නේ තණ්හාවයි. (තණ්හා ජනෙති පුරිසං)[1]

සත්ත්වයා පුද්ගලයා යන පැනවීම සම්මතය ඇති වන්නේ මේ උපාදානස්කන්ධ ක්‍රියාවලියට ය. සත්ත්වයා යනු ස්ථිර වශයෙන් ඇති කෙනෙක් නො වේ. මේ උපාදානස්කන්ධ යනු ද නිරතුරු අරමුණු ග්‍රහණය කෙරෙමින් සිදුවන වේගවත් සිත් ක්‍රියාවලිය ම ය. මමත්වය, පුද්ගලත්වය යනු නියත ස්වභාවයක් නොව නිරතුරු වේගයෙන් මැවි මැවී ඇති සේ වැටෙහෙන ධර්මතාවකි. සිත් පහළ

1. සං: නි: 1, පඨමජනෙති සූත්‍රය, 68 පිට, බු: ජ: මු:

වන්නේ එකක් පසු එකක් වශයෙන් වේගයෙනි.

සේයා පටයක පින්තූර වැනි ය. සේයා පටයේ ඇත්තේ එකක් පසු එකක් වශයෙන් වූ පින්තූර ය. පටිධාවන යන්ත්‍රයක යොදා තිරය මත ඡායාව වැටෙන්නට සැලැස්වූ විට පුද්ගලයා දකින්නේ එකක් පසු එකක් වශයෙන් දුවන පින්තූර වැලක් නො වේ. කිසියම් සිදුවීම් වැලකි. පුද්ගලයා දන් සැබෑ දෙයක් නරඹන්නා සේ තිරය දෙස බලා සිටියි. ඉන්ද්‍රිය මගින් අත්දැකීම් ලබමින් සංකල්ප ගොඩනැගීම ද මෙබඳු ම මුළාවකි. මමත්වයේ මුළාව චිත්‍රපටියේ මිත්‍යාව මෙන් පහසුවෙන් නො වැටෙහේ. ඒ සඳහා සදහම් පිළිවෙත වැඩිය යුතු ම ය. විදර්ශනා වැඩිය යුතු ම ය. එසේ නො කළහොත් සිදු වන්නේ භවයට ඇදෙන කර්ම සිදු වීම ම ය. 'විඤ්ඤාණය' කියන්නේත් අරමුණු ගන්නා විට නිරතුරු මැවෙමින් තිබෙන ධර්මතාවක් ම ය. බුද්ධකාලයෙහි 'සාති' නැමැති භික්ෂූන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේගේ ධර්මදේශනාව හඳුනාගත්තේ 'අනන්‍ය වූ නොවෙනස් වන විඤ්ඤාණයක් සසර සැරිසරන බව' දේශනා කරන්නක් හැටියට ය. එය පවිටු දෘෂ්ටියක් බවත් තමන් වහන්සේ නොයෙක් අයුරින් දේශනා කර ඇත්තේ පටිච්චසමුප්පන්න විඤ්ඤාණයක් බවත් වදාරමින් බුදුරජාණන් වහන්සේ සාති ඇතුළු භික්ෂූන් වහන්සේලාට නැවත ප්‍රතීත්‍යසමුත්පාදය පැහැදිලි කළහ.[1]

'රූපය පෙණ පිඬක් වැනි ය. වින්දනය දියබුබුලක් වැනි ය. සඤ්ඤාව මිරිඟුවක් වැනි ය. සංඛාර කෙසෙල් කඳක් මෙන් හරසුන් ය. විඤ්ඤාණය මායාවක් වැනි ය' යි ආදිච්චබන්ධු වූ බුදුරජාණන් වහන්සේ විසින් දක්වන ලදී.[2]

1. ''අනෙකපරියායෙන හි වො භික්ඛවෙ පටිච්චසමුප්පන්නං විඤ්ඤාණං වුත්තං මයා, අඤ්ඤත්‍ර පච්චයා නත්ථි විඤ්ඤාණස්ස සම්භවො.''
මඃ නිඃ 1, මහාතණ්හාසංඛය සූත්‍රය, 606 පිට, බුඃ ජඃ මුඃ
2. ''පෙණපිණ්ඩූපමං රූපං වෙදනා බුබ්බුළූපමා
මරීචිකූපමා සඤ්ඤා සංඛාරා කදලූපමා
මායූපමඤ්ච විඤ්ඤාණං දීපිතාදිච්චබන්ධුනා.''
සංඃ නිඃ 3, පෙණපිණ්ඩූපම සූත්‍රය, 244 පිට, බුඃ ජඃ මුඃ



**කම්ම සමුදය :**

සංසාර සත්ත්වයෝ බාලයින් විසින් මැනවැයි කියවන මේ විඤ්ඤාණය (මායායං බාලලාපිනී) නමැති මායාවෙහි රැවටී සිටිති. ඉන්ද්‍රියයත් අරමුණත් විඤ්ඤාණයත් යන තුනෙහි එක්වීම නම් වූ ස්පර්ශය සමඟම ප්‍රකට වන සංවේදන සංජානන සංචෙතන ක්‍රියාවලිය ඔස්සේ අයොනිසොමනසිකාරයෙන් ඡන්දරාගයට වැටෙයි. ඒ පරවිෂය යි. පියඋරුමය නම් නො වේ. එසේ නම් කර්ම ගොඩනැගීමට වඩා වෙන කුමක් සිදු වන්නට ද? භවකර්ම ගොඩනැගීමේ හේතු තුනකි. තව අයුරකින් කිවහොත් මේ මොහොතේ තෘෂ්ණාව උපදවන හේතු තුනකි.[1]

1. අතීතයේ විඳගත් ඡන්දරාගයට කරුණු වූ අත්දැකීම් මේ මොහොතෙහි සිහිකරමින් සිතින් අනුවිතර්කනය කරයි. අනුව සිත හසුරුවයි. එමගින් ඒ කැමැත්ත පිළිබඳ කරුණු සමඟ සංයුක්ත වෙයි.
2. අනාගතයෙහි විඳගැනීමට බලාපොරොත්තු වන ඡන්දරාගයට කරුණු වන අත්දැකීම් මේ මොහොතෙහි සිහිකරමින් අනුවිතර්කනය කරයි. අනුවිචාරණය කරයි. එමගින් ඒ කැමැත්ත පිළිබඳ කරුණු සමඟ සංයුක්ත වෙයි.
3. මේ මොහොතේ විඳගන්නා ඡන්දරාගයට කරුණු වන අත්දැකීම් මේ මොහොතේ ම භුක්ති විඳිමින්

1. ''අතීතෙ ඡන්දරාගට්ඨානීයෙ ධම්මේ ආරබ්භ චෙතසා අනුවික්කෙති අනුවිචාරෙති. තස්ස අතීතෙ ඡන්දරාගට්ඨානීයෙ ධම්මෙ ආරබ්භ චෙතසා අනුවිතක්කයතො අනුවිචාරයතො ඡන්දො ජායති.
ඡන්දජාතො තෙහි ධම්මෙහි සඤ්ඤුත්තො හොති .... අනාගතෙ .... පච්චුප්පන්නෙ...''
අංඃ නිඃ 1, සම්බෝධි වග්ගයේ 10 වැනි සූත්‍රය, 470 පිට, බුඃ ජඃ මුඃ

අනුවිතර්කනය කරයි. අනුවිචාරණය කරයි. එමගින් ඒ කැමැත්ත පිළිබඳ කරුණු හා සංයුක්ත වෙයි.

මෙසේ 'සිත පිළිබඳ යම් සංරාගයක් වේ ද, මම ඒ සංරාගය සංයෝජනය යි කියමි' යි බුදුරජාණන් වහන්සේ වදාරති. ත්‍රිශික්ෂාවෙහි උත්සුක වන්නේ නැති නම් සිදුවන්නේ අතීත අනාගත හා පච්චුප්පන්න ඡන්දරාගයනට ඇලී සිටීමයි. මෙසේ සිදුවන්නේ කර්ම බිහිවීමයි. (කම්ම සමුදය) ඉන්ද්‍රියයන් අරමුණු වලට බැඳෙන්නේ නැත. අරමුණු ඉන්ද්‍රිය වලට බැඳෙන්නේ ද නැත. පුද්ගලයා බැඳෙන්නේ ඉන්ද්‍රිය හා අරමුණු සම්බන්ධතාවේ දී උපදින ඡන්දරාගයට ය.[1] ඒ නිසා පුද්ගලයා කළ යුත්තේ බාහිර ලෝකය නිවැරදි කිරීම නො වේ. ඡන්දරාගය විනයනය කිරීමයි. ''පුද්ගලයාගේ කාමය නම් සංකල්පීය රාගයයි. විවිධාකාර ලෝකය කාමය නො වේ. විචිත්‍ර වූ කාමවස්තු එලෙස ම පවතියි. ඒ නිසා ප්‍රඥාවන්තයෝ ඡන්දරාගය විනයනය කරති.''[2]

## පියඋරුමයෙහි නො රැඳුනහොත්....:

මාලුංක්‍යපුත්ත හිමියෝ වියපත් පශ්චිම වයසේ සිටි තෙරනමකි. උන්වහන්සේ බුදුරජාණන් වහන්සේගෙන් මෙසේ ඉල්ලා සිටියහ. 'ස්වාමිනි, එකලාව නො පමාව කෙලෙස් තවන වීර්යය ඇතිව නිවනට මෙහෙය වූ සිත් ඇතිව වාසය කිරීමට සුදුසු

1. ''න චක්ඛු රූපානං සඤ්ඤොජනං, න රූපා චක්ඛුස්ස සඤ්ඤෝජනං,
යඤ්ච තදූභයං පටිච්ච උප්පජ්ජති ඡන්දරාගො තං තත්ථ සංයෝජනං.''
සං: නි: 4, සංයෝජන සූත්‍රය, 552 පිට, බු: ජ: මු:

2. ''සංකප්පරාගො පුරිස්ස කාමො
නෙතෙ කාමා යානි චිත්‍රානි ලොකෙ,
සංකප්පරාගො පුරිසස්ස කාමො
තිට්ඨන්ති චිත්‍රානි තථෙව ලොකෙ,
අථෙත්ථ ධීරා විනයන්ති ඡන්දං''
අං: නි: 4, නිබ්බෙධික සූත්‍රය, 202 පිට, බු: ජ: මු:



දහමක් කෙටියෙන් දේශනා කරන්න' යනු ඒ ඉල්ලීමයි.

**මාලුංක්‍යපුත්ත, දිරාගිය වියපත් මහලු පශ්චිම වයසට පැමිණි නුඹ සැකෙවින් අවවාද ඉල්ලන්නේ නම් මේ කරුණෙහි ලා තරුණ භික්ෂූන්ට කුමක් කියන්නෙම් ද**'යි බුදුරජාණන් වහන්සේ වදාළහ.

'ස්වාමීනි, මම දිරූ වියපත් මහලු පශ්චිම වයසට පැමිණියෙක් වන නමුදු භාග්‍යවතුන්වහන්සේගේ දේශනාවෙහි අරුත් දැනගන්නේ නම් දේශනාවට හිමිකරුවෙකු වන්නෙම් නම් මැනැවි. එබැවින් මට සැකෙවින් දහම් දෙසන සේක්වා'යි මාලුංක්‍යපුත්ත හිමියෝ ඉල්ලා සිටියහ. එහි දී බුදුරජාණන් වහන්සේ 'මාලුංක්‍යපුත්ත, ඔබ නොදුටු නොඇසූ ආඝ්‍රාණය නොකළ රස නොවිඳි ස්පර්ශ නොකළ සිතින් අරමුණු නොකළ අරමුණු දන්නේ ද නැති නම් අත්දකින්නෙමියි ඔබට සිතක් ද නො වන්නේ නම් එහි ලා ඔබට ඡන්දයක් රාගයක් ප්‍රේමයක් පවතී දැ'යි ප්‍රශ්න කළේ ය. 'ස්වාමීනි, නැතැ'යි මාලුංක්‍යපුත්ත හිමියෝ පිළිතුරු දුන්හ.

''මාලුංක්‍යපුත්තය, මෙහි දී ඔබට දුටු දේ දුටු පමණක් වන්නේ ය. ඇසූ දේ ඇසූ පමණක් වන්නේ ය. ගන්ධ රස ස්පර්ශ වශයෙන් ගත් දේ ගත් පමණක් වන්නේ ය. දත් දේ දත් පමණක් වන්නේ ය. එකල්හි ඔබ එයින් (තෘෂ්ණා හරිතයකු) නො වන්නේ ය. එයින් තෘෂ්ණා හරිතයකු නො වන්නේ නම් එකල්හි ඔබ එහි (තෘෂ්ණාවෙහි) නො පිහිටයි. යම් කලෙක්හි ඔබ තෘෂ්ණාවෙහි නො පිහිටයි ද එක්ලහි ඔබ මෙහි ද නො වේ. එහි ද නො වේ. අතර ද නො වේ. මෙය ම දුකෙහි කෙළවරයි. ''බුදුරජාණන් වහන්සේගේ සංක්ෂිප්ත දේශනයයි. එය ඇසූ මාලුංක්‍යපුත්ත හිමියෝ ඒ සංක්ෂිප්ත භාෂිතය විස්තර වශයෙන් වටහා පැවසූ ගාථාවන් ද

සංක්ෂිප්ත කොට මෙසේ දැක්විය හැකියි.

''රූපය දැක, ශබ්දය අසා, ගන්ධය ආඝ්‍රාණය කොට, රස අනුභව කොට, පහස ලබා, කල්පනාවෙන් දැන ප්‍රිය අරමුණකියි මෙනෙහි කරන තැනැත්තාගේ සිහිය නැසීගියේ විශේෂයෙන් ඇලුණු සිත් ඇතිව විඳියි. (සාරත්තචිත්තො වෙදෙති) එය ගිලගෙන ද සිටියි. (තඤ්ච අජ්ඣොසාය තිට්ඨති) ඔහුට අරමුණු නිසා හටගන්නා නොයෙක් වේදනාවෝ වැඩෙති. (තස්ස වඩ්ඪන්ති වෙදනා) දැඩි ලෝභය ද වෙහෙස ද වැඩෙත්. දැඩි ලෝභයෙන් හා වෙහෙසින් ඔහුගේ සිත පෙළෙයි. (අභිජ්ඣා ච විහෙසා ච චිත්තමස්සූපහඤ්ඤති) මෙසේ දුක් රැස්කරන පුද්ගලයාට නිවන ඈත යැයි කියනු ලැබේ.'' (එවං ආචිනතො දුක්ඛං ආරා නිබ්බාණං වුච්චති) යනුවෙනි. එහි දැක්වෙන්නේ අරමුණු ඇසුරෙන් ඡන්දරාගයට වැටෙන පුද්ගලයා නිවනින් ඈත්වන ආකාරයයි. එනම් පියඋරුමයෙන් පිටපැන්නොත් සිදුවන දෙයයි.



# 7

# සමාධියෙන් ප්‍රඥාවට

**අන්තද්වයෙන් මිදීම :**

කය ම 'මම' යි සිතා සිටීම මාරවිෂයයෙහි ම රැඳී සිටීමකි. කයින් මිදෙමින් යන ආධ්‍යාත්මික ගමනක් බුදුසමයෙහි ප්‍රකාශිතයි. ඒ සඳහා සිදුහත් තවුස් තුමාණන්ට මග විවෘත වූයේ කෙසේ ද? ගෞතමයන් වහන්සේ සිදුහත් කුමාර අවදියෙහි රම්‍ය, සුරම්‍ය, ශුභ යනුවෙන් ඍතු තුනට විශේෂ කර සැකසූ මාලිගා තුනක සැප විඳි බව අපි දනිමු. උන්වහන්සේ ම සිදුහත් කුමරු කල පස්කම් සුව විඳි ආකාරය මෙසේ දක්වති.

''මාගන්දිය, මම පෙර ගිහි ගේ වසන්නෙමි පස්කම් සුවයෙහි සිත් අලවා විසීමි. ඉෂ්ට කාන්ත මනාප ප්‍රිය කාමූපසංහිත රජනීය වූ පංචකාමයෙහි සිත් අලවා විසීමි. මාගන්දිය, මට ප්‍රාසාද තුනක් විය. එකක් වැසි කලට ය. එකක් හේමන්ත සමයට ය. එකක් ගිමන් කලට ය. පුරුෂයන් රහිත වූ ඒවායෙහි මම තූර්යවාදනයෙන් සතුටු වෙමින් පහත මාලයට නො බසිමි.[1]

කය ම මාධ්‍යය කරගෙන සැපත සෙවීම නම් වූ මේ කාමසුඛල්ලිකානුයෝගයෙන් මිදී වනගත තවුස් දිවියක් ඇරඹූ උන්වහන්සේ අත්තකිලමථානුයෝගය ඉහළින් ම ප්‍රගුණ කළ බව ද සූත්‍රවල සඳහන් වේ. අවසානයේ සිද්ධාර්ථ ගෞතමයන් වහන්සේ කය ම මාධ්‍යය කරගත් මේ ක්‍රියාමාර්ගයෙන් ද ශුද්ධියක් ආයඞ්ඤානදර්ශන විශේෂයක් නො වන බව තේරුම් ගත්හ.

1. මඃ නිඃ 2, මාගන්දිය සූත්‍රය, 292 පිට, බුඃ ජඃ මුඃ

සත්‍යාවබෝධය සඳහා අනෙක් මගක් තිබේදැයි සිතා බැලූයේ ඉන් අනතුරුව ය. (සියා නු ඛො අඤ්ඤො මග්ගො බොධාය) එහි දී උන්වහන්සේට ළදරු වියේ දී වරක් පිය ශාක්‍යයන්ගේ කමතේ සිසිල් දඹගස් සෙවනැල්ලේ කාමයෙන් අකුශලයෙන් වෙන් වූ විතර්ක විචාර සහිත ප්‍රීති සුවයෙන් යුතු ප්‍රථම ධ්‍යානයට එළඹ වාසය කළ බව කල්පනා විය.[1]

එය සත්‍යාවබෝධය සඳහා මාර්ගය නො වන්නේදැයි අනතුරුව සිතා බැලී ය. (සියා නු ඛො එසොව මග්ගො බොධාය) එහි දී එය ම සත්‍යාවබෝධයට මාර්ගය බව සිහිය අනුව යන විඤ්ඤාණය පහළ විය. (සතානුසාරී විඤ්ඤාණං අහොසි, එසො'ව මග්ගො බොධාය) මෙහි කාමයෙන් අකුශලයෙන් වෙන් වූ විතර්කය හා විචාරය වූයේ කුමක් ද? කාමයෙන් අකුශලයෙන් වෙන් වූ විතර්කය නම් ආශ්වාස ප්‍රශ්වාස අරමුණයි. එය අරමුණු කොට එහි සිත හැසිරීම විචාරයයි. පංචකාමයට අයත් අරමුණක් නො වූ හුස්මරැල්ල අරමුණු කරගැනීම නිසා තාවකාලිකව කාමයෙන් සිත වෙන්කර ගතහැකියි. ඒ කාමයෙන් තොර වීමයි. එහි දී කාමලෝකයට අයත් අකුශල ධර්ම ක්‍රියාත්මක නො වේ. අකුශලයෙන් තොර වීම යනු එයයි. කාමයෙන් අකුශලයෙන් යුතු මනසේ පවත්නා අඳුරු ස්වභාවය ආනාපානසතියේ දී ක්‍රමයෙන් යටපත් වී මනසේ පැහැපත් බව ප්‍රකට වෙයි. සමාධිමත් බව ඇති විට ස්වභාවය එයයි. සමාධිමත් අවස්ථාවේ කාමය අකුශලය නැති නිසා ප්‍රීතිය හා සැපය මතු වේ. කාමයෙන් අකුශලයෙන් තොර වූ තැන කාමසුඛල්ලිකානුයෝගය බැහැර වී ඇත. සමාහිතයෙන් ප්‍රීති සුවය ඇති වන විට අත්තකිලමථානුයෝගය බැහැර වී ඇත.

1. ''අභිජානාමි ඛො පනාහං පිතුසක්කස්ස කම්මන්තෙ සීතාය ජම්බුච්ඡායාය නිසින්නො විවිච්චෙව කාමෙහි විවිච්ච අකුසලෙහි ධම්මෙහි සවිතක්කං සවිචාරං විවෙකජං පීතිසුඛං පඨමං ඣානං උපසම්පජ්ජ විහරිතා.''
මං: නි: 2, බෝධිරාජකුමාර සූත්‍රය, 498 පිට, බු: ජ: මු:



දහම් මගෙහි ගමන සුවදායක වන්නේ ඒ නිසා ය. භාවිත කළයුතු බහුලීකෘත කළයුතු ඒ සුඛයට බිය වියයුතු නැතැයි බුදුරජාණන් වහන්සේ වදාරති.[1]

**සමාධියෙන් ප්‍රඥාවට :**

ආනාපානසති සූත්‍රයට අනුව සමාහිතය ඔස්සේ ප්‍රඥාවට යොමු වන ආකාරය මෙතැන් සිට හඳුනා ගැනීම අවශ්‍ය ය. ආනාපානසතිය භාවිත කිරීම බහුලීකෘත කිරීම මහත්ඵල ය. මහානිශංස දායක ය. ආනාපානසතිය බහුලව වඩන්නේ නම් සතරසතිපට්ඨානය ම (පියඋරුමය) සම්පූර්ණ වෙයි. සතරසතිපට්ඨානය බහුලීකෘත වනවිට සප්ත බෝධ්‍යංග ධර්ම සම්පූර්ණ වෙයි. බෝධ්‍යංග සම්පූර්ණ වන විට විද්‍යා විමුක්ති සම්පූර්ණ කළා වෙයි.

කෙසේ වඩන ලද ආනාපානසතිය මහත්ඵල වේ ද?

ආනාපානසතිය පියවර දාසයක් ඔස්සේ සතර සතිපට්ඨානයට යොමුවන සේ වැඩිය හැකි ය. ඒවා අනුපිළිවෙළින් මෙසේ ගෙනහැර දක්වමු.

**කායානුපස්සනා :**

01. දීර්ඝව ආශ්වාස කරන කල්හි දීර්ඝව ආශ්වාස කරමියි දන සිටියි. (දීඝං වා අස්සසන්තො) දීර්ඝව ප්‍රශ්වාස කරන කල්හි දීර්ඝව ප්‍රශ්වාස කරමියි දන

1. ''ඉදං වුච්චති නෙක්ඛම්මසුඛං පවිවෙකසුඛං....බහුලීකාතබ්බං. න භායිතබ්බං එතස්ස සුඛස්සාති වදාමි.''
මං: නි: 2, ලටුකිකොපම සූත්‍රය, 200 පිට, බු: ජ: මු:

සිටියි. (දීඝං වා පස්සසන්තො)

02. කෙටිව ආශ්වාස කරන කල්හි කෙටිව ආශ්වාස කරමියි දැන සිටියි. (රස්සං වා අස්සසන්තො) කෙටිව ප්‍රශ්වාස කරන කල්හි කෙටිව ප්‍රශ්වාස කරමියි දැන සිටියි. (රස්සං වා පස්සන්තො)

03. සියලු ආශ්වාස ප්‍රශ්වාස කය දන්නා සුළුව ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (සබ්බකාය පටිසංවේදී)

04. ආශ්වාස ප්‍රශ්වාස සංසිඳුවමින් ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (පස්සම්භයං කායසංඛාරං)

නාස් කුහර ඇසුරෙන් දැනෙන ප්‍රමාණයට හුස්ම රැල්ලේ අවධානය තබා එහි එකඟ වන විට දිග කෙටි ස්වභාවය දැනුවත් වීම යනු සමස්ත ආශ්වාස ප්‍රශ්වාස ක්‍රියාවලිය අරමුණු කරගැනීමයි. ආශ්වාසයේ ආරම්භය අවසානයත් ප්‍රශ්වාසයේ ආරම්භය අවසානයත් හොඳින් අවධානයට හසුවන විට පංචඉන්ද්‍රිය වලට නතු වී තිබූ මනසේ කාමසංඥා යටපත් වෙමින් සිත සංසුන් වෙයි. ආශ්වාස ප්‍රශ්වාස ක්‍රමාණුකූලව සියුම් වී යයි. මේ මූලික සමාහිත ස්වභාවයයි.

සමාහිතයක් වැඩිය යුත්තේ භික්ෂුව රූප වේදනා සඤ්ඤා සංඛාර විඤ්ඤාණ යන උපාදානස්කන්ධයන්ගේ යථාභූත ස්වභාවය (සමුදය වය) දැනගන්නේ සමාහිත සිතක් ඇත්නම් පමණක් වන බැවිනි.[1]

1. ''සමාධිං භික්ඛවෙ භාවෙථ. සමාහිතො භික්ඛවෙ භික්ඛු යථාභූතං පජානාති. කිඤ්ච යථාභූතං පජානාති?
රූපස්ස සමුදයඤ්ච අත්ථගමඤ්ච වෙදනාය... සඤ්ඤාය.... සංඛාරානං.... විඤ්ඤාණස්ස....''
සං: නි: 3, සමාධි භාවනා සූත්‍රය, 22 පිට, බු: ජ: මු:



මේ පියවර සතර අයත් වන්නේ කායානුපස්සනාවටයි. ආනාපානසති සමාධිය සැකසෙන විට භික්ෂුව ලෝකයෙහි අභිජ්ඣා දොම්නස් දුරුකොට සිහියෙන් යුතුව කෙලෙස් තවන වීර්යයෙන් යුතුව වෙසේ. මේ අවස්ථාවේ ක්‍රියාත්මක වන ආශ්වාස ප්‍රශ්වාස යනු කායසංඛාරයයි. පඨවි ආපෝ තේජෝ වායෝ යන චතුර්විධ කායයන් කෙරෙහි වූ එක්තරා කායයක් (කායෙසු කායඤ්ඤතරා) බැවින් එය කායානුපස්සනාවට අයත් වේ.

**වේදනානුපස්සනා:**

05. ප්‍රීතිය දන්නා සුලුව ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (පීතිපටිසංවේදී)

06. සුඛය දන්නා සුලුව ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (සුඛපටිසංවේදී)

07. චිත්ත සංඛාර (පීති, සුව) දන්නා සුළුව ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (චිත්තසංඛාර පටිසංවේදී) කාමයෙන් තොර වූ අකුශලයෙන් තොර වූ ප්‍රීති සුඛයක් හෝ එයට වැඩි අනෙක් සමාධියක් අත් නො දකින පුද්ගලයාගේ සිත පංචනීවරණයන්ගෙන් මැඩගෙන සිටියි. පිළිවෙතෙහි උකටලී වෙයි. (අරති) අලස වෙයි. (තන්දී)[1]

08. චිත්තසංඛාර (පීතිසුව) සංසිඳුවමින් ආශ්වාස ප්‍රශ්වාස කරම්'යි හික්මෙයි. (පස්සම්භයං චිත්තසංඛාරං)

දෙවන පියවර අයත් වන්නේ වෙදනානුපස්සනාවටයි. පීති සුව දෙක වේදනායි. වේදනාවන් අතරින් එක්තරා වින්දනයක් වන බැවිනි. (වෙදනාසු වෙදනඤ්ඤතරා) මේ අවස්ථාවේ භික්ෂුව අභිජ්ඣා

1. ම: නි: 2, නළකපාන සූත්‍රය, 218 පිට, බු: ජ: මු:

දොම්නස් දුරුකොට සිහියෙන් යුතුව කෙලෙස් තවන වීර්යයෙන් යුතුව වෙසෙන කල්හි වැඩෙන්නේ වේදනානුපස්සනාවයි.

**චිත්තානුපස්සනාව :**

09. පීති සුව දෙකින් තොර සිත දන්නා සුලුව ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (චිත්තපටිසංවේදී)

10. සිත සතුටු කරවමින් ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (අභිප්පමොදයං චිත්තං)

11. සිත එකඟ කරමින් ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (සමාදහං චිත්තං)

12. සිත මුදවමින් ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (විමොචයං චිත්තං) මේ අවස්ථාවේ මනස ශරීරයෙන් බොහෝ සෙයින් නිදහස් වී පවතියි. මෙය සමාහිතයේ ඉතා දියුණු අවස්ථාවකි.

මේ තෙවන පියවර සතර අයත් වන්නේ චිත්තානුපස්සනාවටයි. චිත්තපටිසංවේදීව, සිත ප්‍රමෝදයට පත් කරමින්, චිත්තේකාග්‍රතාව දියුණු කරමින් නීවරණ ප්‍රීති සුව ආදියෙන් මිදෙමින් කෙලෙස් තවන වීර්යය ඇතිව ලෝකයේ අභිජ්ඣා දොම්නස් දුරුකොට සිහියෙන් යුතුව සිටින කල්හි වැඩෙන්නේ චිත්තානුපස්සනාවයි.

**ධම්මානුපස්සනාව :**

13. අනිත්‍යය නුවණින් දකිමින් ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (අනිච්චානුපස්සී)

14. විරාගය නුවණින් දකිමින් ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (විරාගානුපස්සී)

15. නිරෝධය නුවණින් දකිමින් ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (නිරෝධානුපස්සී)

16. අත්මිදීම නුවණින් දකිමින් ආශ්වාස ප්‍රශ්වාස කරමියි හික්මෙයි. (පටිනිස්සග්ගානුපස්සී)



සිව්වන පියවර අනිච්ච, විරාග, නිරෝධ, පටිනිස්සග්ග වශයෙන් සංස්කාර ස්වභාවයෙන් අනිත්‍ය වශයෙන් දකිමින් ඒවායෙන් වෙන් වෙමින්, නිරෝධ ධර්මතා වශයෙන් දකිමින් සංස්කාරයන්ගෙන් අත්මිදීමයි. කෙලෙස් තවන වීර්යයෙන් යුතුව සතිමත්ව ලෝකයෙහි ඇලීම් ගැටීම් බැහැර කොට වෙසෙන කල්හි වැඩෙන්නේ ධම්මානුපස්සනාවයි.

මෙසේ සංක්ෂිප්ත හැඳින්වීමක් වශයෙන් ඉදිරිපත් කළේ ආනාපානසති භාවනාව තුළින් සතර සතිපට්ඨානය පූර්ණ වන ආකාරයයි. මෙසේ සතර සතිපට්ඨානය වඩන කල්හි සප්තබෝධ්‍යංග ධර්මයෝ පූර්ණත්වයට යෙති. සියලු විද්‍යා විමුක්ති ධර්මයෝ පූර්ණත්වයට යෙති. යම් කලෙක භික්ෂුව කයෙහි කය අනුව බලමින් ලෝකයෙහි ඇලීම් ගැටීම් බැහැර කොට කෙලෙස් තවමින් නො මුළාව එළඹි සිහියෙන් සිටී ද එකල්හි වැඩෙන්නේ **සතිසම්බොජ්ඣංගයයි.** යම් කලෙක ඒ ධර්මතා අනිත්‍යාදී වශයෙන් විනිවිද දකියි ද (පවිචිනති), පරීක්ෂා කරයි ද (පවිචයති), විමසයි ද (පරිවීමංසං ආපජ්ජති) එකල්හි වැඩෙන්නේ **ධම්මවිචය සම්බෝජ්ඣංගයයි.** ඒ සඳහා වීර්යය වඩන කල්හි වැඩෙන්නේ **වීරිය සම්බොජ්ඣංගයයි.** ඒ අනුව උපදින නිරාමිස ප්‍රීතිය ඇති කල්හි වැඩෙන්නේ **පීති සම්බෝජ්ඣංගයයි.** ප්‍රීතිය ඇති කල්හි කය සිත සැහැල්លු වන විට වැඩෙන්නේ **පස්සද්ධි සම්බෝජ්ඣංගයයි.** පස්සද්ධිය නිසා සැපතට පත්වන භික්ෂුවගේ චිත්තය සමාධිගත වන විට වැඩෙන්නේ **සමාධි සම්බෝජ්ඣංගයයි.** සමාහිත සිත ඇති කල්හි සිත උපේක්ෂා සහගත වෙයි. එහි දී වැඩෙන්නේ **උපෙක්ඛා සම්බෝජ්ඣංගයයි.** මේ අයුරින් වේදනානුපස්සනාවේ දී ත් චිත්තානුපස්සනාවේ දී ත් ධම්මානුපස්සනාවේ දී ත් සප්ත බෝධ්‍යංග ධර්ම වැඩේ. (මහාසතිපට්ඨාන සූත්‍රයෙහි ඇතුළත් පුළුල් විස්තර මේ භාවනා මාර්ගයේ දී උචිත ලෙස සම්බන්ධ කරගත යුතු වේ.)

මේ අකාරයෙන් ආනාපානසතිය ඔස්සේ විදර්ශනයට යොමු වන යථාපටිපන්න ශ්‍රාවකයෝ මේ ශරීරය සතරමහාභූතරූප වලින් සැදුම්ලත්, මව්පිය සබඳතාවෙන් හටගත්, ආහාරයෙන් පෝෂණය කරන, අනිත්‍ය වූ ඉලීම් පිරිමැදීම් වශයෙන් පවත්වා ගතයුතු, අවසානයේ බිඳී විසිරී යන ධර්මයක් බවත් මාගේ මේ විඥ්ඥාණය මේ සිරුරෙහි බැස සිටින බවත් එහි ප්‍රතිබද්ධව පවතින බවත් දැනගනිති.[1]

සමාහිතය හඳුනාගත යුත්තේ පංචනීවරණයන්ට ම ඉඩ හළ මනසකින් සත්‍යාවබෝධය කළ නො හැකි නිසා ය. කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්චකුක්කුච්ච, විචිකිච්ඡා යන නීවරණ යනු ප්‍රඥාව දුර්වල කරන දහම් ය. ඒ නීවරණ ධර්ම සිතින් බැහැර නොකර ආත්මාර්ථයක් හෝ පරාර්ථයක් හෝ මිනිස් බවට වැඩි ආර්යඥාන දර්ශන විශේෂයක් හෝ සාක්‍ෂාත් කරන්නේ ය යන්නක් විද්‍යමාන නො වේ.[2]

මේ දළ කය මෛථුනය නිසා හටගත්තකි. (මෙථුනසම්භූතොයං කායො) අස්මිමානය නිසා හටගත්තකි. (මානසම්භූතොයං කායො) ආහාරය නිසා හටගත්තකි. (ආහාරසම්භූතොයං කායො) තෘෂ්ණාව නිසා හටගත්තකි. (තණ්හාසම්භූතොයං කායො) පංචකාමගුණය වඩන කබලීකාර

1. පුන ච පරං උදායි අක්ඛාතා මයා සාවකානං පටිපදා යථාපටිපන්නා මෙ සාවකා එවං පජානන්ති. අයං ඛො මෙ කායො චාතුම්මහාභූතිකො මාතාපෙත්තික සම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදන පරිමද්දන භේදන විද්ධංසන ධම්මො. ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධං''
   මං: නි: 2, මහාසකුලුදායි සූත්‍රය, 356 පිට, බු: ජ: මු:
2. ''සො වත භික්ඛවෙ භික්ඛු පඤ්ච ආවරණෙ නීවරණෙ චෙතසා අජ්ඣාරුහෙ පඤ්ඤායදුබ්බලීකරණෙ අප්පහාය අබලාය පඤ්ඤාය දුබ්බලාය අත්තත්ථං වා ඤස්සති පරත්ථං වා ඤස්සති උත්තරිං වා මනුස්සධම්මා අලමරියඤාණදස්සනවිසෙසං සච්ඡිකරිස්සතීති නෙතං ඨානං විජ්ජති.''
   අං: නි: 3, නීවරණ සූත්‍රය, 100 පිට, බු: ජ: මු:



ආහාරයටත්, වින්දනය වඩන ඵස්සාහාරයටත්, තෘෂ්ණාව වඩන මනොසංචෙතනාහාරයටත් නාමරූප වඩන විඤ්ඤාණාහාරයටත් ඇලෙන අස්මිමානයෙන් යුතු නුවණ මදයා නැවත නැවතත් මව්ගැබට ඇදෙයි. මාංශදේහග්‍රහණය කරයි. ඒ නිසා ශාස්වත හෝ උච්ඡේද හෝ දෘෂ්ටීන්ට නො පැමිණ කය ඇසුරු කරගෙන මනස විසින් සිදු කරගන්නා පාපයන්ගෙන් වැළකීම නම් වූ සීලයෙන් යුතුව, සමාධි භාවනාව තුළින් කය හා මනස අතර වෙනස හඳුනාගෙන, කයත් මනසත් එක්ව ගොඩනඟන කාමසංඥාවන් පිළිබඳ තෘෂ්ණාව බැහැර කරමින් එළඹි කායගතාසතියෙන් යුතුව ක්‍රියා කරන්නේ නම් නැවත නැවතත් මව්ගැබකට ඒම වැළකී යයි.

# 8

# මේ මොහොතේ විදර්ශනය

විදසුන් වැඩීම යනු හුදෙක් වාඩි වී කරන භාවනාවක් පමණක් නොවේ. ඉඳුරන් මගින් අරමුණු ගන්නා විට ඇලීම්, ගැටීම් වශයෙන් භවකර්ම සිත්, උපාදානස්කන්ධ සිත් සකසමින් සිටීම අභාවිත පුද්ගලයාගේ ස්වභාවයයි. සිහියෙන් තොරව ෂඩින්ද්‍රියානුසාරී අරමුණුවලට **(කාය)** ඇලී ක්‍රියාත්මක වන තැනැත්තා එමගින් උපදින වින්දන **(වෙදනා)** සිතින් පිළිගනියි. **(චිත්ත)** ඵස්සායතන සය ලබන වින්දන සිතින් පිළිගන්නා විට කාමච්ඡන්ද ආදී නීවරණ, උපාදානස්කන්ධ **(ධම්ම)** ක්‍රියාත්මක වේ. මේ කාය, වේදනා, චිත්ත, ධම්ම යන කරුණු සතර අවබෝධ කරගත යුතු ය. මේ කරුණු අනිත්‍ය වශයෙන් දුක් වශයෙන් අනාත්ම වශයෙන් යෝනිසෝමනසිකාරයෙන් බලන පුද්ගලයාට කයේ යථාර්ථය පෙනෙන බැවින් වින්දන ක්ෂේත්‍රය නිරාමිස වෙයි. චිත්තය රාග දෝස මෝහ ස්වභාවයන්ගෙන් මිදෙයි. ධර්ම වශයෙන් නීවරණ ක්ෂය වෙමින් බෝධි අංග වැඩෙයි. චතුරාර්ය සත්‍යය අවබෝධ වෙයි.

සමාහිතය හඳුනන බැවින් සත්‍යාවබෝධය උදෙසා සැකසුන මනසක් ඇතිව නිරතුරු කාය වින්දන චිත්ත ධම්ම ක්‍රියාත්මක වන ස්වභාවය විදර්ශනයට යොමු කිරීම කළ යුත්තේ ඉන්ද්‍රිය අත්දැකීම් ලැබෙන අවස්ථාවේදීම ය. නැත්නම් සිදුවන්නේ අතීත ඡන්ද රාගට්ඨාණීය ධර්ම මේ මොහොතට ඇදගෙන භව කර්ම සැදීමයි. නැත්නම් මතු අනාගත අපේක්ෂා වශයෙන් ගොඩනඟන ඡන්දරාගට්ඨාණීය ධර්ම මේ මොහොතට ඇදගෙන භව කර්ම සැකසීමයි. එසේත් නැත්නම් මේ මොහොතේ ඡන්දරාගයට කරුණු වන අත්දැකීම් ඔස්සේ භවකර්ම සැකසීමයි. මෙහිදී වැඩෙන්නේ සසර



දුකම විනා අන් යමක් නොවේ. ඉන්ද්‍රිය හා අරමුණු සම්බන්ධතාවේ දී භවගාමී දුකම නිරතුරු නිර්මාණය වන ආකාරය සූත්‍රානුසාරයෙන් තේරුම් ගැනීම මෙහිදී වැදගත් ය.

ඉන්ද්‍රියානුසාරීව අරමුණු ලැබීමේදී ප්‍රිය අරමුණෙහි ඇලෙයි. අප්‍රිය අරමුණෙහි ගැටෙයි. කායගතාසතියට නො එළඹ අකුසලයට වැටුණු සිතින් වාසය කරයි. යම් අයුරකින් ලාමක වූ අකුසල් ඉතිරි නොකොට නිරුද්ධ වේද ඒ චේතෝවිමුත්තියත් පඤ්ඤාවිමුත්තියත් යථාභූත වශයෙන් නොදනියි. මෙසේ ඇලීමටත් ගැටීමටත් පැමිණියේ සුඛ හෝ දුක්ඛ හෝ අදුක්ඛමසුඛ හෝ යම් වින්දනයක් ලබයි ද පුද්ගලයා ඒ වින්දනය අභිනන්දනය කරයි. කොතරම් සැපයක්දැයි කියයි. දැඩිව ඇලෙයි. එසේ ඒ වින්දනයෙන් සතුටු වන, කියන, ඇලී සිටින පුද්ගලයාට තෘෂ්ණාව උපදියි. එසේ තෘෂ්ණා කරන වින්දනය උපාදාන කරයි. උපාදානයෙන් ඔහුට භවය වෙයි. භව ප්‍රත්‍යයෙන් ජාති දුක වෙයි. ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ සෝක පරිදේව දුක් දොම්නස් බිහිවෙයි. මෙසේ සමස්ත දුකෙහි සමුදය වෙයි.[1] මේ ඉන්ද්‍රිය අත්දැකීම් විසින් සසර දුක නිර්මාණය කෙරෙන ආකාරයයි. යෝනිසෝමනසිකාරයක් නැති තැන සිදුවන්නේ මේ ක්‍රියාවලිය ම ය. මේ තත්ත්වයට යටත්ව සිටිමින් සිතිය හැක්කේ කවර නම් සසුන් මෙහෙවරක් ගැන ද? අතීතයටත් අනාගතයටත් දුවන සිත විදසුන් වැඩීමෙහි අසමත් ය. එහෙයින් බුදුරජාණන් වහන්සේ මෙසේ වදාරති.

''අතීත පංචස්කන්ධය තණ්හා උපාදාන වශයෙන් නොගන්න. අනාගත පංචස්කන්ධය කැමති නොවන්න. අතීත පංචඋපාදානස්කන්ධ ඉක්ම ගොස් ය. අනාගත පංචඋපාදානස්කන්ධ පැමිණ නැත.''

''වෙත එළඹි පංචඋපාදානස්කන්ධ ධර්මයන් ඒ ඒ තන්හි (අනිත්‍ය දුක්ඛ අනන්ත වශයෙන්) විදර්ශනය කරයි ද ඒ නුවණැත්තා

1. මඃ නිඃ 1, මහාතණ්හාසංඛය සූත්‍රය, 624 පිට, බුඃ ජඃ මුඃ

නො සැලෙන සුලු, නො නැසෙන සුලු විදර්ශනාව වඩයි.''

''අදම කෙළෙස් තවන වීර්යය අරඹන්න. මරණය හෙට වේයැයි දන්නේ කව්ද? මහා සේනා ඇති මාරයා සමග කවර නම් මිතුරු ගිවිසුමක් ද?''

''මෙබඳු විහරණ ඇති, කෙළෙස් තවන වීර්යය ඇති, වා රෑ අනලස් වූ පුද්ගලයා උත්තරීතර හුදෙකලාවෙහි ඇලුනේය යනුවෙනි.''[1]

මේ අනුව සසරින් මිදෙන්නට ඉන්ද්‍රිය අත්දැකීම් අනුව මේ මොහොතේ උදාවන පංචඋපාදානස්කන්ධ සිත්වල අනිත්‍යතාව ඒ ඒ මොහොතේ ප්‍රත්‍යවේක්ෂණය කළයුතුව තිබේ. මෙතැන දී වැදගත් වන්නේ ඉන්ද්‍රිය සංවරයයි. ''ඉන්ද්‍රිය සංවරය නැත්තාගේ ශීලයට පිහිටක් නැත. ශීලය නැති තැන සම්මා සමාධිය ප්‍රතිෂ්ඨා රහිත ය. සම්මා සමාධිය නැති තැන යථාභූත ඥාන දර්ශනය (විදසුන් ප්‍රඥාව) ප්‍රතිෂ්ඨා රහිතය. යථාභූත ඥාන දර්ශනය නැති තැන නිර්වේදය හා විරාගය ප්‍රතිෂ්ඨා රහිත ය. නිබ්බිදාවිරාගය නැති තැන විමුක්ති ඥාන දර්ශනය ප්‍රතිෂ්ඨා රහිතය.''[2] ඉන්ද්‍රිය අරමුණු ලැබීමේ දී මනාප අමනාප වශයෙන් සිත් පහළ වීම යනු උපාදානස්කන්ධ සැකසීම යි. එනම් නිරතුරු මමත්වය පෝෂණය කිරීම යි. මමත්වය යනු ඇත්තක් නොව මවා ගන්නා සංකල්පනාවකි.

ඒ නිසා අනුත්තර ඉන්ද්‍රිය භාවනාව තේරුම් ගත යුතු යි. ඇස, කන, නාසය, දිව, ශරීරය, මනස යන ඉන්ද්‍රියයන්ගෙන් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම වශයෙන් අරමුණු ලැබීමේ දී මනාප සිත් උපදියි. අමනාප සිත් උපදියි. මනාපාමනාප සිත් උපදියි. භික්‍ෂුව ඒ පිළිබඳව මෙසේ දැනගනියි. මට මනාපයක් උපන්නේ ය.

1. මඃ නිඃ 1, භද්දෙකරත්ත සූත්‍රය, 398 පිට, බුඃ ජඃ මුඃ
2. අංඃ නිඃ 4, ඉන්ද්‍රිය සංවර සූත්‍රය, 130 පිට, බුඃ ජඃ මුඃ



අමනාපයක් උපන්නේ ය. මනාපාමනාපයක් උපන්නේ ය. එය සකස් වූවකි. ඕලාරික වූවකි. ප්‍රතීත්‍ය සමුප්පන්න වූවකි. යම් උපේක්‍ෂාවක් වන්නේ නම් ශාන්ත වන්නේ ප්‍රණීත වන්නේ එයම ය. එසේ දැනගන්නා භික්‍ෂුවට ඒ උපන් මනාපය, අමනාපය, මනාපාමනාපය නිරුද්ධවෙයි. ඇසින් දුටු අරමුණක් නම් ඇසිපිය හෙළන තරම් සැණෙකින් ද, කනින් ඇසූ අරමුණක් නම් අසුරක් ගසන තරම් සැණෙකින් ද, නාසයෙන් ආඝ්‍රාණය කළ අරමුණක් නම් ඇලකළ නෙලුම් පතක දිය බිඳුවක් ලිස්සන්නාක් මෙන් ද, ලැබූ රස අරමුණක් නම් දිවගට එක්කළ කෙළ පිඩක් ඉවත ලන්නා සේ ද, කායික පහසක් නම් වක්කළ අතක් දික් කරන තරම් ක්‍ෂණයකින් ද, මනසේ ධම්මාරම්මණයක් නම් රත්කළ ලෝහ තහඩුවකට දියබිඳක් හෙළන තරම් සැණෙකින් ද උපන් මනාපාමනාප සිත් වහා, නිදුකින් නිරුද්ධ වී උපේක්‍ෂාවේ සිත පිහිටයි.[1] (එවං සීඝං එවං තුවටං එවං අප්පකසිරෙන උප්පන්නං මනාපං උප්පන්නං අමනාපං උප්පන්නං මනාපාමනාපං නිරුජ්ඣන්ති උපෙක්ඛා සණ්ඨාති)

ප්‍රතිපදාවේ හික්මෙන භික්‍ෂුව අරමුණු ලැබීමේ දී මනාප අමනාප මනාපාමනාප සිත් පිළිබඳව දුක්වෙයි. (අට්ටීයති) ලජ්ජාවෙයි. (හරායති) පිළිකුල් කරයි. (ජිගුච්ඡති) වඩන ලද ඉඳුරන් ඇති භික්‍ෂුවට කැමති නම් පිළිකුල් දැයෙහි පිළිකුල් නැතිව සිටීමට පිළිවන. කැමති නම් පිළිකුල් දැයෙහි පිළිකුල් ඇතිව සිටීමට පිළිවන. ඉඳින් කැමති නම් පිළිකුල අපිළිකුල යන සංඥා දෙක ම බැහැරකොට උපේක්‍ෂාවෙන් යුතුව විසීමට ද පුළුවන. (සචෙ ආකඞ්ඛති පටික්කූලං ච අපපටිකූලංච තදුභයං අභිනිවජ්ජෙත්වා උපෙක්ඛකො විහරෙය්‍යං සතො සමපජානොති උපෙක්ඛකො තත්‍ථ විහරති සතො සමපජානො)

1. මඃ නිඃ 3 ඉන්ද්‍රියභාවනා සූත්‍රය, 618-620 පිටු, බුඃ ජඃ මුඃ

සසුන් පිළිවෙත ඉක්මනින් නිදුකින් වැඩිය හැකි බවයි මින් පෙනෙන්නේ. සමාධි ශක්තියත් දියුණු කරගනිමින් මෙසේ අරමුණු අනුව ගොඩනැගෙන මනාප අමනාප සිත් අනිත්‍ය වශයෙන්, හුදු සිත් මාත්‍ර වශයෙන් මෙනෙහි කරන්නේ නම් කෙළෙස් ප්‍රහාණයට මග එයයි. කර්මක්‍ෂය කිරීමට මග එයයි. පුද්ගලයා මමත්වය මිථ්‍යාවක් බව නොදන ඉන්ද්‍රිය අරමුණු ඇසුරෙන් මනාප අමනාප වශයෙන් මවන සිත්වල උපාදානස්කන්ධ ක්‍රියාත්මක වේ. උපාදානස්කන්ධයන්හි ද ඉන් අන්‍යතරව ද සත්‍ය වශයෙන් ස්ථිර වශයෙන් සත්ත්වයෙක් උපලබ්ධි නොවන කල්හි මේ සිදුවන්නේ නිශ්පුද්ගල ක්‍රියාවලියකි. නිරන්තර යෝනිසෝමනසිකාරයෙන් ත්‍රිලක්‍ෂණ මනසිකාරයෙන් කටයුතු කිරීමෙන් මමත්වයේ මිථ්‍යාව ක්‍රමයෙන් අවබෝධ වෙයි. ඇලීම් ගැටීම් වෙනුවට ඡන්දරාගය ක්‍රමයෙන් ප්‍රහාණය වෙයි.

යම් භික්‍ෂුවක් බෝධිපාක්ෂික ධර්ම වඩන්නේ නම් විශේෂයෙන් අපේක්‍ෂා නො කළත් ස්ථිරව ම කෙලෙසුන් ප්‍රහාණය සිද්ධ වේ. බිජුවට රකින කිකිළියක බිජුවට වලට උණුසුම දෙයි. ඇය කරන්නේ එපමණ ය. නියෙන් තුඩෙන් කටුව බිඳගෙන පැටවුන් එළියට ඒවායි ඇයට පැතුමක් නැත. එපරිද්දෙන් බවුන් වඩන භික්‍ෂුවක් ''මගේ සිත ආස්‍රවයන්ගෙන් මිදේවායි කැමැත්තක් නො ඉපිද වුව ද සිත ආස්‍රවයන්ගෙන් මිදෙනවා ඇත.'' වෑයකින් වැඩ කරන වඩුවෙකුට අද වෑ මිටෙහි මෙපමණ ගෙවිනැයි දැනීමක් නැත. එහෙත් කලක් වැඩ කරන විට ගෙවුණු කොටස ගෙවුණේ ම යයි දැනගනියි. එපරිද්දෙන් ම බවුන් වඩන කල්හි නිදුකින් ම සංයෝජන සංසිඳී යයි.[1]

## අනභිසම්බුද්ධ බෝසත් අවධියේ බවුන් වඩද්දී :

1. ''එවමෙව බො භික්ඛවෙ භාවනානුයොගමනුයුත්තස්ස භික්ඛුණො විහරතො අප්පකසිරෙනෙව සඤ්ඤෝජනානි පටිස්සම් භන්ති, පූතිකානි භවන්ති.
සංඃ නිඃ 3, වාසිජටොපම සූත්‍රය, 266 පිට, බුඃ ජඃ මුඃ



සිද්ධාර්ථ ගෞතමයන් වහන්සේ ද අනභිසම්බුද්ධ බෝසත් අවස්ථාවේ දී බවුන් වැඩූයේ මේ අයුරින් ම ය. බෝසත් අවදියේ දී අප්‍රමාදීව කෙළෙස් තවන වීර්යය වඩන කල්හි උන්වහන්සේට ද කාම විතර්ක ව්‍යාපාද විතර්ක විහිංසා විතර්ක පහළ වූ බව ද්වේධා විතක්ක සූත්‍රයේ දී වදාරති.

''එකල්හි මේ කාමාදී විතර්ක තමාට දුක් පිණිස වන බවත් අනුනට ද දුක් පිණිස වන බවත් ඒ දෙපසට ම දුක් පිණිස වන බවත් ඒ විතර්ක ඇති කල්හි ප්‍රඥාව නිරුද්ධ වන බවත් වෙහෙස පිණිස වන බවත් නිවන සඳහා නො වන බවත් මෙනෙහි කරන විට උපන් කාමවිතර්ක අස්තයට යයි. මහණෙනි මම උපන් උපන් කාමවිතර්ක දුරු කළෙමි. බැහැර කළෙමි. එය අවසන් වූවක් ම කළෙමි''[1] වදාරති.

භික්‍ෂුව යම් විතර්කයක් බහුල වශයෙන් නැවත නැවත විතර්කනය කෙරේ ද ඒ ඒ ලෙසින් සිත නැඹුරුවට යයි. භික්‍ෂුව කාමවිතර්ක බහුල කෙරේ නම් නෛෂ්ක්‍රම්‍ය විතර්කය දුරු වෙයි. ව්‍යාපාද විතර්ක බහුල කෙරේ නම් අව්‍යාපාද විතර්ක දුරු වෙයි. විහිංසා විතර්ක බහුල කෙරේ නම් අවිහිංසා විතර්කය දුරු වෙයි. ඒ නිසා අකුශල පක්‍ෂයෙහි ආදීනව දකිමින් කුශල පක්‍ෂයෙහි ආනිශංස දකිමින් ගොයමට හානි නො වන ලෙස කෙවිටෙන් ගසා ගවයන් රකින ගොපල්ලෙකු මෙන් කාම ව්‍යාපාද විහිංසා සිත් විදර්ශනයෙන් බැහැර කරමින් කුශලය වැඩිය යුතු ය. නෙක්ඛම්ම අව්‍යාපාද අවිහිංසා විතර්ක බහුල කරන කල්හි වැඩුණු කුශල පක්‍ෂය ඇත්තේ වෙයි. කුශල ධර්මය මේ යයි සිහිකිරීම් පමණක් වෙයි. ශස්‍ය නෙලූ කෙතෙහි ගවපාලකයාට ''මේ ගවයෝ ය'' යන සතිය පමණක්

1. ''අත්තව්‍යාබාධාය සංවත්තතීපි මෙ භික්ඛවෙ පටිසංචික්ඛතො අබ්භත්ථං ගච්ඡති...... පඤ්ඤානිරොධිකො විඝාතපක්ඛිකො අනිබ්බාණසංවත්තනිකොතිපි මෙ භික්ඛවෙ පටිසංචික්ඛතො අබ්භත්ථං ගච්ඡති. සො ඛො අහං භික්ඛවෙ උප්පන්නුප්පන්නං කාමවිතක්කං පජහමෙව විනොදමෙව බ්‍යන්තමෙව නං අකාසි.''
මඃ නිඃ 1, ද්වෙධා විතක්ක සූත්‍රය, 288 පිට, බුඃ ජඃ මුඃ

ප්‍රමාණවත් වන්නාක් මෙනි.

තපුස්ස ගහපති සූත්‍රයේ දී තමන්වහන්සේ බෝසත් අවධියෙහි නෛෂ්ක්‍රම්‍යය විවේකය ශාන්තයයි දකිමිනුත් එහි සිත් නො පිහිටන විට කාමයෙහි ආදීනව සලකමින් උත්සාහ ගත් අයුරු අනඳ හිමියන් අමතා බුදුරජාණන් වහන්සේ වදාරන ආකාරය දක්නට ලැබේ. ''ආනන්දය, ඒ මම පසුකලෙක කාමයෙහි ආදීනව දැක එය බහුල කළෙමි. නෛෂ්ක්‍රම්‍යයෙහි ආනිශංස අවබෝධ කරගෙන එය ඇසුරු කළෙමි. එය ශාන්තයයි දකින මාගේ සිත නෛෂ්ක්‍රම්‍යයෙහි යොමු වෙයි. පහදියි. පිහිටයි. (කෙලෙසුන්ගෙන්) මිදෙයි.[1]

කාම ගුණ සූත්‍රයේ දී, තමන් වහන්සේ අනභිසම්බුද්ධ බෝසත් අවස්ථාවේ දී අතීතයේ සිත ස්පර්ශ කළ යම් පංචකාම ගුණයක්වේ ද, වර්තමාන පංචකාම ගුණයක් වේද, මාගේ සිත එහි බහුල වශයෙන් පවතියි. අනාගත පංචකාම ගුණයෙහි මඳ වශයෙන් පවතියි.'' යන සිත මට ඇතිවීයැයි ප්‍රකාශිත ය. එතැන දී තමාට වැඩ කැමති මා විසින් පංචකාම ගුණයේ පවත්නා කල්හි අප්‍රමාදයෙන් සතියෙන් සිතේ ආරක්ෂාව කටයුතුය යන සිත මට ඇතිවිය.[2]

එබැවින් මහණෙනි, මෙහි දී ඔබලා ද අතීත වූ පංචකාම ගුණයන් ස්පර්ශ කළා ද වර්තමාන පංචකාම ගුණයන් ස්පර්ශ කරන්නේ ද යම් අනාගත පංචකාම ගුණයක් මඳ වශයෙන් ස්පර්ශ

1. ''සො බො අහං ආනන්ද, අපරෙන සමයෙන කාමෙසු ආදීනවං දිස්වා තං බහුලමකාසිං. නෙක්ඛම්මෙ ආනිසංසං අධිගම්ම තමාසෙවිං, තස්ස මය්හං ආනන්ද නෙක්ඛම්මෙ චිත්තං පක්ඛන්දති. පසීදති. සන්තිට්ඨති. විමුච්චති, එතං සන්තන්ති පස්සතො.''
අං: නි: 5, තපුස්සගහපති සූත්‍රය, 514 පිට, බු: ජ: මු:

2. ''යො මෙ පංචකාමගුණා චෙතසො සම්ඵුට්ඨපුබ්බා අතීතා නිරුද්ධා විපරිණතා තත්‍ර මෙ අත්තරූපෙන අප්පමාදො සති චෙතසො ආරක්ඛො කරණීයො.''
සං: නි: 4, කාමගුණ සූත්‍රය, 204 පිට, බු: ජ: මු:



කරන්නේ ද මහණෙනි, මෙහි ලා තමහට වැඩ කැමති නුඹලා විසින් ද අප්‍රමාදී බව හා සිහිය යන සිතේ ආරක්ෂාව කටයුතුයයි වදාරති.

චූළදුක්ඛක්ඛන්ධ සූත්‍රයේ දී ද බුදුරජාණන් වහන්සේ මෙසේ වදාරති. ''මහානාමය, අනභිසම්බුද්ධ වූ බෝසත්වැ සිටි මා විසින් ද කාමයෝ ආශ්වාදයෙන් අල්ප වෙතියි ද දුක්බහුල වෙතියි ද උපායාස බහුල වෙතියි ද ඒ කාමයෙහි උපද්‍රව බහුලයයි ප්‍රඥාවෙන් මැනැවින් දක්නා ලද්දා වූ මම ද කාමයෙන් අන්‍යතර වූ අකුශලයෙන් අන්‍යතර වූ ප්‍රීති සුඛය අධිගම නො කෙළෙම් ද, එයි අන්‍යතර වූ ශාන්තතර ධ්‍යාන මාර්ගඵලාදියක් අධිගමය නො කළෙම් වේ ද එතෙක් මම කාමයට ආකර්ශනය නො වුනෙක්මියි ප්‍රතිඥා නො කළෙමි.''[1] යනුවෙනි. කාමසංඥාවන්ගෙන් අත් මිදෙමින් ප්‍රථම හා ද්විතීය ධ්‍යාන අවස්ථාවෙහි දී ප්‍රීතිය හා සුඛය අත්දැකිය හැකි පුද්ගලයාට කාමයෙහි ආකර්ශනය ජයගන්නා මාර්ගය වැඩිය හැකි ය.

මේ දේශනයන්ගෙන් අවධාරණය කරන්නේ බුදුරජාණන් වහන්සේ අනභිසම්බුද්ධ බෝසත් අවස්ථාවේ දී මාර්ගය වැඩීමෙහි ලා ගත් මග ම භික්ෂූන් වහන්සේලාට ද අනුගමනය කරන ලෙස ය. යම් යම් මොහොතක උපදින සිත් ඒ ඒ මොහොතේම විදර්ශනයට ලක් කිරීමෙන් අනිත්‍ය බව, දුක් බව, අනාත්ම බව, මෙනෙහි කිරීමෙන් ඡන්දරාගය විනයනය කළ යුතු ය. එන එන සිත්වලට ඔහේ නතුවෙමින් භවකර්ම ගොඩනැගෙන්නට හැරීම පිය උරුමය ඉවත ලැමකි. සමාහිත ශක්තියක් දියුණු කරගෙන, උපාදානස්කන්ධ ලෝකයේ අනිත්‍ය බව, දුක් බව, අනාත්ම බව නුවණින් දැකීම ම, එනම්: සතර සතිපට්ඨානය වැඩීම ම, විශුද්ධියට, හැඬීම් වැළපීම් ඉක්මවන්නට, පැවැත්මේ හා නැවැත්මේ හේතුඵල රටාව අධිමගය

1. මං: නි: 1, චූළදුක්ඛක්ඛන්ධ සූත්‍රය, 216 පිට, බු: ජ: මු:

කරන්නට, නිවන සාක්ෂාත් කරන්නට අවශ්‍ය ඒකායන මාර්ගයයි.

1. පුද්ගලයාගේ ඉන්ද්‍රිය හා අරමුණු සම්බන්ධවෙමින් සැකසෙන ක්‍රියාකාරීත්වය ''කාය'' නම් වේ.
2. ඒ අනුව මතුවන වින්දන ස්වභාවය ''වෙදනා'' නම් වේ.
3. ඒ වින්දන පිළිගන්නා ස්වභාවය ''චිත්ත'' නම් වේ.
4. ඒ චිත්ත ස්වභාවයට අනුරූපව අකුශල වූ නීවරණ උපාදාන ශක්තිය වැඩීම හෝ බෝධ්‍යංගාදී කුශලය වැඩෙන ස්වභාවය ''ධම්ම'' නම් වේ.

භවගාමී නැඹුරුව වෙනුවට මේ කාය, වේදනා, චිත්ත, ධම්ම යන මේ සතර භව නිරෝධයට උචිත ලෙස භාවිත කිරීම සතර සතිපට්ඨානයෙන් සිදුවන කාර්යය යි. සත්ත්වයාගේ විසුද්ධිය සිදුවන්නේ එවිට ය. (චිත්ත සංකිලෙසා සත්තා සංකිලිස්සන්ති චිත්ත වොදානා සත්තා විසුජ්ඣන්ති)



# 9

# පිය උරුමය කුමකට ද?

පිය උරුමයෙහි හැසිරීමේ අරමුණ දහම් මගෙහි ස්ථාවර වීම පිණිස වේ. ඒ ස්ථාවර භාවය තවදුරටත් දියුණු කරමින් නිර්වාණාවබෝධය පිරිපුන් කරනු පිණිස වේ. එබැවින් දහම් මග තහවුරු වනු පිණිස සපුරාලිය යුතු කරුණු කවරේදැයි හඳුනා ගැනීම බෙහෙවින් ප්‍රයෝජනවත් ය. කෝසම්බිය සූත්‍රය ඇසුරින් එය හඳුනා ගනිමු. භාග්‍යවතුන් වහන්සේ කොසඹෑ නුවර ඝෝෂිතාරාමයෙහි වැඩවසන සමයෙහි කොසඹෑ නුවර භික්ෂූන් වහන්සේලා කිසියම් කරුණක් මුල්කරගෙන දබර කරන්නටත් කලහ කරන්නටත් විවාද කරන්නටත් බැණ ගන්නටත් වූහ. මෙහි දී එක්තරා භික්ෂුවක් බුදුරජාණන් වහනසේ හමු වී කලහය පිළිබඳ තතු පැහැදිලි කළේය. බුදුරජාණන් වහන්සේ එක් භික්ෂුවක් අත පණිවුඩ යවා කොසඹෑ නුවර භික්ෂූන් කැඳවා කරුණු විමසා සත්‍යයයි දැන මෙසේ ප්‍රශ්න කළහ.

''නුඹලා කලහයට සැලසුම් ඇතිව, රණ්ඩු දබර ඇතිව, වාද විවාද සහිතව, එකිනෙකාට මුව සැතින් විදගනිමින් ක්‍රියා කරන කල්හි ඉදිරිපිටදීවත් (ආවී) රහසින්වත් (රහො) සබ්‍රහ්මචාරීන් වහන්සේලා කෙරෙහි මෛත්‍රීසහගත කායකර්ම ඇතිව මෛත්‍රීසහගත වාක් කර්ම ඇතිව, මෛත්‍රීසහගත මනඃකර්ම ඇතිව සිටියාහු ද?

මෙහිදී පිළිතුරු දෙන කොසඹෑ නුවර වැසි භික්ෂූහු ''නැත'' ස්වාමීනි යි පිළිතුරු දුන්හ.

එසේ නම් හිස් පුරුෂයිනි, මොනවා දනිමින්, මොනවා දකිමින් කලහකාරීව සිටින්නේ ද? හිස් පුරුෂයිනි, නුඹලාට මෙය දිගු කලක් අවැඩ පිණිස, දුක් පිණිස, පවතින්නේයි බුදුරජාණන් වහන්සේ වදාළහ.

අනතුරුව භික්ෂූන් වහන්සේලාගේ සමගි පැවැත්මටත්, පුහුදුන් බවින් නැගී සිටීමටත්, අවශ්‍ය ධර්මෝපදේශය හඳුන්වා දුන්හ. ඒ කරුණු කොයි කලත් සිහියට නගාගත යුතු උපදෙස් ය. සම්බුදු සසුනට යම් පිරිසක් භික්ෂු-භික්ෂුණී, උපාසක - උපාසිකා වශයෙන් ඇතුළු වෙත් නම් ඒ පිරිස ප්‍රතිපදාවෙහි නියුක්ත වීම සසුනේ දියුණුවයි. පිළිවෙතෙහි නියුක්ත වන පමණට සසුන් බර දැරිය හැකි වේ. පිළිවෙත ස්ථිරව ඇරඹීම යනු පුහුදුන් බව ඉක්මවීමයි. කොපමණකින් ඒ සුදුසුකම සැකසේ ද යන්න හඳුනාගත යුතු ය. ඉහත කී කලහකාරි භික්ෂූන් අරමුණු කරගෙන වදාළ කෝසම්බිය සූත්‍රයෙහි ඒ සුදුසුකම් කොපමණකින් සැකසේ ද යන්න අන්තර්ගත වී තිබේ.

## සාරාණීය ධර්ම

තවදුරටත් භික්ෂූන් අමතන බුදුරජාණන් වහන්සේ සමාන සබ්‍රහ්මචාරීන් වහන්සේලා අතර ප්‍රියභාවය පිණිස වූ (පියකරණා), ගෞරවය පිණිස වූ (ගරුකරණා), සංග්‍රහශීලීබව පිණිස වූ (සංගහාය), විවාද රහිත වීම පිණිස වූ (අවිවාදාය), සමගිය පිණිස වූ (සාමගගියා), ඒකීයත්වය පිණිස වූ (ඒකීයභාවාය) සාරාණීය ධර්ම (සිහිකටයුතු වූ ධර්ම) සයක් ඇති බව වදාළහ.

1. සබ්‍රහ්මචාරින් වහන්සේලා විෂයයෙහි හමුයෙහිත් නො හමුයෙහිත් කායික හැසිරීමෙන් මෛත්‍රීසහගත වීම. (මෙතතං කායකම්මං පච්චුපටඨිතං හොති සබ්‍රහ්මචාරීසු ආවීචෙව රහො ච)
2. සබ්‍රහ්මචාරීන් වහන්සේලා විෂයයෙහි හමුයෙහිත් නො හමුයෙහිත් වචන භාවිතයේ දී මෛත්‍රීසහගත වීම. (මෙත්තං වචීකම්මං පච්චුපට්ඨිතං හොති සබ්‍රහ්මචාරීසු ආවිචෙව රහො ච.)



3. .........මෛත්‍රීසහගත මනඃකර්මයෙන් යුක්ත වීම. (මෙත්තං මනොකම්මං පච්චුපට්ඨිතං හොති.....)
4. අඩු වශයෙන් පාත්‍ර පර්යාපන්න වූ හෝ දැහැමිව ලැබෙන යම් ආමිසයක් ඇත් ද එය සිල්වත් සබ්‍රහ්මචාරීන් වහන්සේලා හා සාධාරණ ලෙස පරිභෝග කිරීම. (සාධාරණභොගී.)
5. සබ්‍රහ්මචාරීන් වහන්සේලා හා හමුයෙහිත් නො හමුයෙහිත් ශීලයෙන් සමභාවයට පැමිණීම. (සීල සාමඤ්ඤගතො විහරති සබ්‍රහ්මචාරීහි ආවීචෙව රහො ච)
6. මැනවින් දුක් කෙළවර කිරීම පිණිස වූ යම් සම්‍යක් දෘෂ්ටියක් වෙයි නම් එබඳු දෘෂ්ටියෙන් සබ්‍රහ්මචාරීන් වහන්සේලා හමුයෙහිත් නො හමුයෙහිත් සමභාවයට පැමිණීම. (දිට්ඨි සාමඤ්ඤගතො විහරති සබ්‍රහ්මචාරීහි ආවීචෙව රහො ච.)

මේ කරුණු සය සබ්‍රහ්මචාරීන් වහන්සේලාගේ සමගිසහගත මනා පැවැත්ම පිණිස හේතුවෙයි. එයිනුදු සවැනිව දක්වෙන සමාන දෘෂ්ටි ඇතිව විසීම කූටාගාරයක කැණිමඬල මෙන් සෙසු කරුණු සියල්ලට ම වඩා අග්‍රයයි ද සෙසු සියලු කරුණු සංග්‍රහකොට පවතීයයි ද සෙසු අංග සියල්ල ගළපාලන සුලු යයි ද දක්වා තිබේ. (ඉමෙසං බො භික්ඛවෙ ඡන්නං සාරාණීයානං ධම්මානං එතං අග්ගං එතං සංගාහිකං එතං සංඝාතනිකං යදිදං යායං දිට්ඨි අරියා නියාාති තක්කරස්ස සම්මා දුක්ඛක්ඛයාය) ධර්ම විනය පිළිබඳ නොයෙක් මතවාද වලට වැටී භින්න වූ පිරිස් ඇතිවීම සසුනේ හානිය යි. පුහුදුනන් හා සාධාරණ වන දෘෂ්ටි සහිතව සිටින කල්හි ශාසන කාර්යය ආරම්භ නො වේ. එබැවින් මැනැවින් දුක් කෙළවර කිරීමට යොමු කරවන මාර්ග දෘෂ්ටියෙන් යුතු ආර්ය ශ්‍රාවකයා තුළ පවත්නා සප්තවිධ ප්‍රත්‍යාවේක්ෂා ඥානයන් හඳුනාගැනීම අවශ්‍ය ය. එම ඥානයන්ගෙන් සමන්විත වන භික්ෂුව සෝතාපත්තිඵල සමන්වාගත

වන බව කොසම්බිය සූත්‍රයෙහි සඳහන් වෙයි.

## සප්තවිධ ප්‍රත්‍යවේක්ෂාඥාන

01. මේ සසුනෙහි අරණ්‍යගත වූ හෝ වෘක්ෂමූලගත වූ හෝ ශූන්‍යාගාරගත වූ හෝ භික්ෂුවක් මම යම් කෙලෙස්සහගත ස්වභාවයකින් මැඩුණ සිත් ඇතිව ඇතිසැටිය නො දන්නේ නම් නොදක්නේ නම් එබඳු කෙලෙස් මතුවීමක් මා තුළ ඇත්දැයි සලකා බලන්නේ ය.

- කාමරාගයෙන් මැඩුණ සිත් ඇති වේ ද (කාමරාග පරියුට්ඨිතො හොති)
- ව්‍යාපාද හෙවත් අනුන් නසන සිත් ඇති වේ ද (ව්‍යාපාද පරියුට්ඨිතො හොති)
- කුශලයෙහි උදාසීන සිත් ඇති වේ ද (ථීනමිද්ධ පරියුට්ඨිතො හොති)
- අසමාහිත වූ කළ වරදෙහි පසුතැවිල්ලෙන් මැඩුණ සිත් ඇත්තේ වේ ද (උද්ධච්චකුක්කුච්චපරියුට්ඨිතො හොති)
- කුශලධර්මයෙහි සැකයෙන් මැඩුණ සිත් ඇති වේ ද (විචිකිච්ඡා පරියුට්ඨිතො හොති)
- මෙලොව ලබන සැපසම්පත් පදවි ඨානාන්තර පිළිබඳ චින්තාවෙහි නියුක්ත වේ ද (ඉධලොකචින්තාය පසුතො හොති)
- පරලොව වශයෙන් ලබන සැපසම්පත් ආදිය පිළිබඳ චින්තාවෙන් යුක්ත වේ ද (පරලොකචින්තාය පසුතො හොති)
- කලහයට කරුණු තනමින් කලහ සහිත වෙමින් විවාද සහිත වෙමින් එකිනෙකාට මුසැතින් විදගනිමින් හැසිරෙයි ද (භණ්ඩනජාතො කලහජාතො විවාදාපන්නො අඤ්ඤමඤ්ඤං මුඛසත්තීහි විතුදන්තා විහරති)

යම් භික්ෂුවක් සත්‍යය දැනීම දැකීම ආවරණය කරන එබඳු පෙළඹවීම් ප්‍රහීන නො වී මා සිත මැඩැගෙන නො පවතීයයි දන්නේ ද, සත්‍යාවබෝධය සඳහා මගේ මනස මැනැවින් පිහිටුවා ඇතැයි දන්නේ ද (සුප්පනිහිතං මෙ මානසං සච්චානං බොධාය) එය පුහුදුන් හා සාධාරණ නො වන ප්‍රථම ලෝකෝත්තර ඥානය යි.

02. විදර්ශනා සම්‍යක් දෘෂ්ටිය ඇසුරු කිරීමෙන් වැඩීමෙන් බහුලව වැඩීමෙන් මම චිත්ත සමථයක් කෙලෙස් සංසිඳුවීමක් ලබමියි (ලභාමි පච්චත්තං සමථං ලභාමි පච්චත්තං නිබ්බුතිං) යන්න තමා තුළින් දැනගන්නේ ද ඒ පුහුදුනන් හා සාධාරණ නො වන ආර්යයන් පිළිබඳ වූ දෙවන ලෝකෝත්තර ඥානයයි.

03. මම යම්බඳු වූ සෝතාපත්ති මාර්ග දෘෂ්ටියකින් සමන්විත වෙම් ද, මේ සසුනෙන් බැහැර මෙ බඳු දෘෂ්ටියකින් යුතු මහණෙකු හෝ බමුණෙකු හේ වෙත්දැයි ප්‍රත්‍යවේක්ෂණය කරන කල්හි එවැන්නකු නැතැයි දැනගනී ද ඒ පුහුදුනන් හා සාධාරණ නො වන ආර්යයන් පිළිබඳ වූ තෙ වැනි ලෝකෝත්තර ඥානය යි. (නත්ථි ඉතො බහිද්ධා අඤ්ඤො සමණො වා බ්‍රාහ්මණො වා තථාරූපාය දිට්ඨියාය සමන්නාගතො)

04. යම් සේ කුඩා දරුවකු ගිනි අඟුරක අත ගැටෙන කල්හි වහා අත ඉවතට ගන්නේ ද දිට්ඨිසම්පන්න පුද්ගලයා ද යම් ඇවතකට පත්වන කල්හි ශාස්තෘන් වහන්සේට හෝ විඥ සබ්‍රහ්මචාරීන් වහන්සේ නමකට හෝ විවරකොට දෙසා ආයති සංවරයට පැමිණීම ධර්මතාව යි. ආත්ම ප්‍රත්‍යවේක්ෂණය තුළින් මම ද එබඳු ධර්මතාවෙන් සමන්විත වෙමියි දැනගන්නේ ද ඒ පුහුදුනන් හා සාධාරණ නො වන සිව්වැනි ලෝකෝත්තර ඥානය යි. (කිඤ්චාපි තථාරූපිං ආපත්තිං ආපජ්ජති යථාරූපාය ආපත්තියා වුට්ඨානං පඤ්ඤායති, අථ ඛො නං ඛිප්පමෙව සත්ථරි වා විඤ්ඤූසු වා සබ්‍රහ්මචාරීසු දෙසෙති විවරති උත්තානී කරොති. දෙසෙත්වා විවරිත්වා උත්තානී කරිත්වා ආයතිං සංවරං ආපජ්ජති)

05. ළපටි වසුපැටවකු සිටින ගවදෙනක් තමන් ද තණ කමින් තම වසුපැටවාත් බලාගන්නා සේ සබ්‍රහ්මචාරීන් වහන්සේලාගෙන් විමසා කළයුතු කුඩුමහත් කටයුතු වේ නම් ඒවාත් කරමින් අධිසීල අධිචිත්ත අධිපඤ්ඤා වැඩීම පිළිබඳ තීව්‍ර අපේක්ෂා ඇතිව ක්‍රියා කරයි ද එය දිට්ඨිසම්පන්න පුද්ගලයාගේ ධර්මතාව යි. තමා ද එම ධර්මතාවෙන් යුතුයැයි දැනගන්නේ ද ඒ පුහුදුන් හා සාධාරණ නො වන පස්වැනි ආර්ය වූ ලෝකෝත්තර ඥානය යි. (අථබ්බාස්ස තිබ්බාපෙක්ඛො හොති අධිසීලක්ඛාය අධිචිත්තසික්ඛාය අධිපඤ්ඤාසික්ඛාය)

06. තථාගතයන් වහන්සේ විසින් ප්‍රවිදිත ධර්ම විනය දේශනා කරන කල්හි අර්ථ වශයෙන් මෙනෙහි කරමින් විවෘත්ත සිතින් යොමුකළ සවනින් ධර්මය ඇසීම දෘෂ්ටිසම්පන්න පුද්ගලයාගේ බලය යි. මම ද එවන් බලයකින් යුතු වෙමැ යි යම් භික්ෂුවක් දැනගන්නේ ද ඒ පුහුදුනන් හා සාධාරණ නො වන ආර්ය වූ ලෝකෝත්තර වූ සයවැනි ඥානයයි. (තථාගතප්පවෙදිතෙ ධම්ම විනයෙ දෙසියමානෙ අට්ඨිකත්වා මනසිකත්වා සබ්බචෙතසා සමන්නාහරිත්වා ඔහිතසොතො ධම්මං සුණාති)

07. තථාගතප්පවෙදිත ධර්ම විනය දේශනා කරන කල්හි අර්ථය දකියි ද, ධර්මය දකියි ද, ධම්මූපසංහිත ප්‍රමෝදයක් ලබයි ද එය දිට්ඨිසම්පන්න පුද්ගලයාගේ බලයක් වෙයි. මම ද එවන් බලයකින් යුතු වෙමි යි යම් භික්ෂුවක් දැනගන්නේ ද ඒ පුහුදුනන් හා සාධාරණ නො වන ආර්ය වූ ලෝකෝත්තර වූ සත්වැනි ඥානය යි. (තථාගතප්පවෙදිතෙ ධම්මවිනයෙ දෙසියමානෙ ලභති අත්ථවෙදං ලභති ධම්මවෙදං ලභති ධම්මූපසංහිතං පාමොජ්ජං)[1]

1. මඃ නිඃ 1, කෝසම්බිය සූත්‍රය, 752, 762 පිටු, බුඃ ජඃ මුඃ



මේ අංග සත යම් ආර්ය ශ්‍රාවකයෙකුට සම්පූර්ණ නම් සෝතාපත්ති ඵලසාක්ෂාත්කරණය සඳහා අවශ්‍ය අංග මැනැවින් සම්පූර්ණ කරන ලද්දේ වෙයි. මේ අංග සතින් සමන්විත ආර්ය ශ්‍රාවකයා සෝතාපත්ති ඵලයෙන් සමන්විත වූවකු වෙයි. (එවං සත්තංග සමන්නාගතො ඛො භික්ඛවෙ අරියසාවකො සොතාපත්ති ඵලසමන්නාගතො හොති)

කලහකාරී කොසඹෑ වැසි භික්ෂූන් අමතා බුදුරජාණන් වහන්සේ වදාළ මේ කරුණු ආරාමික ශික්ෂණයට පූර්විකාවක් වැනි ය. කෝසම්බිය සූත්‍රයෙහි අන්තර්ගත කරුණු සෙසු බුද්ධ වචනයන්ගෙන් ද පෝෂණය කරගත් කළ පිරිපුන් ආරාමික ශික්ෂණ වැඩ පිළිවෙළක් සකසා ගතහැකිය. ඒ තුළින් ගෘහස්ථ සමාජයට ද ආධ්‍යාත්මික මෙහෙවරක් සිදු කිරීමට භික්ෂූන් වහන්සේට හැකිවනු ඇත.

# 10

# පිය උරුමයෙහි රැකවරණය

පිය උරුමයෙහි රැකවරණය ලබන්නට නම් ත්‍රිශික්ෂාව වැඩිය යුතු ම ය. කාමයෙහි අපේක්ෂා නැතිව දිවිහිමියෙන් බඹසර විසිය හැක්කේ එවිට ය. කාමයෙහි අපේක්ෂා ඇතිව පැවිද්දෙහි රැඳී සිටීම භවදුක ම වර්ධනය කරගැනීමකි. වරක් භික්ෂූන් වහන්සේලා සාරිපුත්ත මහරහතන් වහන්සේගෙන් මෙසේ ප්‍රශ්න කළහ.

''ඇවැත් ශාරිපුත්‍රයන් වහන්ස, මේ සසුනෙහි දුෂ්කර වන්නේ කුමක් ද?''

**''ඇවැත්නි, සසුනෙහි පැවිද්ද දුෂ්කර ය.''** යනුවෙන් සැරියුත් හිමියෝ පිළිවදන් දුන්හ.

**''ඇවැත් ශාරිපුත්‍රයන් වහන්ස, පැවිද්දා විසින් කරන කටයුතු අතර දුෂ්කර වන්නේ කුමක් ද?''** අනතුරුව නැඟූ ප්‍රශ්නය විය.

**''ඇවැත්නි, පැවිද්දා විසින් ප්‍රතිපදාවෙහි අභිරතිය හෙවත් ඇල්ම දුෂ්කර ය.''** යනු පිළිතුර විය.

**''ඇවැත් ශරිපුත්‍රයන් වහන්ස, පිළිවෙතෙහි අභිරති ඇති පැවිද්දාට දුෂ්කර වන්නේ කුමක් ද?''** යන්න තෙවැනිව විමසූ ප්‍රශ්නය යි.

**''ඇවැත්නි, පිළිවෙතෙහි අභිරති ඇති පැවිද්දාට දුෂ්කර**



**වන්නේ ධම්මානුධම්ම පටිපත්තිය ය''** යනුවෙන් සැරියුත් හිමියෝ වදාළහ.

**''ඇවැත් ශාරිපුත්‍රයන් වහන්ස, ධම්මානුධම්ම පටිපන්න භික්ෂුවට අර්හත්භාවය උදෙසා කො පමණ කලක් ගත වේ ද''** යි අවසාන වශයෙන් ප්‍රශ්න කළහ.

මෙයට පිළිතුරු දෙන ශාරිපුත්‍ර හිමියෝ **''ඇවැත්නි වැඩි කල් නො වේ''** යයි වදාළහ.[1]

මේ සංවාදයෙන් පැහැදිලි වන කරුණ නම් සසුනෙහි අභිරතියක් නො මැති තැන ධම්මානුධම්ම පටිපත්ති පූරණය සිදු නොවන බැවින් පිය උරුමයෙහි රැකවරණය නො ලැබෙන බව ය. අභිරතියත් ධම්මානුධම්ම පටිපත්තියත් පූරණය වන්නේ නම් සසුන් අරමුණ හිස් වූවක් නො වේ.

වරක් අනුරුද්ධ මහරහතන් වහන්සේ මෙසේ වදාළහ. ''මේ ගංගා නදිය පෙරදිගට නිම්නව ගලා බසියි. මහජනකායත් උදලු කූඩ අරගෙන ඇවිත් මේ ගංගා නදිය පැළදිගට හරවමුයි කොතෙක් උත්සාහ කළත් වෙහෙසට පත් වීම විනා එය කළ නොහැක්කක් වෙයි. අන්න ඒ වගේ ඇවැත්නි, සතර සතිපට්ඨානය වඩන එය බහුලීකෘත කරන භික්ෂුවට රජෙක් හෝ රජු හා සම කෙනෙක් හෝ මිතුරෙක් හෝ හිතවතෙක් හෝ නෑයෙක් හෝ ලේ නෑයෙක් හෝ 'එම්බා පුරුෂය, මේ කසාවත් දරාගෙන පීඩා විඳින්නේ කුමක් හෙයින් ද? මුඩුකළ හිසින් යුතුව කබලක් රැගෙන හැසිරෙන්නේ කුමක් හෙයින් ද? එන්න. ගිහිබවට පත්ව භෝග සම්පත් අනුභව කරන්න. පිනුත් කරන්නැ'යි සම්පත් පවරා දෙන්නේ නමුත් මේ

---

1. සං: නි: 4, දුක්කර සූත්‍රය, 488 පිට, බු: ජ: මු:

සිව්සීවටන් වඩන භික්ෂුව ශික්ෂා ප්‍රතික්ෂේප කොට ගිහි බවට පත්වන්නේ ය යන්නක් සිදු නො වේ ම ය.''[1]

සිව්සීවටන්හි රැකවරණය එබඳු ය. එය වඩන බහුලීකෘත කරන භික්ෂුව විවේකයට නිම්න වූ මනසකින් යුක්ත වන බැවින් ගිහිබවට පත් වීමක් නො වේ. ආමිසය දායාදකොට ගෙන පැවිද්දෙහි රැඳී සිටීම පිය උරුමයෙහි රැකවරණය සහිත වීමක් නම් නො වේ. එසේ නමුත් මෙහි දී හත්ථිසාරිපුත්ත චිත්ත හිමියන් පිළිබඳ පුවතක් ඇසුරෙන් හඳුනාගත යුතු කරුණක් තිබේ.

වරක් බරණැස ඉසිපතන මිගදායට රැස්වුණ ස්ථවිර භික්ෂූන් වහන්සේලා අභිධර්ම කථායෙහි නියුක්තව සිටියහ. මේ අවස්ථාවෙහි හත්ථිසාරිපුත්ත චිත්ත හිමියෝ කථාවට බාධා කරමින් අතුරු කථා හෙළති. මෙහි දී මහාකොට්ඨිත හිමියෝ චිත්ත හිමියන් වළක්වමින් 'කථාව කෙළවර වනතුරු සිටින්න. අතුරු කථා උපදවන්නට එපා' යයි පැවසූහ. මේ අවස්ථාවෙහි චිත්ත හිමියන්ට සහාය දක්වන භික්ෂූහු 'මහාකොට්ඨිත ආයුෂ්මතුන් වහන්ස, හත්ථසාරිපුත්ත චිත්ත හිමියන් පිළිබඳව නො සතුට පළකරන්නට එපා. උන්වහන්සේ පණ්ඩිතයි. ස්ථවිර භික්ෂූන් හා අභිධර්ම කථා කරන්නට උන්වහන්සේ පොහොසත් වෙති'යි පැවසූහ.

අනුන්ගේ චිත්තාචාරය නො දන්නා (චෙතොපරියඤාණය නැති) අය විසින් තමන්වහන්සේ චිත්ත හිමියන් පිළිබඳව නො සතුට පළ කළේ ඇයි ද, යන්න නො දත හැකිය'' යි වදාරා තවදුරටත් කරුණු ගණනාවක් දක්වූහ.

- ඇවැත්නි, මේ ශාසනයේ ඇතැම් පුද්ගලයෙක් ශාස්තෘන් වහන්සේ හෝ අනෙක් ගුරු සබ්‍රහ්මචාරින් වහන්සේ නමක් හෝ ඇසුරෙහි සිටින තාක් බොහොම සංවරයි. අවනතයි.

1. සං: නි: 5 (2), සල්ලාගාර සූත්‍රය, 74 පිට, බු: ජ: මු:



උපශාන්තයි. ශාස්තෘන් වහන්සේ වෙතින් හෝ ආචාර්යයන් වහන්සේ වෙතින් හෝ බැහැර වන්නේ නම් භික්ෂූන් භික්ෂුණීන් උවසුවන් උවැසියන් රජුන් රජමහඇමතියන් අන්‍ය තීර්ථකයන් තීර්ථක ශ්‍රාවකයන් සමග එක්ව වාසය කරයි. ඉන්ද්‍රිය සංවරයක් නැතිව කතාබහට ඇලී වාසය කරන කල්හි සිත රාගයට යට වෙයි. රාගයෙන් මැඩුණ කල්හි ශික්ෂා අතහැර ගිහි බවට පෙරලෙයි. ගොයම කන ගවයෙකු රැහැනින් බඳින ලද්දේ නමුත් බැම්ම ලිහූ පසු නැවතත් ගොයමට බසින්නට ඉඩ ඇත්තා මෙනි.

- ඇවැත්නි, මේ සසුනෙහි ඇතැම් පුද්ගලයෙක් කාමයෙන් වෙන් වූ අකුශලයෙන් වෙන් වූ ප්‍රථමධ්‍යානයට එළඹ වෙසෙන නමුත් 'මම දැන් ප්‍රථමධ්‍යාන ලාභියෙක්මි'යි සිතා පෙර කී ලෙස පිරිස් හා සංසර්ගයෙන් යුතු වූයේ රාගයට පැමිණ ගිහිබවට වැටෙන්නට ඉඩ තිබේ. මහවැසි වැස හතර මං හන්දියක දූවිලි සේදී ගියත් මනුෂ්‍යයන් ගවයන් ගැවසෙන නිසා අව් සුළං නිසා තෙතමනය වියලී නැවත දූවිලි නො නැගේයයි කිව නො හැක්කා මෙනි.
- ඇවැත්නි, මේ සසුනෙහි ඇතැමෙක් විතක්ක විචාරයෙන් තොර දෙවන ධයානයට එළඹ වෙසෙන නමුත්, ''මම දැන් ද්විතීය ධ්‍යාන ලාභියෙක්මි'හි සිතා පිරිස් සංසර්ගයෙන් යුතු වූයේ ගිහි බවට පෙරළෙන්නට ඉඩ තිබේ. මහ වැස්සට උතුරා යන විලක සක් බෙලිකටු කැටකැබලිති ගසාගෙන ගියද මිනිසුන්ගේ සතුන්ගේ පරිභෝගයට පත්වන ඒ විලෙහි නැවත සිප්පිකටු කැටකැබිලිති ඇති නො වේ යයි කිව නො හැක්කා මෙනි.
- ඇවැත්නි, මේ සසුනෙහි ඇතැමෙක් නිප්පීතික තෘතිය ධයානයට එළඹ වෙසෙන නමුත් 'මම දැන් තෘතියි ධ්‍යාන ලාභියෙක්මි' යි සිතා පිරිස් සංසර්ගයෙන් යුතු වූයේ රාගයට වැටී ගිහි බවට පෙරළෙන්නට ඉඩ තිබේ. ප්‍රණීත ආහාර ගන්නා පුද්ගලයෙකුට නරක් වූ පෙර දින ආහාර රුචිවන්නේ නැති කල්හි 'දැන් මේ පුරුෂයාට ආහාර රුචියක් නැතැ'යි කියන්නේ නම් එය විය නොහැක්කකි. ප්‍රණීත භෝජනය අනුභව කළ පුරුෂයාට එහි ඕජස ඇති තාක් ආහාර රුචියක් නැත. යම් විටෙක ඕජාව නැති වේ ද එකල්හි නැවත ආහාර රුචිය ඇති වන්නාක් මෙනි.

- ඇවැත්නි මේ සසුනෙහි සුව දුක් නැති උපේක්ෂාවෙන් යුක්ත චතුර්ථ ධ්‍යානයට එළඹ වාසය කරන භික්ෂුව ද 'මම දූන් චතුර්ථ ධ්‍යාන ලාභියෙක්මි'යි සිතා පිරිස් සංසර්ගයෙන් යුතු වූයේ රාගයට වැටී ගිහි බවට පෙරළෙන්නට ඉඩ තිබේ. යම් සේ සුළං නො හමන කඳු නැම්මක ඇති නිසල දිය විලක රළ පහළ නො වේ යයි කිව නොහැකි නමුත් සෙසු දිසාවලින් සුළඟ හමා ඒ නම් රළ නැඟෙන්නට ඉඩ ඇත්තාක් මෙනි.
- ඇවැත්නි, මේ සස්නෙහි ඇතැමෙක් සියලු නිමිති මෙනෙහි නො කිරීමෙන් අනිමිත්ත චේතෝසමාධියට (විදර්ශනාවෙන් පෝෂිත සමාධියට) එළඹ වාසය කරන්නේ නමුත් 'මම දූන් අනිමිත්තචෙතොසමාධි ලාභියෙක්මි'යි සිතා පිරිස් සංසර්ගයෙන් යුතු වූයේ රාගයට වැටී ගිහි බවට පෙරළෙන්නට ඉඩ තිබේ. සිවුරඟ සේනා සමග මගට පිළිපන් රජෙක් හෝ මහ ඇමතියෙක් හෝ එක්තරා වන ලැහැබක රාත්‍රියක් ගත කිරීමට යොමු වෙයි. එහි සේනාවේ ශබ්ද ඇතුන්ගේ ශබ්ද, අසුන්ගේ ශබ්ද රථවල ශබ්ද සක් ශබ්ද බෙර ශබ්ද පැතිරෙන කල්හි රැහැයි ශබ්දය අතුරුදන් වෙයි. එසේ නමුත් ඒ වනයෙහි රැහැයි ශබ්දය නැවත පහළ නො වේ යයි කිව නොහැක්කා මෙනි.

හත්ථීසාරිපුත්ත චිත්ත හිමියෝ පසු කලෙක ශික්ෂා බැහැර කොට ගිහි බවට පැමිණියේ ය. උන්වහන්සේගේ හිතවත් භික්ෂූහු මහාකොට්ඨිත හිමියන් වෙත පැමිණ මෙසේ සැළකළහ. ''ආයුෂ්මත් මහාකොට්ඨිත තෙරුන් වහන්සේ විසින් හත්ථීසාරිපුත්ත චිත්ත තෙරුන් මේ මේ විහාර සමාපත්ති ලැබ සිටිය ද ශික්ෂා ප්‍රතික්ෂේප කොට ගිහි බවට පැමිණේයයි දූන සිටියා ද, නැති නම් දේවතාවරු මෙය දැනුම් දුන්නාහු ද' යනුවෙනි. ඇවැත්නි මේ බව මමත් දූන සිටියා වගේම දේවතාවෝත් එය මට



සැළකළහ යි වදාළහ.

අනතුරුව හත්ථීසාරිපුත්ත චිත්ත හිමියන්ගේ සහායක භික්ෂූහු බුදුරජාණන් වහන්සේ හමුවට ගොස් 'ස්වාමීනි, හත්ථීසාරිපුත්ත චිත්ත තෙමේ නොයෙක් විහාරසමාපත්තීන් ලබාගෙන සිටියත් ශික්ෂා බැහැරකොට ගිහිබවට පත් වී යයි දූන්වූහ. එහිදි බුදුරජාණන් වහන්සේ ''මහණෙනි, චිත්ත තෙමේ නොබෝ කලකින් නෛෂ්ක්‍රම්‍යයෙහි ගුණ සිහිපත් කරන්නේ ය'' යි වදාළහ. නොබෝ කලකින් නැවත පැවිදි බිමට පත් චිත්ත හිමියෝ අප්‍රමාදීව කටයුතු කිරීමෙන් අර්හත් ඵලයට පත්වූහ.[1]

මෙයින් පැහදිලි වන්නේ සසුන් පිළිවෙතට බැසගත් නමුත් ප්‍රමාදයන්ට පත්වීමට ඇති ඉඩකඩයි. අනෙක් අතට ශෛක්ෂ්‍ය භික්ෂුවක් ප්‍රමාදයට පත්ව උපැවිදි වුණත් නොබෝ කලෙකින් නිවැරදි වන බව ද මින් පෙනේ. සමාධි ප්‍රඥා වැඩීමක් නැතිව ආමිසය අරමුණු කරගෙන සිදුවන පැවිදිවීම් උපැවිදිවීම් නැවත පැවිදිවීම් චිත්ත හිමියන්ගේ සිද්ධියට සමකළ යුතු නො වේ. ඒ නිසා ශෛක්ෂ්‍ය භික්ෂුවගේ නො පිරිහීම පිණිස අවශ්‍ය කරුණු හඳුනාගත යුතු ය.

01. බාහිර කටයුතුවල ඇලීගැලී නො සිටියි. (න කම්මාරාමතා)
02. කථාබහට ම ඇලී නො සිටියි. (න භස්සාරාමතා)
03. නින්දට ඇලී ගැලී නො සිටියි. (න නිද්දාරාමතා)
04. පිරිසට ඇලී ගැලී නො සිටියි. (න සංගණිකාරාමතා)
05. දූනට ලබා ඇති විමුක්ත චිත්ත තත්ත්වයන් ප්‍රත්‍යවේක්ෂණය කරයි. (යථාවිමුත්තං චිත්තං පච්චවෙක්ඛති)[1]
06. නොයෙක් කටයුතු පිළිබඳ දක්ෂ බවට පැමිණි බොහෝ

1. අං: නි: 4, හත්ථිසාරිපුත්ත සූත්‍රය, 178 පිට, බු: ජ: මු:

කටයුතු ඇත්තෙක් නො වී පිළිසලන අත නො හරියි. (න රිඤ්චති පටිසල්ලානං) චිත්තසමථයෙහි යෙදෙයි. (යුඤ්ජති අජ්ඣත්තං චෙතොසමථං)

07. ස්වල්පමාත්‍ර ක්‍රියාවකින් දවස නො ඉක්මවා පිළිසලනෙහි යෙදෙයි. චිත්තසමථයෙහි යෙදෙයි.

08. අයෝග්‍ය ගිහි පැවිද්දන් සමග සම්බන්ධ පිළිසලන, චිත්තසමාධි අතහැර කාලය ගත නො කරයි.

09. කලින් ගම් වැද පසු වී පෙරළා නො එමින් (ගම්වැද සිටීමට වැඩි කාලයක් ගත නො කර) පිළිසලනෙහි චිත්තසමාධියෙහි නියුක්ත වෙයි.

10. නිකෙලෙස් සිතින් විහරණයට යෝග්‍ය වූ අප්පිච්ඡකථා, සන්තුට්ඨිකථා, පවිවෙකකථා, අසංසග්ගකථා, විරියාරම්භවකථා, සීලකතා, සමාධිකථා, පඤ්ඤාකථා, විමුත්තිකථා, විමුත්තිඤාණදස්සනකථා යන මේ කතා කැමති සේ නිදුකින් මහත් සේ ලබමින් පිළිසලන, චිත්තසමථය අත් නො හැර වාසය කරයි.[2]

මෙකී සුදුසුකම් සැකසී ඇත්නම් නිදුකින් නොබෝ කලකින් දහම් මග වැඩීයනු ඇත. ශෛක්‍ෂ්‍ය භික්‍ෂුවකගේ පිරිහීම යනු සපුරාම පුහුදුන් බවට වැටීමක් නො වේ. ප්‍රතිපදාව වැඩීමෙහි ප්‍රමාදයන්ට හසු වීමයි. ඒ ප්‍රමාදය ඇතැම් විට භව කීපයක් දක්වා පරිපූර්ණත්වය ප්‍රමාද කරනු විය හැකි ය. ඇතැම් විට ආයති සංවරයෙහි වහා පිහිටා මාර්ගය පූර්ණත්වයට පත් කරනු ද විය හැකි ය. මීට අදාළ කරුණු සාකච්ඡාවන උදකූපමපුග්ගල සූත්‍රය[3] තේරුම් ගැනීම මෙහි දී වැදගත් ය. උදකූපමාව අනුව පුද්ගලයෝ සත් දෙනෙකි.

1. අං: නි: 3, පඨමසෙඛ සූත්‍රය, 184 පිට, බු: ජ: මු:
2. අං: නි: 3, දුතියසේඛ සූත්‍රය, 186 පිට, බු: ජ: මු:
3. අං: නි: 4, උදකූපමපුග්ගල සූත්‍රය, 294 පිට, බු: ජ: මු:



1. මේ ලෝකයේ ඇතැම් පුද්ගල කෙනෙක් ජලයෙහි වරක් ගිලී දිගට ම ගිලී සිටින්නකු මෙන් ඒකාන්තයෙන් අයහපත් වූ අකුශලධර්මයෙන් සමන්වාගත වෙයි. (සකිං නිමුග්ගෝ නිමුග්ගොව හොති.) මේ ප්‍රතිපදාව ආරම්භ කර නැති පුද්ගලයා ය. (සද්ධර්මය ලොව විවෘත වී නොමැති නම් සිදුවන්නේ භවයෙහි ම ගිලී සිටීමට ය.)

2. ඇතැම් කෙනෙක් දියෙන් මතු වී නැවත ගිලුණු පුද්ගලයාට සමාන ය. එබඳු පුද්ගලයා සද්ධා හිරි ඔත්තප්ප වීරිය පඤ්ඤා යන පංචසේඛ ධර්ම මැනැවැයි කියා පිළිගැනීමෙන් යුක්ත වුණත් ඒ සේඛධර්ම නො පිහිටයි. නො වැඩෙයි. පිරිහීමට යයි. (නෙව තිට්ඨති නො වඩ්ඨති හායතෙව.) මේ මතු වී ගිලුන පුද්ගලයා ය. (උම්මුජ්ජිත්වා නිමුජ්ජති) මෙතෙක් සඳහන් කළ පළමු පුද්ගල දෙදෙනාට අයත් වන්නෝ වත්මනෙහි මෙන් ම කොයි කලත් බහුල වෙති.

3. තුන්වෙනි පුද්ගලයා මතු වී සිටින පුද්ගලයා ය. (උම්මුජ්ජිත්වා ඨිතො හොති) කුශලයෙහි පිහිටි ශ්‍රද්ධා හිරි ඔත්තප්ප වීරිය පඤ්ඤා යන පංච සේඛධර්ම යහපත් යයි පිළිගෙන ඉල්පී සිටියි. ඒවා නො පිරිහෙයි. එහෙත් නො වැඩෙයි. සිටියා ම වෙයි. (නෙව හායති, නො වඩ්ඨති, ඨිතා හොති)

4. සිව්වැනි පුද්ගලයා දියෙන් මතු වී වටපිට බලන පුද්ගලයා ය. (උම්මුජ්ජිත්වා විපස්සති විලොකෙති) එබඳු පුද්ගලයා කුශලයෙහි පිහිටි පංචසේඛ ධර්මයන් මැනැවැයි පිළිගනියි. කුශලයෙහි නියුක්ත

වෙමින් සක්කායදිට්ඨි විචිකිච්ඡා සීලබ්බතපරමාස යන සංයෝජන ක්‍ෂය කර ආපසු නො පෙරළෙන නියත සම්බෝධිපරායන සෝතාපන්නයකු වෙයි.

5. පස්වැනි පුද්ගලයා දියෙන් මතු වී ජලාශය තරණය කරන පුද්ගලයා ය. (උම්මුජ්ජිත්වා පතරති) එබඳු පුද්ගලයා කුශලයෙහි පිහිටි පංචසේඛ ධර්ම මැනැවැයි පිළිගෙන සෝතාපත්ති අවස්ථාව ඉක්මවා රාග දෝස මොහ තුනීකොට නැවත එක් වරක් මෙලොවට පැමිණ දුක් කෙළවර කරන පුද්ගලයා ය. (සකදාගාමි)

6. සයවැනි පුද්ගලයා දියෙන් මතු වී ප්‍රතිෂ්ඨාවකට පැමිණ සිටියි. (උම්මුජ්ජිත්වා පතිගාධප්පත්තො හොති) එබඳු පුද්ගලයා කුශලයෙහි පිහිටි පංච සේඛධර්ම මැනැවැයි පිළිගෙන පංච ඕරම්භාගීය සංයෝජන ක්‍ෂය කර සුද්ධාවාස බඹලොවින් පෙරළා නො එන සුලු එහි ම පිරිනිවෙන සුලු ස්වභාව ඇතිව ඕපපාතික වෙයි. (අනාගාමි)

7. සත්වැනි පුද්ගලයා දියෙන් මතු වී ජලාශය තරණය කළේ වෙයි. (උම්මුජ්ජිත්වා තිණ්ණො හොති.) එබඳු පුද්ගලයා පංච සේඛධර්ම මැනැවැයි පිළිගෙන ආශ්‍රවයන් ක්‍ෂය කර අනාශ්‍රව වූ චෙතොවිමුක්තියත් ප්‍රඥාවිමුක්තියත් දිටුදමියෙහි ම වෙසෙස් නුවණින් දැන සාක්‍ෂාත්කොට එයට එළඹ වාසය කරයි.

මේ පුද්ගලයින් සත්දෙනාගෙන් පළමුවැනි හා දෙවෙනි දෙදෙනාට සසුන් පිහිටක් නැත. එහෙත් අව ම වශයෙන් තුන්වෙනි පුද්ගලයාගේ තත්ත්වය හෝ සකසාගන්නේ නම් එතැන සසුන් පිහිට ඇත. වැඩීමක් නො සිදු වුවත් පිරිහීමක් නොමැති බැවිනි. පිරිහීමක්



නොවන්නේ සිහියෙන් ක්‍රියා කරන්නේ නම් පමණි. සසුන් දිවියක් අරඹන්නේ නම් සීලයෙහි පිහිටා සමාධි ප්‍රඥා වැඩීම ආරාමික ශික්‍ෂණයේ හා පිරිවෙන් ශික්‍ෂණයේ මූලික අංගය වියයුතු ම ය. කාමාච්ඡන්දාදී නීවරණයන්ට යට වූ ඉන් මැඩුණ සිත ඉතා අසරණ ය. එහි ඇත්තේ මොන පිය උරුමයක් ද? සක්‍රීය වන්නේ මාර අණසක ම ය. පුහුදුන් සිත නිරතුරු දුගතියට විවෘත ය. දුගතියට විවෘත කරගත් ජීවිතය කොතරම් අවාසනාවන්ත ද? අග්ගික්ඛන්ධොපම සූත්‍රය, ආදිත්තපරියාය සූත්‍රය පිණ්ඩොල්‍ය සූත්‍රය නිතර ප්‍රත්‍යවේක්‍ෂණය කළ යුතු ය.

සාරිපුත්ත හිමියන් දුක්කර සූත්‍රයේ දී පැවිද්ද දුෂ්කරයයි වදාළේ පැවිදි වෙස් ගැනීම දුෂ්කරය යන අදහසකින් නො වේ. පැවිද්දට සිත් ඇලවීම දුෂ්කරය යන අදහසිනි. ඒ ඇයි? බුදුරජාණන් වහන්සේ සගය්හ සූත්‍රයේ දී දේශනා කරන කරුණු වලින් මෙයට පිළිතුරු සපයා ගත හැකියි. දෙව් මිනිසුන් ඇලුම් කරන්නේ රූප ශබ්ද ගන්ධ රස පොට්ඨබ්බ ධම්ම යන අරමුණු වලට යි. සත්‍ය වශයෙන් තිබෙනවා කියා සිතන්නේ ද මේ රූප ශබ්දාදිය යි. සැපයයි කියා අරගන්නේ මේ අරමුණු ම ය. ප්‍රමුදිත වන්නේ ඒ අරමුණුවලින් ම ය. සැප යයි සම්මත කරගෙන ඇති ඒවා වෙනස් වෙනවිට නැතිවන විට දෙවිවරුත් මිනිස්සුත් දුකට පත් වෙති. පැවිද්දා ඉන්ද්‍රිය අරමුණු අනිත්‍ය වෙන කොට දුක් වෙන කෙනෙකු නො විය යුතු ය.

ආයුෂ්‍ම උතුමන් විසින් සැපයයි දක්වූයේ ඉන්ද්‍රිය අරමුණු ඇසුරෙන් ලබන වින්දනයන්ට ඇලී හෝ ගැටී හෝ උපාදානස්කන්ධ සිත් සැකසෙන්නට හැරීම නම් වූ සක්කායයෙහි වැළැක්වීම ම ය. නුවණැත්තවුන්ගේ මේ දර්ශනය ලෝක සම්මතය සමඟ සැසඳෙන්නේ නැත. අන්‍යයෝ යමක් සැපයයි කියත් ද ආර්යයෝ එය දුක යයි කියත්. අන්‍යයෝ යමක් දුක යයි කියත් ද ආර්යයෝ එය සැපයයි කියත්. දැකීමට දුෂ්කර වූ ධර්මය දකින්න. මෙහි ලා නුවණ නැත්නම් ඇත්තේ මුළාවයි. අවිද්‍යා නීවරණයෙන්

වැසුණු පුද්ගලයාට ධර්මය මහා අන්ධකාරයක් වෙයි. නුවණින් දක්නා සත්පුරුෂයාට මහා එළියක් මෙන් ධර්මය විවර වෙයි. ධර්මයෙහි අදක්ෂ වූ මෘගයෝ සමීපයෙහි වූ ද ඒ දහම නො දනිත්. (සන්තිකෙ න විජානන්ති - මගා ධම්මස්ස අකොවිදා) භවරාගයෙන් මැඩුණු භවප්‍රවාහය අනුව යන මාරධෙය නම් වූ සංසාරවට්ටයට හසු වූවන් විසින් මේ දහම සුව සේ අවබෝධ කළ නො හැකි ය. යම් නිර්වාණ පදයක් මනා නුවණින් දැන කෙලෙස් බැහැරකොට පිරිනිවෙද් ද ඒ නිවන අවබෝධ කරන්නට සුදුසු වන්නේ ආර්‍යයන්වහන්සේලා හැර අන් කවරෙක් ද?[1]

එහෙයින් සීලයෙහි පිහිටා සමාධි ප්‍රඥා වැඩීම කෙරෙහි යොමු වන්නේ නම් පැවිද්දෙහි අභිරතිය වඩමින් ධම්මානුධම්මපටිපත්තියෙහි නියුක්ත විය හැකි ය. අපායභය විමුක්ත මනසක් හෝ අවම වශයෙන් තහවුරු කරගත යුතු ම ය. කැටකුරුල්ලාට රැකවරණය ඇත්තේ ගිජුලිහිණියාගේ පියාපත් යට නොව කුඹුරේ පස්කැට අතර ය. භික්ෂුවගේ රැකවරණය ඇත්තේ මාර විෂයය තුළ නොව සතර සතිපට්ඨානයෙහි ය.

1. සං: නි: 4, සගය්හ සූත්‍රය, 256 පිට, බු: ජ: මු: